# ඉස්ලාම්

## 7 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



**සියලු ම පෙළපොත් ඉලෙක්ට්‍රොනික් මාධ්‍යයෙන් ලබා ගැනීමට www.edupub.gov.lk වෙබ් අඩවියට පිවිසෙන්න.**

## ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙනයනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමඟින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරුපරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමගම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

## නියාමනය හා අධීක්ෂණය

**පී.එන්. අයිලප්පෙරුම** — **අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්**
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## මෙහෙයවීම

**ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි** — **අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස්** (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## සම්බන්ධීකරණය

**එම්. ටී. අබ්දුර් රහ්මාන්** — **සහකාර කොමසාරිස්**
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**අයි. ඒ. එම්. අෆ්සාන්** — **සහකාර කොමසාරිස්**
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## ලේඛක මණ්ඩලය

**මෞලවි. එම්. එල්. එම්. යූසුෆ්** — **විදුහල්පති**
ටී, බී, ජායා සාහිරා විද්‍යාලය, කොළඹ - 02

**එම්. ආර්. එම්. මිහ්ලාර්** — **ජ්‍යෙෂ්ඨ උපගුරු**
අරෆා මහා විද්‍යාලය, උඩුගොඩ, රුක්ගහවිල

**එම්. ආර්. හිෂාම් මුහම්මද්** — **ජ්‍යෙෂ්ඨ උපගුරු**
අල් අස්හර් මධ්‍ය මහා විද්‍යාලය, තිහාරිය

**ඒ. එම්. නහීම්** — **ගුරු උපදේශක**
කලාප අධ්‍යාපන කාර්යාලය, කටුගස්තොට

**එම්. එෆ්. එම්. ෆාහිම්** — **ගුරු උපදේශක**
කලාප අධ්‍යාපන කාර්යාලය, මිනුවන්ගොඩ

**එස්. ඒ. එම්. රිස්වි** — **ජ්‍යෙෂ්ඨ උපගුරු**
අල් හික්මා විද්‍යාලය, කොළඹ - 12

**ජනාබ්. එම්. ටී. එම්. මුතහ්හර්** — **නියෝජ්‍ය විදුහල්පති**
අරෆා මධ්‍ය මහා විද්‍යාලය, වැලිගම

**ජනාබ්. එම්. එෆ්. එම්. නල්රි** — **විදුහල්පති**
අල් හම්රා මහා විද්‍යාලය, දර්ගා නගරය

**ජනාබ්. එස්. ඒ. සී. එම්. කරාමත්** — **විශ්‍රාමලත් විදුහල්පති**
එඩ්මන්ටන් නිවාස ක්‍රමය, කොළඹ - 06

## සංස්කාරක මණ්ඩලය

**ඒ. සී. අගාර් මුහම්මද්**
**නියෝජ්‍ය අධ්‍යක්‍ෂ**
නලීමියා ඉස්ලාමීය ආයතනය, බේරුවල

**මහාචාර්ය. එම්. එස්. එම්. ජලාල්දීන්**
**ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය**
ඉස්ලාම් අරාබි පීඨය,
අග්නිදිග විශ්වවිද්‍යාලය, ඔලුවිල්

**මෞලවි. එම්. අයි. එම්. නවිෆර්දීන්**
**සහකාර අධ්‍යක්‍ෂ**
මුස්ලිම් පාසල් සංවර්ධන ශාඛාව, ඉසුරුපාය

**ජේ. එම්. ජසාර්**
**කථිකාචාර්ය, ආගමික ඒකකය**
ජාතික අධ්‍යාපන ආයතය, මහරගම

**ඒ. අබ්දුස් සමදු**
**විදුහල්පති**
සාහිරා ජාතික පාසල, අනුරාධපුරය

**එම්. ටී. අබ්දුර් රහ්මාන්**
**සහකාර කොමසාරිස්**
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## භාෂා සංස්කාරක

**කේ.එල්. කමලාවතී**
**විශ්‍රාමලත් සිංහල ගුරු**
213, ඉහළතල්දුව, අවිස්සාවේල්ල.

## සෝදුපත් කියවීම

**එම්. එස්. එම්. රසූල්දීන්**
**ගුරු උපදේශක**
කලාප අධ්‍යාපන කාර්යාලය, ගම්පහ

## අවසාන ඇගයීම

**මෞලවි. එම්. එන්. එම්. ඉජ්ලාන්**
**අධ්‍යක්‍ෂ,** බාදිබියියා අරාබි විදුහල, කහටෝවිට,
**ප්‍රධාන කතීබ්,** කොළඹ මහ පල්ලිය

**මෞලවි. මිල්හාන් නයිමුද්දීන් (රෂාදි)**
**කථිකාචාර්ය (අරාබි )**
දරුන් නිස්වාන් කාන්තා අරාබි විදුහල
කොළඹ-10

## පරිගණක සහාය

**එස්. ඒ. අස්රිනා**
**පරිගණක අංශය**
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## පිටු සැකසුම හා පිටකවර නිර්මාණය

**ජනාබ්. එම්. ඩබ්ලිව්. ඒ. අසාර්**
**පරිගණක සහාය**
"මීල් පාර්වයි" මීඩියා මධ්‍යස්ථානය කොළඹ

# පටුන

1

# තව්හීද් රිසාලත්

## මආද්




ඊමාන් යන්නෙහි තේරුම විශ්වාසය යන්නයි. හැසිරීම පවතින්නේ විශ්වාස අනුව ය. මුඃමින් වූ අපගේ ජීවිතය පවතිනුයේ චර්යාව හා විශ්වාස අනුව ය. එදිනෙදා ජීවිතයේ අප යම් යම් ක්‍රියා කරන්නේත් තවත් ඒවා වළක්වා ගන්නේත් විශ්වාසය මත පිහිටා ය.

ආහාර ගන්නා නිසා බඩගිනි පහවේ යැයි, අපි විශ්වාස කරමු. ඒ නිසා බඩගිනි වූ විට ආහාර වර්ග මිලට ගෙන හා පිස ගෙන කමු. ජලය පානය කළ විට පිපාසය සංසිඳේ යැයි විශ්වාස කරමු. ඒ නිසා ප්‍රයෝජනවත් පාන වන පලතුරු යුෂ, තේ වතුර, සිසිල් බීම වැනි දියරමය ආහාර වර්ග පානය කොට පිපාසය සංසිඳවා ගනිමු.

ගොවීන් ගැන සලකා බලන්න. බීජ වැපිරීමෙන් ධාන්‍ය ලැබෙන බව ඔවුහු විශ්වාස කරති. එනිසා ගොවියෝ වී වපුරති; පසුව රන්වන් පාට ගොයම් කපා අස්වැන්න ලබා ගනිති.

වෙහෙස මහන්සි වී ඉගෙන විභාගය ලිවීමෙන් එය සමත් විය හැකි ය යන්න අපගේ විශ්වාසයයි. ඒ නිසා විභාගය ලිවීමට පෙර දැඩි උත්සාහයක යෙදී ඉගෙන ගෙන විභාග ලියමු.

කාර්යයන් කිරීමට මෙන් ම කාර්යයන් කිරීමෙන් වැළකී සිටීමටත් පදනම් වන්නේ විශ්වාසයයි. ගින්දරට දැවෙයි, යන විශ්වාසය නිසා ගින්න ස්පර්ශ කිරීමෙන් අපි වැළකී සිටිමු. වස පානයෙන් මරණය අත්වේ ය, යන විශ්වාසය නිසා එය පානය කිරීමෙන් වැළකී සිටිමු.

මේ අන්දමින් ම මුස්ලිම් වන අපට විශ්වාස පවතී. ඒවා විශ්වාස කිරීම ඊමාන් යැයි හැඳින්වේ. අප විශ්වාසවන්තයින් හෙවත් මුඃමින්වරු යැයි අමතනු ලබන්නේ ඒ නිසා ය.

**ඊමාන් ආකාර දෙකකි.**

1. ඊමාන් මුජ්මල් (කෙටි විශ්වාසය)
2. ඊමාන් මුෆස්සල් (දීර්ඝ විශ්වාසය)

لَاإِلٰهَ إِلاَّ اللّٰه مُحَمَّدٌ رَّسُوْلُ اللّٰهِ යන කලිමාවේ තේරුම වටහා ගෙන සිතෙන් දැඩි ව විශ්වාස කොට මුවෙන් උච්චාරණය කිරීමෙන් ඉස්ලාමයට පිවිසෙන්නෙමු.

මේ කලිමාවේ තේරුම "නැමදුමට සුදුස්සා අල්ලාහ් හැර අන් කිසිවකු නො වේ, මුහම්මද් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන් අල්ලාහ්ගේ දූතයාණන් " යන්නයි.

මෙසේ විශ්වාස කිරීම ඊමාන් මුජ්මල් (කෙටි විශ්වාසය) නමින් හැඳින් වේ. දෙවන වර්ගයේ ඊමාන්හි අංශ හයක් අඩංගු ය.

آمَنْتُ بِاللهِ وَمَلاَئِكَتِهِ وَكُتُبِهِ وَرُسُلِهِ وَالْيَوْمِ الْآخِرِ
وَالْقَدْرِ خَيْرِهِ وَشَرِّهِ مِنَ اللهِ تَعَالَى

"මම අල්ලාහ් ගැන ද, ඔහුගේ මලාඉකාවරුන් ගැන ද, ඔහුගේ ආගම් ගැන ද, ඔහුගේ දූතයන් ගැන ද, විශ්වාස කළෙමි. තව ද පරලොව දිනයක් ඇතැයි කියා ද විශ්වාස කළෙමි. තව ද හොඳ නරක සියල්ල සිදුවන්නේ අල්ලාහ්ගේ කැමැත්ත පරිදි (තක්දීර් අනුවය) බව ද විශ්වාස කළෙමි."

මෙසේ විස්තරාත්මක ව විශ්වාස කිරීම "ඊමාන් මුෆස්සල්" (දීර්ඝ විශ්වාසය) නම් වේ. ඉස්ලාමීය විද්වතුන් ඉහත සඳහන් අංග හය කොටස් තුනකට බෙදා ඇත.

එම කොටස් තුන නම්:

1. තව්හීද් - ඒකීයත්වය
2. රිසාලත් - දූත බව
3. මආද් - පරලොව දිවිය හා සම්බන්ධ ඒවා

## 1. තව්හීද්

අල්ලාහ් සහ තක්දීර් සම්බන්ධ විශ්වාසය තව්හීද් (ඒකීයත්වය) යන පළමු කොටසට ඇතුළත් ය. අල්ලාහ් ඒකීය වන්නේ ය. ඔහුට සමාන කිසිවක් නැත. ඔහු සියල්ල දත් අයකි. සර්ව බලධාරියා වූ ඔහුගේ කැමැත්ත පරිදි සියල්ල සිදුවන්නේ ය, යන විශ්වාසය ඇතුළත් කොටස ඒකීයත්වය යැයි හැඳින්වේ.

## 2. රිසාලත්

රිසාලත් (දූත බව) යන කොටසෙහි නබිවරුන්, ආගම්, මලාඉකාවරුන්, පිළිබඳ විශ්වාස අන්තර්ගත ය. මිනිසුන්ට සෘජු මාර්ගයේ ජීවත් වීමට සහ සෘජු මාර්ගය පෙන්වා දීමට අල්ලාහ් විසින් යවනු ලැබූ දූතයෝ නබිවරු ය. මොවුන් අතරින් විශේෂ වූ අය රසූල්වරු යැයි හඳුන්වනු ලබති.

එක් එක් සමාජයන්ට නබිවරු යවනු ලැබූ හ. ඔවුනතරින් තෝරා ගත් පිරිසකට අල්ලාහ් ආගම් ද 'සුහුෆු' ද ලබා දුන්නේ ය. නබිවරුන් අතරින් අවසාන නබිවරයා මුහම්මද් සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා ය. එතුමාට අල්ලාහ් විසින් ලබා දුන් අවසාන ආගම අල් කුර්ආනය වන්නේ ය. අල්ලාහ් නබිවරුන්ට ආගම් හා උපදේශ ලබා දුන්නේ ජිබ්රීල් අලයිහිස්සලාම් නැමැති මලක්වරයා මගිනි. තව ද ඔහුගේ අණ පරිදි ක්‍රියා කරන අපරිමිත සංඛ්‍යාවක් මලාඉකාවරු සිටිති. මෙවැනි විශ්වාස ඇතුළත් කොටස රිසාලත් යනුවෙන් හැඳින් වේ.

## 3. මආද්

මතු දිවිය පිළිබඳ අංග ඇතුළත් කරුණු මආද් යන කොටසට ඇතුළත් ය. මරණයෙන් මතු කබ්රයේ ජීවිතයක් ඇත. මෙලොව ජීවිතය අවසන් වූ විට මතු ජීවිතය ආරම්භ වේ. එහි දී මිනිසුන්ගේ මෙලොව ක්‍රියාකාරකම් ගැන විමසනු ලබන්නේ ය. වැඩියෙන් යහක්‍රියාවල යෙදුණු අයට ස්වර්ගය ද වැඩිපුර පාප ක්‍රියාවල යෙදුණු අයට නිරය ද ලබා දේ.

ඊමානයේ සියලු අංග අප වටහා ගෙන විශ්වාස කළ යුතු ය. එසේ විශ්වාස කිරීම "ඊමාන් ඉක්තියාරි" නම් වේ. මෙවැනි ඊමාන් අපගේ ජීවය පොළඹවන ශක්තිය ලබා දෙයි. මුඃමින්වරුන් වන අප ඊමාන් කෙරෙහි දැඩි ව බැඳෙන විට අප අතර ධෛර්යය, වීරත්වය, උත්සාහය, කැපවීම, දැඩි ව වෙහෙස වීම වැනි ගුණාංග ඇති වේ. කම්මැලිකම, බියගුළු කම, ආත්මාර්ථය, වැනි ගුණාංග නැති වන්නේ ය.

අප ද ඒ අයුරින් ඊමාන් කොට සක්‍රීය හා ඉස්ලාමීය හැඟීම් ඇති අය ලෙස ජීවත් වෙමු. පරලොව ජයගෙන ස්වර්ගය හිමි කර ගනිමු.

ඊමාන් අංග අවබෝධයෙන් විශ්වාස කරමු. ඊමාන් පරම්පරාවෙන් ලැබෙන්නක් නො වේ. බුද්ධියෙන් ලැබෙන්නක් ද නො වේ. එය අල්ලාහ් හා නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන් අල් කුර්ආනය හා සුන්නාවේ පහදන ආකාරයට විය යුතු යි.

## අභ්‍යාසය

හරි වැරදි කියන්න.

1. ඊමාන් යන්නෙහි තේරුම විශ්වාසය යන්නයි. ( )
2. ඊමාන් මුජ්මල් යනු විස්තරාත්මක ව ඊමාන් කිරීමයි. ( )
3. ආගම් පිළිබඳ විශ්වාසය තව්හීද් යන කොටසට අයත් වේ. ( )
4. අවසාන නබිවරයා නබි මුහම්මද් සල්ලල්ලාහු අලයිහි වසල්ලම් ය. ( )

කෙටි උත්තර සපයන්න

1. විශ්වාසය හේතුවෙන් වළක්වා ගන්නා ක්‍රියා දෙකක් සඳහන් කරන්න.
2. ඊමාන් මුෆස්සල් යන්නෙහි තේරුම කුමක් ද?
3. ඉලාහ් යන්නෙහි තේරුම කුමක් ද?
4. මලාඉකාවරු පිළිබඳ විශ්වාසය ඊමානයේ කුමන කොටසේ අඩංගු ද ?
5. ඊමාන් ඉක්තියාරි මගින් මුඃමින් තුළ ඇතිවන ගුණාංග තුනක් සඳහන් කරන්න.

# 2

# අල්ලාහ් නැමදුමට සුදුස්සා ය

අල්ලාහ් "කුන්" (ඇතිවනු) යන වචනයෙන් මෙලොව මැව්වේ ය. අනතුරු ව අල්ලාහ් මිනිසුන් හා ජින්වරුන් මැව්වේ ඔහු නැමදුම සඳහා ය.

මිනිසුන්ගේ ස්වභාවය දැන සිටි මලාඉකාවරු "අපරාධකොට ලේ හැලීමට සලස්වන්නන් ද ඔබ මවන්නේ? අපි ඔබට ප්‍රශංසා කරන අය වෙමු" යැයි අල්ලාහ් සමඟ පැවැත් වූ දීර්ඝ සාකච්ඡාවක් සූරතුල් බකරාවේ 30වන වැකියෙන් ඇරඹෙයි.

මිනිසා මැවූ අල්ලාහ් තමාට පමණක් නැමදිය යුතු, යැයි මිනිසාට අණ කළේ ය.

"මිනිසුනි, ඔබ, ඔබ හා ඔබට කලින් සිටි අය මැවූ ඔබගේ ම දෙවියන් නමදින්න. එවිට ඔබ දේවභක්තිය හා තක්වා පාරිශුද්ධතාව ඇති අයකු වන්නේ ය." (2 : 21)

එහෙත් මිනිසා මෙය අමතක කොට තම සීමිත දැනුමට අදාළ පරිදි අල්ලාහ් මැවූ මැවීම්වල ඇති විශේෂ ලක්ෂණ දෙස බලා ඒවා දෙවියන් යැයි විශ්වාස කොට නමදින්නට පෙළඹෙන්නේ ය.



මෙසේ අල්ලාහ් හැර මනඃකල්පිත තවත් දෙවියකු නැමදීම "ෂිර්ක්" වේ. අල්ලාහ් මෙම පාපයට කිසිවෙකුට සමාව නොදෙන්නේ ය. එනමුත් ෂිර්ක් වූ දේ කිරීම පුරාණයේ පටන් ම සිදුවෙමින් පවතී. එය මුළුමනින් ම වැරදි කටයුත්තකි.

"නැමදුම සඳහා සුදුසු එකම දෙවියා අල්ලාහ් හැර අන් කිසිවෙක් නොවේ. මහා රජය ඔහු ය. ඉතා පාරිශුද්ධයා ඔහුය. ශාන්තිය ලබා දෙන්නාත්, රැකවල් දෙන්නාත්, සුරකින්නාත්, (සියල්ල ම) අභිබවන්නාත්, පාලනය කරන්නාත්, ප්‍රශංසාවල හිමිකරුත් ඔහු ය. ඔවුන් සම කරන සියල්ලට වඩා ඔහු ඉතා පාරිශුද්ධ ය." (59 : 23)

"අහස හා පොළොව යන්නෙ හි අල්ලාහ් හැර වෙනත් දෙවියන් සිටියේ නම් සැබවින් ම ඒ දෙක විනාශ වී යන්නට ඇත." (21 : 22) යැයි අල් කුර්ආනය දැනුම්වත් කරයි.

නැමදුමට සුදුස්සා අල්ලාහ් පමණි. ඔහු ඒකයා ය. කිසිවකුගේ අවශ්‍යතා නැති අයකි. ඔහුට සමාන ව කිසිවක් ගෙන ආ නොහැක. විශ්වය හා එහි අන්තර්ගත පණ ඇති හා නැති සියල්ල මැව්වේ ඔහු ය. ඔහුට නොදැනුවත් ව ගසක කොළයක් හෝ වැටෙන්නේ නැත. රහස්‍ය හා රහස්‍ය නොවන සියල්ල දන්නේ ඔහු ය. ඔහු දයාවන්තයා ය; අසමසම ය; අපරිමිත කරුණාවන්තයා ය; ඔහු සියල්ල ඉක්මවූ දැනුම් ඇත්තෙකි. එනිසා අප නැමදිය යුත්තේ ඔහුට ය.

"නබිවරයාණෙනි, පවසන්න. අල්ලාහ් ඒකයා ය. ඔහු අවශ්‍යතා කිසිවක් නැති අයකි. ඔහු කිසිවකු විසින් වැදුවේ හෝ ඔහු විසින් කිසිවකු වැදුවේ හෝ නැත. තව ද ඔහු මෙන් කිසිවකු හෝ කිසිදෙයක් හෝ නොමැති ය."
(112:1-4)

අල්ලාහ්ට නැමදීම යනු සමහර ක්‍රියාවන්හි යෙදීම පමණක් නො වේ. ජීවිතය පුරා ම ඔහු කී ආකාරයට ඔහු අණ කළ දෑ පිළිපැද වැළැක්වූ දේවලින් වැළකී ජීවත් වීම ය. අල්ලාහ් මිනිසුන් යහමග යැවීම සඳහා මිනිසුන් අතරින් නබි මුහම්මද් සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා තෝරා ගත් බව අපි දනිමු. ඒ නිසා වක්තෘන් වූ එතුමා පෙන්වා දුන් මග අනුව අපගේ මුළු ජීවිතය ම සකස් කර ගත යුතු ය. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා අණ කළ දෑ පිළිගෙන කටයුතු කරන අතර එතුමන් වැළැක්වූ දේවලින් මුළුමනින් ම වැළකී කටයුතු කිරීම අපගේ යුතුකම වේ.

නබි තුමා මෙන් ම පෙර සිටි නබිවරු ද අල්ලාහ් පමණක් නමදින ලෙස ජනයාට දේශනා කළහ. අල්ලාහ් පමණක් නමදින ලෙස ජනයාට පැවසූ ආදම් අලයිහිස්සලාම්, නූහ් අලයිහිස්සලාම්, ඉබ්රාහීම් අලයිහිස්සලාම්, මූසා අලයිහිස්සලාම්, යන නබිවරුන්ගේ ඉතිහාසය අල් කුර්ආනයේ පැහැදිලි ව පෙන්වා දී ඇත.

"ඔබට පෙර අප යවා තැබූ දූතවරුන්ට සැබවින් මා හැර වෙනත් දූතයකු නැත. ඒ නිසා ඔබ මා නමදින්න" යැයි වහී දැනුම් දුන්නෙමු. (21 : 25)

නැමදීමට සුදුස්සා යන්නෙහි අර්ථය, උදවු පැතීමට සුදුස්සා ඔහු ය යන්න ය. ඔහු මිනිසුන්ගෙන් බොහෝ දුරින් නැත. තැරැවුකරුවන් මාර්ගයෙන් ඔහුට ළඟා වීම ද අවශ්‍ය නො වේ. ඔහු මිනිසුන්ට ඉතා ම සමීපයෙන් සිටී. මිනිසුන්ගේ අවශ්‍යතා ඉටුකර දෙන්නේ ද ඔහු ය. ඒ නිසා උදවු පැතිය යුත්තේ ඔහුගෙන් ම ය.

"අපි ඔබ ම නමදිමු; ඔබගෙන් ම උදවු පතමු." යැයි දිනපතා සලාතයේ දී පැවසීම පමණක් නො සෑහේ. අපගේ සියලු අවශ්‍යතා ඉදිරිපත් කළ යුත්තේ අල්ලාහ්ට ය. ඔහු මවකට වඩා තම ගැත්තන්ට කාරුණික ය. තුන් කල් දත් ඔහු තම ගැත්තන්ගේ අවශ්‍යතා ඉටු කරන්නේ ය. එසේ ඉටු නො කළ ද ඔහුගෙන් අප උදවු පැතීම නිසා ආනිශංස ලබා දෙන්නේ ය.

## අල්ලාහ්ගේ ගැත්තෙකු ලෙසින් ජීවත්වීමේ මාර්ග කිහිපයක්

1. අල්ලාහ් තමාට "මිනිසුන් යටහත් පහත් ව ක්‍රියා කළ යුතු" යන්න ප්‍රිය කරයි, යැයි දැනගන්න.
2. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ ජීවන ආදර්ශ තම ජීවිතයේ අනුගමනය කරන්න.
3. උඩඟුකම ඔබ විනාශ කරයි. එම නිසා එයින් සම්පූර්ණයෙන් මිදෙන්න.
4. සියල්ල අල්ලාහ් වෙත යොමු කරන්න. ඔහුගෙන් ම උදවු පතන්න.

## අභ්‍යාසය

1. අල්ලාහ්ගේ ගුණාංග පහක් සඳහන් කරන්න.
2. 'අප අල්ලාහ්ගෙන් උදවු පැතිය යුතු' ය යන්නට හේතු මොනවා ද?
3. 'අල්ලාහ් තුන් කල් ම දත් අයෙකි' යන්නෙන් ඔබ වටහා ගත්තේ කුමක් ද?
4. අල්ලාහ්ගේ ගැත්තෙකු වීමට නම් ආඩම්බරකම හා උඩඟුකම නොමැති විය යුතු ය, ඔබ මෙය පිළිගන්නෙහි ද? හේතු දක්වන්න.
5. 'නැමදුමට සුදුස්සා අල්ලාහ් පමණි' යන්නට අල් කුර්ආනයෙන් සාධක දෙකක් ඉදිරිපත් කරන්න.

# 3

# අල්ලාහ්ගේ ගුණාංග
## (صِفَاتُ اللهِ)

ඉස්ලාමයේ මූලික විශ්වාස හා සිද්ධාන්ත අතර අල්ලාහ් පිළිබඳ විශ්වාසය ප්‍රධාන වේ. එම නිසා අල්ලාහ් පිළිබඳ ඉතා පැහැදිලි ප්‍රතිපත්තියක් ඉස්ලාම් ලබා දී ඇත.

අල්ලාහ් ඒකයා ය. මෙලොව හා එහි ඇති සියලු ම වස්තු මැව්වේ ඔහු ය. මැවූ සියල්ල පරිපාලනය කරන්නෙත් ඔහු ය. මෙලොව සිදු වන සියලු දේ පාලනය කරන්නේ ද ඔහු ය. ස්තුති කළ යුත්තේත් ප්‍රශංසාවට සුදුස්සා වනුයේත් ඔහු පමණි.

සර්ව බලධාරි ඔහුගේ අණපනත් නැමදීමටත් අනුගමනය කිරීමටත් හැකි අණ පනත් වන්නේ ය. ඒවා ප්‍රතික්ෂේප කිරීමට හෝ ඒවාට වෙනස් කම් කිරීමට හෝ නොහැකි ය. මෙසේ ඉස්ලාම් අල්ලාහ් පිළිබඳ ප්‍රතිපත්තිය ඉදිරිපත් කරයි.

"සිෆාතුල්ලාහ්" යන අල්ලාහ්ගේ ගුණාංග ගැන දැනගැනීමෙන් මෙම විශ්වාසය තව දුරටත් ස්ථිර කර ගත හැකි ය.

අල්ලාහ්ගේ ප්‍රාණවත් සම භාවය "සිෆාතුල්ලාහ්" යන අල්ලාහ්ගේ ගුණාංග මගින් දැක්වේ.

### අල්ලාහ්ගේ ගුණාංග වර්ග තුනකි.

### 1. වාජිබාත්

වාජිබාත් යනු අල්ලාහ්ට අනිවාර්යයෙන් ම ඇති ගුණාංග වේ. මෙවැනි ගුණාංග 20ක් හඳුන්වා ඇත.

### 2. මුස්තහීලාත්

අල්ලාහ්ට තිබිය යුතු ඉහත ගුණාංගවලට ප්‍රතිවිරුද්ධ ගුණාංග මුස්තහීලාත් නම් වේ. එනම් අල්ලාහ්ට කිසි විටෙකත් නොමැති ගුණාංග මුස්තහීලාත් මගින් පෙන්නුම් කෙරේ.

## අල්ලාහ්ට වාජිබ් වූ හා මුස්තහීල් වූ සිෆත් පහත අයුරින් සැසඳිය හැකි ය.

### වාජිබ් වූ සිෆත්

**(අල්ලාහ් වෙත අනිවාර්යයෙන් තිබිය යුතු ගුණාංග)**

| අල් වාජිබාත් | الوَاجِبَاتُ |
|---|---|
| 1. තිබීම | ١ – وُجُوْدٌ |
| 2. ආරම්භයක් නොමැතිකම | ٢ – قِدَمٌ |
| 3. ස්ථිර පැවැත්ම | ٣ – بَقَاءٌ |
| 4. මැවුම්වලින් වෙනස් වීම | ٤ – مُخَالَفَةٌ لِلْحَوَادِثِ |
| 5. ස්වාධීන පැවැත්ම | ٥ – قِيَامُهُ بِنَفْسِهِ |
| 6. ඒකයා වීම | ٦ – وَحْدَانِيَّةٌ |
| 7. ප්‍රාණය | ٧ – حَيَاةٌ |
| 8. ඥානය | ٨ – عِلْمٌ |
| 9. කැමැත්ත | ٩ – إِرَادَةٌ |
| 10. ශක්ති | ١٠ – قُدْرَةٌ |
| 11. සවන්දීම | ١١ – سَمْعٌ |
| 12. පෙනීම | ١٢ – بَصَرٌ |

| | |
|---|---|
| 13. කථනය | ١٣ – كَلَامٌ |
| 14. ප්‍රාණය ඇත්තකු වීම | ١٤ – حَيٌّ |
| 15. දැනුමැත්තකු වීම | ١٥ – عَالِمٌ |
| 16. අධිෂ්ඨානවන්තයකු වීම | ١٦ – مُرِيْدٌ |
| 17. ශක්තිවන්තයකු වීම | ١٧ – قَادِرٌ |
| 18. සවන් දෙන්නකු වීම | ١٨ – سَمِيْعٌ |
| 19. දකින අයකු වීම | ١٩ – بَصِيْرٌ |
| 20. කතා කරන්නකු වීම | ٢٠ – مُتَكَلِّمٌ |

## මුස්තහීලාත් වූ සිෆත්

**(අල්ලාහ්ට කිසි විටෙකත් නොමැති ගුණාංග)**

| මුස්තහීලාත් | المُسْتَحِيْلَاتُ |
|---|---|
| 1. නොතිබීම | ١ – عَدَمٌ |
| 2. අලුතින් ඇතිවීම | ٢ – حُدُوْثٌ |
| 3. විනාශ වීම | ٣ – فَنَاءٌ |
| 4. මැවුම්වලට සමාන වීම | ٤ – مُمَاثَلَةٌ لِلْحَوَادِثِ |

| | |
|---|---|
| 5. වෙනත් දෙයක් මත පැවතීම | ٥– القِيَامُ بِالْغَيْرِ |
| 6. බොහෝ දෙනකු වීම | ٦– التَّعَدُّدُ |
| 7. මරණය | ٧– مَوْتٌ |
| 8. අඥානවන්තකම | ٨– جَهْل |
| 9. බලකරනු ලැබීම | ٩– كَرَاهَةٌ |
| 10. නොහැකියාව | ١٠– عَجْزٌ |
| 11. බිහිරි බව | ١١– صَمَمٌ |
| 12. අන්ධ බව | ١٢– عَمَى |
| 13. ගොළු බව | ١٣– بُكْمٌ |
| 14. මළ අයකු වීම | ١٤– مَيِّتٌ |
| 15. බලකරනු ලැබූවකු වීම | ١٥– مُكْرَهٌ |
| 16. කිසිවක් නොදත්තෙකු වීම | ١٦– جَاهِلٌ |
| 17. නොහැකි අයකු වීම | ١٧– عَاجِزٌ |
| 18. බිහිරකු වීම | ١٨– اَصَمٌ |
| 19. අන්ධයකු වීම | ١٩– اَعْمَى |
| 20. ගොළුවකු වීම | ٢٠– اَبْكَمٌ |

## 3. ජාඉස් الجَائِزُ

අල්ලාහ්ට තිබිය හැකි හා නොහැකි ගුණාංග නැතහොත් අල්ලාහ් තමාට කැමති දේ කැමති ආකාරයට කිරීමත්, නො කර සිටීමත් ඔහුට ම අදාළ ය යන්න ජාඉස් වශයෙන් දැක් වේ.

උදාහරණ වශයෙන් යහපත් අයට ආනිශංස ලබා දී දුර්ජනයන්ට දඬුවම් පැමිණ වීම, දීම සහ නොදීම ආදිය කිරීමත් නො කර සිටීමත් ඔහුගේ කැමැත්ත වේ.

ඉහත සඳහන් අල්ලාහ්ගේ ගුණාංග ලොව අන් කිසිදු වස්තුවකට තිබිය නොහැකි ලක්ෂණ වන්නේ ය. ආරම්භයක් හා අවසානයක් නොමැති ව විශ්වය පරිපාලනය කරන අල්ලාහ් මැවුම්වලට සමාන නො වී ස්වාධීන ව සිටී යන්න ඔහුගේ අතිමහත් හැකියාවත්, බලයත් විදහා දැක්වීමකි.

මෙම විශ්වය පරිපාලනය කරන අල්ලාහ් මහන්සිය, වෙහෙස, නින්ද වැනි මැවුම් සතු දුර්වලතාවලින් මිදුණු උසස් හැකියා ඇති අයකු හා කිසි විටකත් මරණයට පත් නො වී සදකල් ජීවත්වන්නකු බව ඔහුගේ සිෆත්වලින් මතු කෙරේ.

අල්ලාහ් සතු ගුණාංගවලින්, සවන් දීම, බැල්ම, කතාව යන ඒවායින් ඔහුගේ බලය පෙන්වා දෙයි. ඔහුගේ දෘෂ්ටියට ලක් නොවන කිසිදු තැනක් ලොව නොමැත. ඔහුගේ දෘෂ්ටිය එතරම් පුළුල් ය. ඕනෑ ම කුඩා ශබ්දයක් ඇසෙන තරමට ඔහුගේ ශ්‍රවණය තියුණු ය. එසේ ම ඔහු කතා කරන්නකු හා අණ කරන්නකු වන බව ඔහුගේ 'ආලම්' පැහැදිලි කරන්නේ ය.

"ඔහුට සමාන වූ කිසිවක් නොමැත. සියල්ල සවන් දෙන්නා ඔහු ය. සියල්ල දකින්නා ඔහු ය." (42:11)

මිනිසා මෙලොව පුදුම එළවන සුළු වෙනස්කම් සිදු කර ඇත. මිනිසාගේ දැනුම අල්ලාහ්ගේ දැනුමෙන් ඉතා සුලු කොටසකි. "ඔහු නොදැනුවත් ව පොළොවේ එක දු ශාක පත්‍රයක් හෝ වැටෙන්නේ නැත." (6 : 59) යනුවෙන් අල්කුර්ආන් පෙන්වා දෙන්නේ ය.

විශ්වයේ ශාක වර්ග ඇති වූ දා පටන් අවසන් දිනය දක්වා පොළොවට වැටෙන ගස්වල කොළ ගැන පවා දැනුම ඇත්තේ අල්ලාහ්ට පමණි. සාමාන්‍ය

දැනුමැති මිනිසාට මෙය කළ නොහැකි කාර්යයකි. අල්ලාහ්ගේ දැනුම යන ගුණාංගයේ ප්‍රමාණය මෙම කරුණෙන් පැහැදිලි කෙරේ.

මෙලෙසින් ම අල්ලාහ්ගේ අනෙකුත් ගුණාංගවල ප්‍රමාණය ද පහදා දිය හැකි ය. අල්ලාහ්ට ශුද්ධ වූ නාම 99ක් ඇත. මෙම නාම ඔහුගේ ගුණාංග පැහැදිලි කරන්නේ ය. ඒවා මැවුම්වල ගුණාංගවලට සමාන නො කොට විශ්වාස කළ යුතු වන්නේ ය. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා සහ සහාබාවරු වටහා ගෙන විශ්වාස කළ ආකාරයෙන් ම අප ද අල්ලාහ්ගේ ගුණාංග ගැන විශ්වාස කළ යුතු ය. එසේ ම ඔහුගේ ගුණාංගයක් පිළිබඳ ව කිසි විටකත් අවිශ්වාස නො කළ යුතු ය. ඔහු කී පරිදි විශ්වාස කොට අපගේ ඊමානය බලවත් කර ගත යුතු ය.

## අභ්‍යාසය

පහත ප්‍රකාශ හරි නම් (හරි) යැයි ද වැරදි නම් (වැරදි) යැයි ද සඳහන් කරන්න.

1. සිෆාතුල්ලාහ් යනු අල්ලාහ්ගේ ගුණාංග හා ක්‍රියා දක්වන ඒවා ය.( )
2. අල්ලාහ්ගේ ගුණාංග කොටස් හතරකට බෙදා දැක්විය හැකි ය.( )
3. ඉල්මුත් යන්නට ප්‍රතිවිරුද්ධ ගුණාංගය ජහ්ලුන් යන්න ය. ( )
4. අල්ලාහ් අසන්නටත් බලන්නටත් කතා කිරීමටත් ශක්තිය ඇත්තෙකි. ( )
5. කැමති දේ කැමති ආකාරයට කිරීමත් නොකර සිටීමත් වාජිබ් වූ ගුණාංගවල අඩංගු ය. ( )
6. මැවුම්වල දැකිය හැකි දුර්වලතා අල්ලාහ්ට නැත. ( )
7. අල්ලාහ් නොදැන ගහකින් කොළයක් හෝ වැටෙන්නේ නැත.( )
8. අල්ලාහ්ගේ ශුද්ධ වූ නාම ඔහුගේ ගුණාංගවලින් වෙනස් ඒවාය.( )

# 4

# මලාඉකාවරු විශ්වාස කරමු

كُلٌّ اٰمَنَ بِاللّٰهِ وَمَلٰئِكَتِهٖ وَكُتُبِهٖ وَرُسُلِهٖ

**(මු:මින්වරුන්) සියලු දෙනා ම අල්ලාහ්ව ද ඔහුගේ මලාඉකාවරුන්ව ද ඔහුගේ ආගම් ද ඔහුගේ වක්තෘවරුන්ව ද විශ්වාස කරති.** (2:285)

අන්වර් හත් වන ශ්‍රේණියේ ඉගෙන ගන්නා ශිෂ්‍යයෙකි. දිනක් ඔහු සවස් වරුවේ පාසලේ දුන් ගෙදර වැඩ කරමින් තාත්තාගේ පැමිණීම බලාපොරොත්තුවෙන් සිටියේ ය. තාත්තා එන හඬ ඇසී අම්මා දොරකඩට ආවා ය. තාත්තාගේ සලාමයට දෙදෙනා ම පිළිතුරු කීහ. 'තාත්තා' කියමින් අන්වර් කතාව ආරම්භ කළ විට මග්රිබ් සලාතයෙන් පස්සේ ඔබගේ ප්‍රශ්නවලට උත්තර දෙන්නම්, දැන් සලාතය ඉටු කරමු, යැයි තාත්තා අන්වර් කැඳවූයේ ය.

මග්රිබ් සලාතයෙන් පසු ව අන්වර් සමග තාත්තා අසුන්ගත්තේ ය.

(මව දෙදෙනාට ම තේ රැගෙන ආවා ය. අන්වර් ඔබේ සැකය මොකක් ද යි පවසන්න, යනුවෙන් තාත්තා ඇසීය. ප්‍රශ්නයක් යයි කියූ පමණින් මව ද ඒ අසලින් වාඩි වූවා ය. මෙලෙස ඔවුන්ගේ සංවාදය ආරම්භ විය.)

**අන්වර්:** තාත්තා, අල්ලාහ් මලාඉකාවරු දෙස බලා මම පොළොවේ මගේ නියෝජිතයා පත්කරමියි කී අවස්ථාවේ මලාඉකාවරු කලබල ඇති කරන, ලේ වගුරුවන ඔහු ඔබගේ නියෝජිතයා කරන්නෙහි ද? අපි ඔබගේ පාරිශුද්ධ භාවයට ප්‍රශංසා කරමින් ඔබට ස්තුති කරමින් පසුවෙමු යැයි කීහ. මෙලෙස කුර්ආන් පරිවර්තනයක් මම කියෙව්වෙමි. අල්ලාහ්ට ඉතා ම සමීප මලාඉකාවරු ගැන මට විස්තර දැන කියා ගැනීමට අවශ්‍යයි. ඔවුන් පිළිබඳ විස්තරයක් දෙන්න තාත්තේ.

**තාත්තා:** පුතේ, මලාඉකාවරු ගැන සෑම මුස්ලිම්වරයකු ම දැන සිටීම වැදගත්. දැන් මලාඉකාවරු ගැන මම කියන්නම්. හොඳින් අහගන්න. මලාඉකාවරු ගැන විශ්වාස කිරීම ඊමානයේ දෙවන අංගයයි. ඒ ගැන අල් කුර්ආනයේ පහත අයුරු විස්තර කරනවා. "විශ්වාසවන්තයන් සියල්ලෝ ම අල්ලාහ් ද ඔහුගේ මලාඉකාවරු ගැන ද ඔහුගේ ආගම් ගැන ද ඔහුගේ දූතයන් ගැන ද විශ්වාස කරති." (62:285)

**අන්වර්:** අම්මා ඔබත් ආලිමා කෙනෙක් නේද? මලාඉකාවරු මවලා තියෙන්නේ කොහොම ද? කියලා කියන්න.

**අම්මා:** අල්ලාහ් අලංකාර මැවුම්කරුවා ය. ඔහුගේ මැවුම් අතර මලාඉකාවරු ශ්‍රේෂ්ඨ ය. ඔවුන් ප්‍රබල මැවීමකි. ජින්වරු ගින්නෙන් ද මලාඉකාවරු ආලෝකයෙන් ද මවනු ලැබ ඇත. (මුස්ලිම් ග්‍රන්ථය) යැයි නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ පැවසූහ. ඔවුනතුරින් (දෙක බැගින්) දෙකක් (තුන බැගින්) තුනක් ද (හතර බැගින්) හතරක් පටන් හයසීයක් දක්වා පියාපත් ඇති මලාඉකාවරු වෙති. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා ජිබ්රීල් අලෛහිස්සලාම් තුමා එතුමාගේ මුළු ස්වරූපය ම දුටුහ. ජිබ්රීල් අලයිහිස්සලාම් තුමාට පියාපත් 600ක් විය. (මුස්ලිම් ග්‍රන්ථය)

**තාත්තා:** මලාඉකාවරුන්ගේ සංඛ්‍යාව ගැන දන්නේ අල්ලාහ් පමණි. ඔවුන්ට නියමිත ස්වරූපයක් නැත. සුනඛ හා සූකර වෙස් හැර අන් ඕනෑ ම වේශයකින් ඔවුන්ට පෙනී සිටිය හැකි ය. ඔවුන් අතරින් ගැහැනු පිරිමි වෙනස හෝ පවුල, නෑදෑකම, කුසගින්න, පිපාසය, නින්ද, මහන්සිය, අමතකවීම, ආශාව වැනි කිසිදු අවශ්‍යතාවක් හෝ ඔවුනට නැත.

**අන්වර්:** ඔවුන් මවනු ලැබුවේ ඇයි? ඔවුනට කිසි යම් වගකීමක් යුතුකමක් තිබෙනවා ද?

**අම්මා:** අල්ලාහ් මෙම විශ්වය මැව්වේ සැලසුම්සහගත ව ය. එම සැලසුම් නියම අයුරින් ම ඉටු කිරීමට මලාඉකාවරු මවනු ලැබ සිටිති. ඔවුනට අල්ලාහ් විවිධ වගකීම් පවරා ඇත. එම වගකීම් ඉටු කිරීම ඔවුන්ගේ කාර්යය වන්නේ ය. "අල්ලාහ් ඔවුනට අණ කළ දෑහි සුළු වෙන් හෝ ඔවුහු අකීකරු නොවෙති" (66:6)

අල් කුර්ආනය පවසයි. සෑම මොහොතක ම අල්ලාහ් සුවිශුද්ධ කරමින් සිටීම, ඔහුගේ අණ සඳහා බලා සිටීම, 'අර්ශය' දරා සිටීම, මිනිසුන් සුරැකීම. හොඳ නරක සටහන් කිරීම, ස්වර්ගය අලංකාර ලෙස සැරසීම, යහගැත්තන්ට උදවු කිරිම, පාපීන්ට දඬුවම් පැමිණවීම, ප්‍රාණයන් අත්පත් කර ගැනීම වැනි ඒවා මලාඉකාවරුන්ගේ සමහර රාජකාරි වන්නේ ය.

**තාත්තා:** "එවිට නුඹලාගෙන් කෙනෙකුට මරණය පැමිණිය හොත් අපගේ සුර දූතයෝ ඔහු මරුමුවට පත් කරන්නෝ ය. ඔවුහු තමන්ගේ කාර්යය ඉටු කිරීමේ ලා අල්ප මාත්‍ර වූ ද අතපසු කිරීමත් නො කරති."(6:61)

අහසේ හා පොළොවේ ඔවුන් සුජූද් නොකරන එක ම ස්ථානයක් හෝ නොමැත. ඔවුන් ලැජ්ජා බය ඇති අයයි. දුර්ගන්ධය ඔවුන් ඉවසා ගන්නේ නැත. යහගැත්තන්ගේ ගෙවල් තුළට ඔවුහු ඇතුළු වෙති. එහෙත් සත්‍ය වශයෙන් ම මලාඉකාවරු බල්ලන් හා රූප සහිත නිවෙස් තුළට ඇතුළු නොවෙති. (බුහාරි, මුස්ලිම්) යැයි නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා පැවසීය.

**අන්වර්:** මිනිසුන් හා ඔවුන් අතර ඇති සම්බන්ධය පැහැදිලි කර කියන්න අම්මා.

**අම්මා:** මිනිසුන් හා මලාඉකාවරු අතර සම්බන්ධය ගර්භාෂයේ පටන් මිනීවළ දක්වා ද ඉන් ඔබ්බට අවසාන දිනය තෙක් ද පවතින්නේ ය. මවගේ ගර්භාෂය තුළ ද මලක්වරු විසූහ. මිනිසාගේ ක්‍රියා කලාපය, ජීවනෝපාය, ආයුෂ, යහපත් අයහපත් අයකු ද, යන සියල්ල ලියවෙයි. එසේ ප්‍රාණය ද පිඹිනු ලැබේ. (මුස්ලිම්) එසේ ම මරණය ආසන්න වූ විට, යහපත් අයට ප්‍රියකර රුවකින් ද අයහපත් අයට විරූපී රුවකින් ද පෙනී සිට ප්‍රාණය අත්පත් කෙරේ. නිරයේ දී දඬුවම් පමුණුවන්නේ ද ස්වර්ගයේ දී පිළිගන්නේ ද මාර්ගය දක්වන්නේ ද ඔවුන් ය.

**අන්වර්:** ඒ නිසා අප ඔවුන් විශ්වාස කළ යුතු ම ය. ඔවුන් ඊමාන් හෙවත් විශ්වාස කළ යුතු ආකාරය පැහැදිලි ව කියන්න තාත්තා.

**තාත්තා:** මෙතෙක් අප සාකච්ඡා කළ අන්දමට මලාඉකාවරුන් කෙරෙහි විශ්වාසය තැබීම මුස්ලිම් ගැහැනු පිරිමි සියල්ලන්ගේ ම වගකීමක්

වේ. අල් කුර්ආනයේ හා අල් හදීසයේ නම් සඳහන් මලාඉකාවරුන් සමඟ ද අන් අය ගැන පොදුවේ ද විශ්වාස කළ යුතු ය. මලාඉකාවරුන්ගේ නායකයා ජිබ්රීල් අලයිහිස්සලාම් ය. මලාඉකාවරුන් විශ්වාස නොකරන අය ගැන අල් කුර්ආනය මෙසේ අවධාරණය කරයි.

"කවුරුන් අල්ලාහ් ද ඔහුගේ මලාඉකාවරුන් ද ඔහුගේ ආගම් ද, ඔහුගේ දූතයන් ද, අවසන් දිනය ද ප්‍රතික්ෂේප කරන්නේ ද ඔහු සැබවින් ම ඉතා ඈතින් වූ නොමඟ යැමෙහි යන්නේ ය." (4: 136)

ඔවුහු මෙලෙස සාකච්ඡා කරමින් සිටියහ. සාකච්ඡාව අතර මැද ගෙට ගිය අම්මා වගුවක් ගෙනවිත් අන්වර්ට දී ඔබටත් ඔබ වගේ අනික් කුඩා ළමයින්ටත් මෙම වගුව බලා මලාඉකාවරුන්ගේ නම් හා ඔවුන්ගේ රාජකාරිය යනාදිය දැන ගත හැකි ය. එවිට ඒ අය පිළිබඳ දැඩි ව විශ්වාස කළ හැකි වන්නේ ය කියා කීවා ය.

## මලාඉකාවරුන්ගේ නම් හා ඔවුනට අයත් රාජකාරිය

| මලාඉකාවරුන්ගේ නම | රාජකාරිය |
|---|---|
| ජිබ්රීල් අලයිහිස්සලාම් | නබිවරුන්ට වහී ගෙන ඒම |
| මීක්කායීල් අලයිහිස්සලාම් | ආහාර, සුළඟ, ජලය, ගින්දර ආදිය භාරව කටයුතු කිරීම |
| ඉස්රාෆීල් අලයිහිස්සලාම් | සූර් පිඹීම - (දෙවරක්) |
| ඉස්රායීල්(මලකුල්මව්ත්)අලයිහිස්සලාම් | ජීවය අත්පත් කර ගැනීම |
| මුන්කර් අලයිහිස්සලාම් / නකීර් අලයිහිස්සලාම් | කබ්රයේ දී ප්‍රශ්න ඇසීම |
| රකීබ් අලයිහිස්සලාම් / අතීද් අලයිහිස්සලාම් | කුසල් හා අකුසල් සටහන් කිරීම |
| මාලික් අලයිහිස්සලාම් | නිරයේ අධිපති |
| රිල්වාන් අලයිහිස්සලාම් | ස්වර්ගයේ අධිපති |

## අභ්‍යාසය

පහත ප්‍රකාශ හරි නම් හරි යැයි ද වැරදි නම් වැරදි යැයි ද ලකුණු කරන්න.

1. ඊමානහි දෙවන අංගය අල්ලාහ්ගේ මලාඉකාවරුන් ගැන විශ්වාස කිරීමයි. ( )
2. අල්ලාහ් මලාඉකාවරුන්ට විවිධ හැකියා ලබා දී ඇත. ( )
3. ඔවුන් සමහර අවස්ථාවල අල්ලාහ්ගේ අණට අකීකරු වෙති. ( )
4. ආලෝකයෙන් මවනු ලැබූ ඔවුනට පියාපත් ඇත. ( )
5. අල් කුර්ආනයේ සමහර මලාඉකාවරුන්ගේ නම් සඳහන් වන්නේ ය. ( )
6. මලාඉකාවරුන්ගේ නායකයා මීක්කායීල් අලයිහිස්සලාම් ය. ( )
7. ඔවුනට බඩගින්න, පිපාසය, නින්ද, වෙහෙස, වැනි කිසිවක් නැත. ( )
8. කබ්රයේ දී ප්‍රශ්න අසනුයේ රකීබ් හා අතීද් අලයිහිස්සලාම් ය. ( )
9. නබිවරුන් සමග වැඩියෙන් සම්බන්ධතා පවත්වන මලාඉකාවරයා ජිබ්රීල් අලයිහිස්සලාම් ය. ( )
10. සුනඛ රූප සහිත නිවෙස්වලට මලාඉකාවරු ඇතුළු නොවෙති. ( )

# 5

# නජීස් වර්ග

මුස්ලිම් අයකු ඉබාදතයන් ඉටු කිරීමට පිරිසිදු ව සිටීම අවශ්‍ය වන්නේ ය. ඔහු පිරිසිදු ව හා යහපත් සෞඛ්‍යයෙන් සිටීමට නජීස් හෝ අපිරිසිදු දේවලින් ඉවත් ව සිටිය යුතු ය. මෙවැනි නජීස්, ඒවායේ වර්ග, ඒවායින් පිරිසිදු වන ආකාර ආදී කරුණු ගැන ඉස්ලාම් අපට පැහැදිලි ව පවසා ඇත. එවැනි නජීස් ගැන මීළඟට දැන ගනිමු.

## නජීස් වර්ග

පිරිසිදු කිරීමේ ක්‍රම පදනම් කරගෙන නජීස් ආකාර තුනකට බෙදෙයි.

1. සාමාන්‍ය නජීස්
2. සැහැල්ලු නජීස්
3. දැඩි නජීස්

## සාමාන්‍ය නජීස් සඳහා උදාහරණ

- මල
- මූත්‍රා
- ලේ
- වමනය
- සැරව
- ආහාර සඳහා අවසර නැති සතුන්ගේ කිරි
- සත්ව මළකුණු
- සජීවී සතුන්ගෙන් ඉවත් වූ කොටස්

## පිරිසිදු කරන ක්‍රමය

ඉහත සඳහන් නජීස්වලින් යමක් ශරීරයේ හෝ ඇඳුම්වල හෝ ගෑවිණි නම්, ප්‍රථමයෙන් එය එම ස්ථානයෙන් ඉවත් කිරීම සඳහා එහි රසය, පැහැය, සුවඳ යන තුන ඉවත් වන තෙක් සේදිය යුතු ය. ජලයෙන් පමණක් නජීසය ඉවත් කළ නොහැකි අවස්ථාවල සබන්, සේදුම් කුඩු වැන්නක් යෙදිය හැකි ය. පිරිසිදු කළ පසු ද අදාළ නජීසයේ පාට සුවඳ යන දෙක ම හෝ රස පමණක් හෝ ඉතිරි ව තිබුණ හොත් එය පිරිසිදුවීමක් ලෙස සලකනු ලබන්නේ නැත. නමුත් එම නජීසය ඉවත් කිරීමේ දී පාට පමණක් ඉතිරි ව තිබී එය ඉවත් කර ගත නොහැකි විටක දී එහි වරදක් නො වේ.

### 1. ඉහත පිරිසිදු කිරීමට අදළ නොවන දෑ

- ඉබේ ම මළ මාළු සහ පලාගිරවා ආහාරයට ගැනීම (ආදිය අනුමත කර ඇත)
- රුධිරය නොහෙලන සතුන් වන කුහුඹුවන් හා මීමැස්සන් වැනි ඒවා
- ආහාරය සඳහා අනුමත සතුන්ගේ ඇට, අං, නිය, රෝම, පියාපත් ආදිය
- ඉතා කුඩා ප්‍රමාණයෙන් සිරුරේ ගෑවෙන ලේ
- මව් කිරි

### 2. සුළු නජීස්වලට උදාහරණ

- මව්කිරි පමණක් ආහාර වශයෙන් ගන්නා වයස දෙකකට අඩු පිරිමි ළමයින්ගේ මූත්‍ර

### පිරිසිදු කරන ආකාරය

- මෙවැනි නජීසය පිරිසිදු කරන විට අදාළ නජීසය ඉවත් කර එම ස්ථානයේ පිරිසිදු ජලය සෑහෙන තරම් ඉසීම සෑහෙන්නේ ය.

### 3. දැඩි නජීස් සඳහා උදාහරණ

සුනඛයන්, සූකරයන් ආදීන්ගේ මල, මූත්‍රා, කෙළ, ඩහදිය, රුධිරය ආදී සියල්ල මෙහි අන්තර්ගත ය.

## පිරිසිදු කරන ආකාරය

මෙම නජීසය පිරිසිදු කරන විට ඉහත සඳහන් කරුණු සමඟ පහත කරුණු ද අනුගමනය කළ යුතු ය. ඊට අමතර ව හත් වතාවක් ජලය වත්කර සේදිය යුතු ය. ප්‍රථම වතාවේ හෝ අතරමැද හෝ පස් ද්‍රාවණය භාවිත කර සේදීම කළ යුතු ය.

දැඩි නජීස් ගෑවුණු තැන්වල නජීස්වල ලක්ෂණ තුන ම නො පෙනුණා වුව ද හත් වතාවක් සේදිය යුතු ය.

මුහුද, වැව් වැනි විශාල වශයෙන් ජලය පිරුණු තැන් වල පිරිසිදු කරන අවස්ථාවල හා ගලා යන ජලයේ පිරිසිදු කරන අවස්ථාවේත් ජලය කලතා එම ජලයේ ගිල්වූ පසු හය වතාවක් ජලයේ සෝදා ගැනීම සෑහෙන්නේ ය. සාමාන්‍යයෙන් නජීස් වූ දේවල් පිරිසිදු කළ නොහැකි ය. එහෙත් සමහර නජීස් පිරිසිදු කර භාවිත කළ හැකි ය. එවැනි ඒවාට උදාහරණ පහත දැක්වේ.

### 1. සතුන්ගේ හම්

සුනඛයන් සහ සූකරයන් හැර අන් සතුන්ගේ හම හොඳින් පදම් කර ආහාර හැර වෙනත් අවශ්‍යතා සඳහා භාවිත කළ හැකි ය.

### 2. මත් පැන්, රා

ස්වාභාවික ව ගන්නා වූ වෙනත් මිශ්‍රණ එකතු නො කළ රා ඉබේම විනාකිරි බවට පත් වූයේ නම් එය ආහාරමය අවශ්‍යතා සඳහා යොදා ගත හැකි ය.

### 3. නජීස් වැටුණු මිදුණු කිරි

කිරි කැටි ගැසීමෙන් ගිතෙල්, බටර්, චීස් වැනි ඝන අවස්ථාවේ ඇති විට ඒ මත නජීස් වැටුණි නම් එම නජීස් වැටුණ කොටස ඉවත් කර ඉතිරි කොටස භාවිත කළ හැකි ය.

### අභ්‍යාස

1. නජීස් ආකාර කීයක් තිබේ ද?
2. දැඩි නජීස් ලෙස සලකනු ලබන්නේ මොනවා ද?
3. සැහැල්ලු නජීසයන් පිරිසිදු කරන්නේ කෙසේ ද?
4. ගිතෙල්වල නජීස් වැටුණු අවස්ථාවේ දී එය භාවිත කරන්නේ කෙසේ ද?
5. සාමාන්‍ය නජීස් හතරක් දක්වන්න.

## 6

# සලාතයට සූදානම් වෙමු

يَآيُّهَا الَّذِيْنَ اٰمَنُوْٓا اِذَا قُمْتُمْ اِلَى الصَّلٰوةِ فَاغْسِلُوْا وُجُوْهَكُمْ وَاَيْدِيَكُمْ اِلَى الْمَرَافِقِ
وَامْسَحُوْا بِرُءُوْسِكُمْ وَاَرْجُلَكُمْ اِلَى الْكَعْبَيْنِ (5:6)

**"විශ්වාසවන්තයිනි! නුඹලා සලාත් පැවැත්වීමට නැගී සිටින විට (නුඹලාගේ) මුහුණ ද, නුඹලාගේ අත් වැලමිට තෙක් ද සෝදනු, තව ද නුඹලාගේ හිස (ජලයෙන්)පිසදනු. තව ද විලුඹ දක්වා නුඹලාගේ පාද ද (සෝදනු)..."**

## වුලූඃ

මුස්ලිම්වරයෙක් තම එදිනෙදා ජීවිතයේ සෑම අවස්ථාවක ම පිරිසිදුකම රැකගෙන කටයුතු කිරීමට බැඳී සිටියි. සලාතය, කඃබාව තවාෆ් කිරීම වැනි ඉබාදතයන් ඉටුකිරීමට මූලික කොන්දේසියක් වශයෙන් පිරිසිදුකම අවධාරණය කෙරේ.



සලාතයට සූදානම් වන තැනත්තා සුළු කිල්ලෙන් සහ මහ කිල්ලෙන් ඉවත් ව පිරිසිදු ව සිටිය යුතු ය. මෙය සලාතයේ ෂර්තුවලින් එකකි.

සුළු කිල්ල යනු වුලූඃ නැති ව සිටින අවස්ථා ය. මහා කිල්ල යනු නෑම අනිවාර්ය වන අවස්ථා ය. ඒ නිසා සුළු කිල්ලෙන් මිදීමට වුලූඃ ඉටු කිරීම අවශ්‍ය වේ. සලාතය ඉටු කරන්නන් වුලූඃ නැමැති පූර්ව සූදානම කිරීම අනිවාර්ය වේ. මේ ගැන අල් කුර්ආනයේ මෙසේ දැක්වේ.

ඊමාන්ධාරිනි, ඔබ සලාතය සඳහා සූදානම් වුණා නම් ඔබගේ මුහුණු ද වැලමිට දක්වා වන ඔබගේ දෑත් ද සෝදා ගන්න. ඔබගේ හිස ද මස්හු කර ගන්න. ඔබගේ පාද විළුඹ දක්වා සෝදා ගන්න. (05 - 06)

ඔබගෙන් අයකු වුලූඃ කර ගන්නා තෙක් ඔහුගේ සලාතය පිළිගනු ලබන්නේ නැතැයි නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා පවසා ඇත. (බුහාරි)

එහෙයින් සලාතය පිළිගනු ලැබීමට වුලූඃ කිරීම අනිවාර්ය වන බව මෙයින් පැහැදිලි වන්නේ ය.

වුලූඃ කිරීම නිසා ගැත්තන්ගේ පව් සමාකරනු ලබන්නේ ය. මෙය ගැන නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා පැවසූ හදීසය පහත දැක්වේ.

වුලූඃ කරන අයකුගේ අවයව එකිනෙක සෝදන විට එම අවයවවලින් ජලය වැහෙන විට එම අවයව වලින් කළ පව් සමාකරනු ලබන්නේ ය. (මුඅත්තා මාලික්)

සැබැවින් ම වුලූඃ හේතුවෙන් මගේ උම්මත්වරු කියාමාවේ දී මුහුණ දෑත් සහ දෙපා දීප්තිමත් වූ අය වශයෙන් නැගිටවනු ලබති. (ගුර්රන් මුහජ්ජලීන්) වශයෙන් නැගිටවනු ලබති. (බුහාරි මුස්ලිම්)

මෙතරම් වැදගත් වන වුලූඃ එහි ෆර්ල් හා ෂර්ත ගැන සලකා ඉටුකරන



අවස්ථාවේ දී පරිපූර්ණ වන්නේ ය. සලාතය ද පිළිගනු ලැබේ. වුලූඃ ෆර්ලයන් සහ ෂර්තයන් අනුගමනය කර වුලූඃ ඉටුකරන ආකාරය ගැන අපි හය වන ශ්‍රේණියේ දී ඉගෙන ගත්තෙමු.

# තයම්මුම්

සලාතය සඳහා පෙර සූදානම් වීම ලෙස සුළු කිල්ල ඉවත් කිරීම සඳහා වුලූඃ ඉටු කිරීම අනිවාර්ය  බව අපි දැන ගත්තෙමු. එසේ ම වුලූඃ කළ නොහැකි අවස්ථාවල වුලූඃ වෙනුවට තයම්මුම් කිරීමේ ක්‍රමයක් ද ඇත. මෙම පාඩමේ දී තයම්මුම් ගැන ඉගෙන ගනිමු.

තයම්මුම් යනු අනිවාර්ය නෑම සඳහා හෝ වුලූඃ කිරීම සඳහා ජලය භාවිත කළ නොහැකි අවස්ථාවල දී ඒ වෙනුවට පිරිසිදු පස භාවිත කර මුහුණ සහ දෑත් මස්හු කර ගැනීම (අතගෑම) වන්නේ ය.

## තයම්මුම් කිරීම සඳහා වන කොන්දේසි

1. වෙහෙස වී සෙව්ව ද ජලය නොලැබී යෑම
2. ජලය භාවිතයෙන් රෝගී තත්ත්වයක් ඇති විය හැකි ය හෝ රෝගය උග්‍ර විය හැකි ය, යන අවස්ථාව
3. තිබෙන ජලය භාවිත කළ විට අත්‍යවශ්‍ය අවශ්‍යතා සඳහා ජලය ප්‍රමාණවත් නොවන අවස්ථාව

මෙලෙස ජලය නැත යන හේතුව නිසා මුස්ලිම්වරයකුට සලාතය ඉටු නොකර හෝ පිරිසිදු නො වී හෝ සිටිය  නොහැක. පස භාවිතයෙන් හෝ තම යුතුකම ඉටු කළ යුතු ය, යන්න ඉස්ලාමයේ ස්ථාවරය වේ.

අල් කුර්ආනයේ එය මෙසේ දැක්වේ.

"ඔබ රෝගියකු ව හෝ මගියකු ව සිටින විටෙක මලපහ කළේ නම් ද කාන්තාවන් සමඟ සහවාසයේ යෙදුණේ නම් ද පිරිසිදු විය යුතු අවස්ථාවේ දී ජලය ලබා ගත නොහැකි නම් පිරිසිදු පස භාවිත කර ඔබගේ මුහුණ සහ දෑත් 'මස්හු' කර ගන්න." (අල් කුර්ආන් 4: 43)

## තයම්මුම් කරන ආකාරය

නියියතය සිතෙහි දරාගෙන "බිස්මිල්ලාහ්" යැයි පවසමින් දෑත් පිරිසිදු පසෙහි තද කර පසු ව අතුල් අත්දෙක පිට අත් දෙක පැත්තෙන් ගස්සා මුහුණ මස්හු කිරීම හා පසු ව නැවතත් පසෙහි අත තද කර දෑත් වැලමිට දක්වා "මස්හ්" කළ යුතු ය.

තයම්මුම් කරන්නා එක් එක් ෆර්ල් සලාතය වෙනුවෙන් තයම්මුම් කළ යුතු ය. එහෙත් වරක් කළ තයම්මුම් සමග සුන්නත් වූ සලාත රැසක් ඉටු කළ හැකි ය.

## තයම්මුම් බිඳී යන කරුණු

1. වුලූඃ බිඳී යන කරුණු සියල්ල ම
2. වතුර නොමැති ව තයම්මුම් ඉටු කර අදාළ සලාතය ඉටු කිරීමට පෙර ජලය ලැබීම
3. රෝගය නිසා තයම්මුම් කර සලාතය ඉටු කිරීමට කලින් එම රෝගය සනීප වීම

## ජබීරතය

ජබීරතය යනු සිරුරේ කිසි යම් අවයවයක් තුවාල සිදුවීම නිසා දමූ වෙලුම් පටි (බැන්ඩේජය) වන්නේ ය.

ඉස්ලාම් කිසිදු අවස්ථාවක සලාතය අතහැරීමට අවසර දී නැත. ඒ වෙනුවට අසීරු අවස්ථාවල සමහර සහන ලබා දී ඇත. ඒ අනුව සිරුරේ කොටසක බැන්ඩේජ් දැමූ අයකු සලාතය ඉටු කිරීම සඳහා පහත සඳහන් ක්‍රම අනුගමනය කළ යුතු ය.

1. ජබීරත් (බැන්ඩේජ්) දැමීමට කලින් වුලූඃ කර ගැනීම
2. වුලූඃ කරන ශාරීරික කොටස්වල ජබීරත් දමා තිබුණි නම් අනික් අවයව වුලූඃ කර ගැනීම
3. තුවාල සුව වී ජබීරතය ඉවත් කළපසු සාමාන්‍ය ක්‍රමයට වුලූඃ කර සලාතය ඉටු කළ යුතු ය.



## අභ්‍යාසය

1. තයම්මුම් යනු කුමක් ද?
2. තයම්මුම් කළ හැකි අවස්ථා තුනක් සඳහන් කරන්න.
3. තයම්මුම් කරනු ලබන අවයව මොනවා ද?
4. ජබීරත් යනු කුමක් ද?
5. පිරිසිදුකම මූලික වන ඉබාදතයන් තුනක් සඳහන් කරන්න.
6. සුළු කිල්ල යනු කුමක් ද?
7. මහා කිල්ල යනු කුමක් ද? එයින් මිදීම සඳහා කුමක් කළ යුතු ද?
8. වුලූඃ කිරීම නිසා අත්වන ප්‍රයෝජන ලියන්න.

7

# ශරීරයේ පිරිසිදුකම

පිරිසිදුකම ඊමානයෙන් අඩකි. අල්ලාහ් පවිත්‍ර ය. මුස්ලිම්වරුන් පිරිසිදු ව සිටිනවාට අල්ලාහ් කැමති ය. ස්වර්ගයට පිවිසිය හැක්කේ පිරිසිදු ව සිටින්නන්ට පමණි. නිරෝගී ජීවිතයට මූලික වන්නේ පිරිසිදුකම ය. අපිරිසිදු අයට මලාඉකාවරුන් ද අකැමැති ය. මිනිසුන් ද ඔවුන් අප්‍රිය කරති. එසේ ම විවිධ රෝගාබාධ වලට ගොදුරු වී කාලය ගත කිරීමට ද ඔවුන් ට සිදුවන්නේ ය.

ඉස්ලාම් පිරිසිදුකමට වැඩි වැදගත්කමක් දෙන්නේ ය. මුස්ලිම්වරුන් සෑම විට ම තම සිරුර ද ඇඳුම ද තමා සිටින ස්ථානය ද පිරිසිදු ව තබා ගත යුතු ය. එසේ සිටීමෙන් සිරුරට නව පණක් ද නව ජීවයක් ද ලැබෙන්නේ ය. ඉබාදතයට එය ඉමහත් පහසුවක් වන්නේ ය.

සේදීම, නෑම, වුලූඃ කිරීම යනාදිය තම සිරුර පිරිසිදු ව තබා ගන්නා ක්‍රම වේ. මීට පෙර අපි සේදීම හා වුලූඃ කිරීම යන දෙක ඉගෙන ගනිමු. මෙහි දී ස්නානය ගැන බලමු.



**ස්නානය වර්ග දෙකකි.**

- ෆර්ල් වූ ස්නානය
- සුන්නත් වූ ස්නානය

## ෆර්ල් වූ ස්නානය

ජනාබත් (මහා කිල්ල) යන අපිරිසිදුකම ඇති වූවා නම්, ස්නානය ෆර්ලයකි. එවැනි අවස්ථා හයකි. ඒවා ගැන ඊළඟ අවස්ථාවල බලමු.

**ජනාබත් ඇති වූ අය ස්නානය කර පිරිසිදු වන තෙක් පහත සඳහන් කරුණුවල යෙදීම තහනම් ය.**

සලාතය ඉටු කිරිම, කඃබාව තවාෆ් කිරීම, අල්කුර්ආනය පාරායනය කිරීම, ස්පර්ශ කිරීම, දැරීම, මස්ජිදයේ රැඳීම, යනාදිය ඒවා ය.

**සුන්නත් වූ ස්නානයෙහි අවස්ථා කිහිපයක් මෙසේ ය.**

ජුම්ආ සඳහා නෑම, ඊද් දින දෙකෙහි නෑම, ඉහ්රාමය සඳහා නෑම, ග්‍රහණ සලාතය සඳහා නෑම, ජනාසාව නැවූ කෙනා නෑම, යනාදිය යි.

## ස්නානය

"ඔබ කිල්ලෙහි සිටින්නන් නම් (සිරුර සම්පූර්ණයෙන් ම සෝදා ස්නානය කරන්න) පිරිසිදු කරගන්න" (05 - 06)

අයෙක් ජනාබත් අවස්ථාවේ ස්නානය කරන විට, රෝමයක් නොතෙමෙන සේ නැවේ වුව ද, ඒ නිසා නිරයේ දී දුක් වේදනා විඳිති. යැයි නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා පැවසීය. (අබූදාවුද්)

ස්නානය කර පිරිසිදු විය යුතු ය යන්න ඉස්ලාමයේ අණ කිරීමකි. ස්නානය කිරීම සඳහා ඉතා පිරිසිදු ජලය අවශ්‍ය ය. එය **අල් මාඋෆත් තහූර්** යැයි හඳුන්වනු ලබන්නේ ය.

ස්නානය කිරීමට බලාපොරොත්තුවන්නා පළමු ව මූත්‍රා කිරීමෙන් පසු පිරිසිදු කරගත යුතු ය. අව්රතය වැසෙන සේ ඇඳුම් ඇඳ ගත යුතු ය. සිරුරේ හෝ ඇඳුම්වල ගෑවී තිබෙන අපිරිසිදු දේ ඉවත් කර සෝදා ගත යුතු ය. ඉන් පසු පූර්ණ වශයෙන් වුලූඃ කර ගත යුතු ය. පසු ව "බිස්මිල්ලාහ්" කියමින් නෑම ආරම්භ කළ යුතුය.

ප්‍රථමයෙන් හිසට තුන්වරක් ජලය වත් කළ යුතු ය. පසු ව දකුණු උරහිස මත තුන් වරක් ද, ඉන් පසු වම් උරහිස මත තුන්වරක් ද ජලය වත් කළ යුතු ය. පසු ව ඇඟ හොඳින් අතුල්ලා දිය නා ගත යුතු ය.

හන්දි හා නැමීම් හොඳින් සැලකිලිමත් ව ජලය වත්කර සේදිය යුතුයි. වුලූඃ කරන විට හෝ නාන විට ජලය අපතේ යැවීම අනිවාර්යයෙන් ම වළක්වා ගත යුතු ය.

සැබවින් ම අපතේ වියදම් කරන්නෝ ෂෛතාන්ගේ සහෝදරවරු ය. (අල් කුර්ආන් 17 - 27)

සීතල හෝ සෙම නැති අය නා ස්නානය කර වූ පසු නොපිහදා සිටීම සුන්නත් වන්නේ ය. ස්නානය කර අවසන් වූ පසු වුලූඃ හි දුආව පාරායනය කළ යුතු ය. මෙසේ ස්නානය කර පිරිසිදු ව සෞඛ්‍යවත් ජීවිතයක් ගත කරමු.

### අභ්‍යාසය

පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු දෙන්න.

1. පිරිසිදු ව සිටීමෙන් ලැබෙන ප්‍රයෝජන තුනක් ලියන්න.
2. ජනාබත් යනු කුමක් ද?
2. මහා කිල්ල නිසා නොකළ යුතු ක්‍රියා තුනක් සඳහන් කරන්න.
4. නෑමට කුමන ආකාරයේ ජලය භාවිත කළ යුතු ද?
5. ස්නානය කරන ආකාරය කෙටියෙන් සඳහන් කරන්න.
6. සුන්නත් වූ ස්නානයන් 3ක් සඳහන් කරන්න.

# 8

# සලාතයේ වැදගත්කම

පවුලේ මජ්ලිසය යන නමින් වසීම්ගේ පියා ගෙදර පන්තියක් පවත්වා ගෙන ගියේ ය. එය ආරම්භ වන්නේ ඉෂා සලාතයෙන් පසු ව ය. එයට අම්මා, තාත්තා, වසීම්ගේ සහෝදරයින් වන හාතිම්, අර්ෆකාන් සහ සොයුරියන් වන රිෂා සහ සබ්රා යන සියල්ලෝ ම සහභාගි වෙති. එදින ද ෆාතිහා පාරායනයෙන් මජ්ලිසය ආරම්භ කෙරිණි.

**තාත්තා:** පසුගිය මාසයේ ‘ඉබාදත් කිරීමට සූදානම් වෙමු’ යන මාතෘකාවෙන් වුලූඃ කිරීම ගැන ඉගෙන ගත්තා. අද ඉන්ෂා අල්ලාහ් සලාතයේ වැදගත්කම ගැන සොයා බලමු.

**ආච්චි:** පුතේ, ඒක හොඳ මාතෘකාවක්. අද කාලේ ළමයි ටියුෂන් පන්ති, ක්‍රීඩා තරග, චාරිකා කියලා සලාතය අතහැර දමනවා. ඒක සාමාන්‍ය දෙයක් වෙලා.

**තාත්තා:** ඒක තමයි. ඉස්සර වගේ නොවේ. දැන් පාසල්වල සලාතය ගැන අවධාරණය කෙරෙන්නෙ අඩුවෙන්.



**වසීම්:** තාත්තේ පාසලේ පවත්වන විවිධ උත්සව අවස්ථාවල දී සලාතය ගැන එච්චර තැකීමක් නෑ කියා මෞලවි සර් දුක්වෙනවා, දකින්න පුළුවන් .

**තාත්තා:** ශිෂ්‍ය ජීවිත කාලයේ දී එයාලා මරණය ගැන හිතන්නේ අඩුවෙන්. ඒකයි සලාතය ගැන සැලකිල්ලක් නොදක්වන්නේ. ඒත් කියාමාවේ දී ප්‍රථමයෙන් ප්‍රශ්න කරන්නේ සලාතය ගැන කියල හදීස් තිබෙනවා. ඒක ඒ අයට අවධාරණය කරන්න ඕනෑ.

**රිෂා:** ආච්චි කිව්වා වගේ ටියුෂන් පන්ති, ක්‍රීඩා උත්සව, චාරිකා ගැන කියලා සලාතය ගැන නොසැලකිලිමත් වුණා නම් කියාමාවේ දි ප්‍රශ්න කිරීමේ දී අහුවෙනවා. ඊට පස්සේ අනික් ප්‍රශ්නවලදී බේරෙන්න බැරි වෙයි.

**අම්මා:** මුලින් වෙච්ච ඇදය දිගට ම ඇදයක් වගේ ම පවතිනවා ලු.

**තාත්තා:** ඔව්, රීෂා කිව්ව වගේ සලාතය විධිමත් නොවූවානම් කියාමා කරුණු පමණක් නොව මෙලොව ජීවිතයේ අනික් කරුණුත් පිළිවෙළක් වෙන්නේ නෑ.

**අර්ෆකාන්:** තාත්තේ, අයකු ඉස්ලාමය වැළඳගත්තා නම් ඊළඟ මොහොතේ ම ඔහුට සලාතය අනිවාර්ය වෙනවා, නේ ද?

**තාත්තා:** ඔව් සලාතය එතරම් දුරට අනිවාර්ය කරලයි තියෙන්නේ. සෑම දෙනා ම සලාතය ඉටු කළ යුතු ෆර්ල් අයින් වූ වගකීමක්.

**ආච්චි:** මේ රජබ් මාසයයි. මේ මාසයේ දී ඉස්රා, මිහ්රාජ් සිද්ධිය සිදුවුණා. මිහ්රාජ් ගමනේ දී අහස් හතකට ඉහළ දී සලාතය අනිවාර්ය කළා. මේ අනුව සලාතය කෙතරම් උසස් ද කියා වැටහුණා නේ ද?

**ෆාතිමා:** තාත්තා, ආච්චි කිව්වා වගේ සලාතය වැදගත් නිසා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා තම මරණ මංචකයේ දී පවා සලාතය අවධාරණය කළා යැයි අපගේ ගුරුතුමිය පැවසුවා.

**තාත්තා:** දුව, යුදපිටියේ සටන් කරන අවස්ථාවේ පවා සලාතය අතහැර

දැමීමට ඉස්ලාම් අවසර දී නෑ. ඒ නිසා යුද පිටියේ යුද්ධ කරන අවස්ථාවේත් සලාතය ඉටු කළ යුතු ආකාරය විස්තරාත්මක ව කියා තිබෙනවා.

**හාතිම්** දේව භක්තිය යහගැත්තන්ගේ විශේෂ ලක්ෂණයක් බව අල්කුර්ආන් පවසනවා. සූරා මුඃමින්හි ප්‍රථම වැකි දහයෙහි සඳහන් වන ජය ලබා ගන්නා විශ්වාසවන්තයින්ගේ ලක්ෂණ අතර ස්ථාන දෙකක සලාතය ගැන සඳහන් වෙනවා නේ ද?

**තාත්තා** ඔව් හාතිම්, එම වචනවල මුල දී සලාතය වටහා ගෙන අවබෝධ කර බිය බැතියෙන් යුක්ත ව ඉටු කළ යුතු බව සඳහන් වෙනවා. සූරා මුඃමින්හි වැකි සලාතය අඛණ්ඩ ව දිගට ම ඉටු කළයුතු බව අවධාරණය කෙරෙනවා. මෙම කරුණු සලාතය ඉටු කරන විට නොපිළිපදින විට එය නොසැලැකිල්ල සේ සැලැකෙනවා. සලාතය දෙවියන් වෙනුවෙන් නො ව අන් අය වෙනුවෙන් ඉටු කිරිම ව්‍යාජ ක්‍රියාවකි. ව්‍යාජ ක්‍රියා එක්තරා ආකාරයක ෂිර්කයකි. මේ අනුව සලාතය ඉටු කරන පුද්ගලයින් නිරයට යන බව සූරා මාඌන්හි දැක්වෙනවා.

**ෆාතිමා:** සලාතය නිසි වේලාවට ඉටු නොකරන්නන්ගේ තත්ත්වය ?

**තාත්තා:** ඇත්තෙන් ම සලාතය විශ්වාසවන්තයින් මත වේලාව සඳහන් වූවක් බව අල්කුර්ආනයේ සඳහන් වෙනවා. සලාතය නිසි වේලාවට ඉටු කිරීමෙන් මෙලොව හා පරලොව අසීමිත කුසල ලබා දෙනවා.

**අර්ෆකාන්:** නිසි වේලාවට සලාතය ඉටු කරන නිසා අපට කාල කළමනාකරණ පුහුණුවක් ලැබෙන බව පන්තියේ දී මෞලවි ගුරුතුමා පැවසුවා.

**තාත්තා:** ඔයා හරි, අම්මාර් නියමම වේලාවට සලාත ඉටු කිරීමට පුරුදු වුණාම ජීවිතයේ අනෙක් අවස්ථාවල දී ද සිය කාර්යය වෙලාවට ඉටු කරන පුරුද්ද ඇතිවෙනවා. ඒ සඳහා එක ම ක්‍රමය පස්වේල් සලාතය මස්ජිදයට ගොස් ජමාඅත් ලෙස ඉටු කිරීමයි.

හාතීම්: තාත්තේ! තනි ව සලාතය ඉටු කරනවාට වඩා ජමාඅත් වශයෙන් සලාතය ඉටු කිරීම 27 ගුණයක් සුවිශේෂී යැයි නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා කියා තිබෙනවා.

තාත්තා: ජමාඅත් ලෙස සලාතය ඉටු කිරීමෙන් විධිමත් ලෙස ජීවත් වීමේ පුහුණුව ලැබෙනවා. එයින් අප අතර සහෝදරකම, අන්‍යෝන්‍ය සෙනෙහස හා සමාජ හැඟීම, නායකත්වයට ගරු කිරීම, සහයෝගයෙන් ක්‍රියාකිරීම වැනි හොඳ පුරුදු ඇතිවෙනවා.

අම්මා: සලාතය ඉටු කිරිම මගින් රිZස්ක්හි බරකතය ඇති වෙනවා, හිතට සැනසුම ලැබෙනවා, මුහුණේ දීප්තියක් ඇති වෙනවා.

අර්ෆකාන්: සලාතය හොඳ ශාරීරික අභ්‍යාසයක්. සිරුරට උද්යෝගීමත් බවක් ඇති වෙනවා. සුබ්හ් සලාතය ඉටු නොකරන අයගේ මුහුණු ෂෛයිතාන් කැත කරන බවත්, එනිසා අදාළ පුද්ගලයා එදින මැළවුණු ස්වභාවයෙන් සිටින බවත් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා පවසා තියෙනවා.

තාත්තා: එපමණක් නො වෙයි සුබ්හ් සලාතය ජමාඅතය සමඟ ඉටු කරන අයෙක් එදින අල්ලාහ්ගේ ආරක්ෂාව යටතට පත්



වෙන බවත් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා පවසා තියනවා. තව ද සලාතය ලැජ්ජා සහිත ක්‍රියාවන්ගෙන් හා නරක කාර්යයන්ගෙන් (සලාතය ඉටු කරන්නන්) වළක්වන බව ද අල් කුර්ආනය පවසනවා. සලාතය ඉටුකරන අප අවිධිමත් හා අශිෂ්ට ක්‍රියාවලින් වැළකී සිටිය යුතු යැයි ද මෙම වැකියෙන් අවධාරණය කෙරෙනවා.

මේ ආකාරයෙන් මස්ජිදයේ පාවහන් අවිධිමත් ලෙස තැබීම, මාර්ග නීති රීති නො පිළිගෙන ක්‍රියා කිරීම, පාසල්වල අසංවිධිත ලෙස හැසිරීම, නිවසේ දේවල් ඒ ඒ තැන්වල නොතැබීම නොහොබිනා ඇඳුම් ඇඳීම වැනි කරුණුවලින් අපව වළක්වනවා. එසේ ම සමාජයේ දක්නට ඇති දුප්පත්කම, දුගී බව, නොදැනුවත්කම, අක්‍රමිකතාව, සංස්කෘතියට පටහැනි බව, අසාධාරණය, අයුක්තිය ආදියට විරුද්ධව සටන් කිරීමේ අධිෂ්ඨානය ආදිය සලාතය මගින් අපට ලබා දෙනවා. මෙලෙස අපි බැතිබියෙන් යුක්ත ව අල්ලාහ් කෙරෙහි ඇති සෙනෙහෙ බැතියෙන් සලාතය ඉටු කළ යුතු ය. එවිට සලාතය පිළිගත් එකක් වේවි. එම නිසා සලාතය කෙරෙහි අධික ලෙස සැලකිල්ලක් දක්වා සලාතය ඉටු කරමු. අස්සලාමු අලයික්කුම්!

**සියල්ලන් ම:** ව අලයිකුමුස්සලාම් වරහ්මතුල්ලාහි වබරකාතුහු.

**අභ්‍යාසය**

කෙටි පිළිතුරු සපයන්න.

1. කියාමාවේ දී ප්‍රථමයෙන් විමර්ශනය කරන්නේ කුමන අමල් ද?
2. සලාතය කුමන අවස්ථාවක දී අනිවාර්ය කරනු ලැබුවේ ද?
3. ප්‍රථම ඇදවීම සියල්ල ම ඇදවීම යැයි රිෂාගේ කතාව විස්තර කරන්න.
4. අන් අයට පෙන්වීමට සලාතය ඉටුකරන්නන්ගේ තත්ත්වය කෙසේ වේ ද?
5. සලාතය මගින් අත්වන ප්‍රයෝජන 3ක් ලියන්න.

# 9

# සව්මයේ වැදගත්කම

شَهْرُ رَمَضَانَ الَّذِىٓ اُنْزِلَ فِيْهِ الْقُرْاٰنُ هُدًى لِّلنَّاسِ وَ بَيِّنٰتٍ مِّنَ الْهُدٰى وَالْفُرْقَانِ فَمَنْ شَهِدَ مِنكُمُ الشَّهْرَ فَلْيَصُمْهُ ۚ

**"රමළාන් මාසය (කවරාකාර මාසයක් යනහේ ද යත්) මනුෂ්‍ය වර්ගයාට (පරිසමාප්ත) මඟපෙන්වීම හා (නිවැරදි මාර්ගය දක්වන) පැහැදිලි ඉගැන්වීම්වලින් යුක්ත හා (සත්‍ය හා අසත්‍ය තෝරා ගැනීම) මිණුම් දණ්ඩ ද සැපයෙන අල් කුර්ආනය පිරිනමන ලද මාසය වේ. එබැවින් මේ මාසය තුළ ජීවතුන් අතර සිටින කවරකු හෝ වේවා ඔහු එහි (එම මාසයේ) සව්ම් ඉටු කළ යුතු ය." (2 .185)**

එය මුස්ලිම් ජනතාව වැඩිපුර ජීවත්වන ගම්මානයකි. එදා ගම් වැසියන් අතර අමුතු සතුටක් දක්නට ලැබුණේ ය. දරුවන් එම සතුට භුක්ති විඳීමේ අපේක්ෂාවෙන් එම දැන්වීම බලාපොරොත්තුවෙන් පසුවූහ.

"අද පළමු හඳ දකින්න තිබුණා. හෙට සිට සව්මය (උපවාසය) ආරම්භ වෙනවා." යන දැන්වීම ඇසුණි.

ළමයි සතුටින් උඩපැන්නෝය. සියල්ලන්ගේ ම මුහුණුවල අමුතුම සතුටක් පැතිරෙන්න විය. සියල්ලෝ ම මස්ජිදයට යෑමට සූදානම් වූහ. එහි ඉෂා සලාතය අවසන් වී මිහිරි කිරාත් හඬින් යුක්ත ව තරාවීහ් සලාතය ආරම්භ විය.

කලින් දන්වා තිබූ පරිදි තරාවීහ් සලාතයෙන් පසු විශේෂ ධර්ම දේශනාවක් ආරම්භ විය. ඒ දේශනාව (බයාන්) ඇසීමට සියල්ලෝ ම ළං වී වාඩි වූහ. බයානයේ ප්‍රධාන කොටස් මෙසේ විය. උපවාසයේ වැදගත්කම යන මැයෙන් ඒ ධර්ම දේශනාව පැවැත්විණි.

ඉස්ලාමීය මූලික වගකීම් අතරින් උපවාසය හතර වැන්නයි. එයට අරාබියෙන් අස්සව්ම් යැයි පැවසේ. එය හිජ්රි දෙවන වසරේ දී අනිවාර්ය කරනු ලැබුණි.

(පාඨම ආරම්භයේ සඳහන් අල් කුර්ආන් වැකිය සූරා බකරාවේ 185 වන) වැකිය වේ. ඒ අනුව රාමළානය වැදගත් මාසයකි. එම මාසයේ සවුමය ඉටු කිරීම යුතුකමක් බව පැහැදිලි කෙරේ. මෙසේ විවිධ හදීස් මගින් සවුමය අවධාරණය කෙරෙන අල්ලාහ් වෙනුවෙන් සවුමය ඉටු කරමි යන නිය්යතය සමගින් සහර් පටන් ඉෆ්තාරය දක්වා සවුමය බිඳ වන කටයුතුවල යෙදීමෙන් වැළකී සිටීම සවුමය වන්නේ ය.

රාමළාන් හි දී සිදු වන වැදගත් ඉබාදතය සවුමය වන්නේ ය. එයට කුසල් විශාල ප්‍රමාණයක් ලැබේ. "සවුමය මා සතු දෙයකි. එයට අදාළ කුලිය ලබාදෙන්නේ මමයි." (මුස්ලිම්) යැයි අල්ලාහ් පවසන බවට නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා පැවසූහ. රාමළාන් මාසය පැමිණියේ නම් ස්වර්ගයේ දොරවල් විවෘත ව තබන බවත් නිරයේ දොරටු වසා තබන බවත් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා පවසා ඇත්තේය. (බුහාරි/මුස්ලිම්)

මුස්ලිම් වූ ද නිසි වයසට පත්වූ ද සවුමය ඉටු කිරීමට ශාරීරික ශක්තිය ඇති ස්ත්‍රී, පුරුෂ දෙපාර්ශ්වය ම සවුමය ඉටු කිරිම අනිවාර්ය වන්නේ ය. එහෙත් මගීන්ට, වයෝවෘද්ධයන්, රෝගීන්, ගර්භණී මව්වරු, කිරිදෙන මව්වරු සහ මාස් ශුද්ධිය ඇති වූ කාන්තාවනට සවුමයේ සහනයක් ඇත.

**..නුඹලාගේ යමකු රෝගී වුවහොත් හෝ ගමනක යෙදී සිටියහොත් හෝ (ඔහු) එම දින ගණනම වෙනත් දිනවල සවුම් සමාදන් විය යුතුය. (2.184)**

ස්වර්ගයට දොරටු රැසකි. එයින් විශේෂ දොරටුව අර්රයියාන් නමින් හැඳින් වේ. එම දොරටුවෙන් පිවිසිය හැක්කේ සවුම්ධාරීන්ට පමණි. අන් කිසිවෙකුට එම දොරටුවෙන් පිවිසිය නො හැක. මෙලොව සෞඛ්‍යමත් දිවියට හා පරලොව සැපවත් ස්වර්ග දිවියටත් සවුමය වරප්‍රසාදයකි.

සවුම්ධාරීන්ට සහර් සහ ඉෆ්තාර් යන අවස්ථා දෙකක් ලැබී ඇත. මෙම අවස්ථා දෙකෙහි ම ආහාර අනුභව කිරීමට පමණක් සීමා නො වී දුආවෙහි යෙදීම ඉතා වැදගත් ය. සවුම්ධාරීන්ට සවුමය අවසන් කරන වේලාවේ දී ප්‍රතික්ෂේප නොකරන ප්‍රාර්ථනාවක් පවතින බව නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා පවසා ඇත. (ඉබ්නුමාජා ග්‍රන්ථය)

අල්ලාහ්ගේ නියෝගය නිසා ම සවුමය ඉටු කළ යුතු වන්නේ ය. සවුමය ඉටු කිරීමෙන් ගැත්තෝ අල්ලාහ්ගේ ශුද්ධ වූ තෘප්තිය බලාපොරොත්තු වෙති. අල්ලාහ් ද තම තෘප්තිය ගැත්තන්ට ලබාදෙයි.

ඔහුගේ තෘප්තිය ලැබුණේ නම් එයට වඩා අන් කිසිඳු ඉමහත් භාග්‍යයක් නැත. එය ලබා ගත හැක්කේ සව්මය ඉටු කිරීමෙන් පමණි.

"සව්මධාරීන්ට සතුටුදායක අවස්ථා දෙකකි. එයින් එකක් සව්මය අවසන් කරන විට ඇති වන සතුට වේ. අනෙක තම රබ්බු හමුවන විට ඇති වන ඉමහත් සතුට වන්නේ ය." යැයි නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (බුහාරි, මුස්ලිම්)

සව්මය ඉටු කිරීමෙන් දෙවියන් පිළිබඳ සිතුවිල්ල, සිත පාලනය කිරීම, ඉවසීම, දරා ගැනීම, දුගී දුප්පතුන් කෙරෙහි අනුකම්පාව, ඉබාදත් කෙරෙහි උනන්දුව, පාප ක්‍රියාවලින් ඈත් ව සිටීම, පරෝපකාරී සිතුවිල්ල ආදි යහගුණ ඇති වන්නේ ය. සව්මය රෝග බොහොමයකට ම නිවාරණය වන්නේ යැයි වෛද්‍යවරු පවසති.

රාමළාන් මාසයේ අති වැදගත් "ලයිලතුල් කද්ර්" යන උතුම් රාත්‍රියක් ඇත. එය මාස දහසකටත් වඩා උතුම් ය. එම රාත්‍රියේ යහඵල ලබා ගැනීමට නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා සහ සහාබාවරු මස්ජිදයේ "ඉඃතිකාෆ්" ගත කළහ. එහි අදහස එම රාත්‍රිය මඟ නොහැරිය යුතුය යන්නයි. මෙය ද රාමළාන් මාසයේ ඉටු කළ යුතු එක් වැදගත් ඉබාදතයකි.

රාමළාන් මාසයේ සව්මය ඉටු කිරීම ෆර්ල් වූ යුතුකම කි. එසේම සුන්නත් වූ සව්මය ඉටු කළ හැකි දින ද ඇත.

1) සතියේ දින :- සඳුදා සහ බ්‍රහස්පතින්දා

2) මාසිකව :- අයියාමුල් බීල් (ඉස්ලාමීය මාස ක්‍රමය අනුව 13,14,15 වන දිනය)

3) වාර්ෂිකව :- * ෂව්වාල් මාසයේ සවුම් හයක්

* තාසුආ, ආෂුරා දින

* අරෆා දිනය

* දුල්හජ් 1 සිට 8 වන දින දක්වා

එහෙත් සමහර දින සව්මය ඉටු කිරීම වළක්වා ඇත. සැකයට බඳුන් වූ දින, ඊද් උත්සව දින දෙක, අයියාමුල් තෂ්රීක් යන දින තුන ඒවාය. මෙසේ ධර්ම දේශනාව පැවතුණි.

එබැවින් ප්‍රවේශමෙන් සව්මය ඉටු කර, ඉඃතිකාෆය ගත කර, ලයිලතුල් කද්රය ද ලබා, අල්ලාහ්ගේ සියලු යහඵල අත් විඳිමු.

## අභ්‍යාසය

හිස්තැන් පුරවන්න.

1. රාමළාන් මාසයේ සෑම මුස්ලිම්වරයකුටම . . . . . . . . . . ඉටු කරන ලෙස අණ කර ඇත.
2. නිසි වයසට පැමිණි . . . . . . . . . . දෙපාර්ශ්වයට ම රාමළාන් මාසයේ සව්මය අනිවාර්ය වන්නේ ය.
3. අල් කුර්ආනය පහළ කරනු ලැබුවේ . . . . . . . . . . බෙදා වෙන් කරගත හැකි ආකාරයට ය.
4. රාමළාන් මාසයේ . . . . . . . . . . තුමා ද . . . . . . . . . . ද මස්ජිදයේ ඉඃතිකාෆ් ගත කර ඇත.
5. කිසිවක් . . . . .,. . . . .වූවා නම් ඔවුහු අන් දිනයක සව්මය ඉටු කරත්වා.
6. සව්මධාරීන් . . . . . . . . . .යේ අර්රයියාන් . . . . . . . . . න් ඇතුළු වෙති.
7. සව්මය ආරම්භ කරන වේලාව . . . . . . . . . . යැයි ද අවසන් කරන වේලාව . . . . . . . . . . යැයි ද නම් වේ.
8. . . . . . . . . . . රාත්‍රිය . . . . . . . . . . රාත්‍රීන්ට වඩා සුවිශේෂ ය.
9. සතිපතා සුන්නත් වූ සව්ම . . . . . . . . . . යන දිනවල ඉටු කළ හැකිය.
10. සව්මය ඉටු කිරීම 1. . . . . . . . . . 2. . . . . . . . . . යන දිනවල වළක්වා ඇත.

# 10

# දුආ හා දික්රය

## දුආ

අප ජීවත් වන්නේ විවිධ අවශ්‍යතා සහ ආශා සමග ය. ඒ අතර අපි එදිනෙදා විවිධ ගැටලු හා දුෂ්කරතාවලට මුහුණ දෙන්නෙමු. අපගේ ආශා ඉටුවීමට දුක් කරදර ඉවත් වීමට අප කළ යුත්තේ කුමක් ද? පැමිණිලි කරන්නේ කාටද?

ඔව්. අප ජීවත්වන මේ පොළොව හා එහි ඇති සියල්ල ම මැව්වේ සර්ව බලධාරි වූ අල්ලාහ් ය. අපගේ ඕනෑ එපාකම් ගැන දන්නේ ඔහු ය. එම නිසා අප ඔහුට පමණි පැමිණිලි කළ හැක්කේ, අවශ්‍යතා ඉටු කර දෙන ලෙස ඉල්ලීම් කළ හැක්කේ ද ඔහුට පමණි.

මිනිසුනේ, ඔබ අල්ලාහ් වෙත අවශ්‍යතා ඇති අය වෙති. ඔහු කිසිදු අවශ්‍යතාවක් නැති කෙනෙකි. ප්‍රශංසාවන්ට හිමිකරුය. (47:38)

ජීවිතයේ විවිධ අවස්ථාවල විවිධ අවශ්‍යතා සඳහා ප්‍රාර්ථනා කිරීමට දුආ යැයි කියනවා. අප ප්‍රාර්ථනා කරන්නේ අල්ලාහ්ගෙන් පමණි. අපගේ අවශ්‍යතා ඉටු කළ හැක්කේ ඔහුට පමණි.



"ඔබ නමදිමු (ඉබාදත් කරමු) තව ද ඔබගෙන් පමණක් පිහිට පතමු."(1:5)

"මගෙන් ප්‍රාර්ථනා කරනු. මම ඔබට පිළිතුරු දෙන්නෙමි." යැයි අල්ලාහ් පවසන්නේ ය. (40: 60)

"අපි අල්ලාහ් කෙරෙහි ගැඹුරින් විශ්වාස කරන්නෙමු. එහි ප්‍රතිඵලය වශයෙන් අපගේ ප්‍රාර්ථනා පවතී. ඒ නිසා ප්‍රාර්ථනාව යනු එක්තරා උසස් නැමදුමකි."

"ප්‍රාර්ථනාව යනු අල්ලාහ් නැමදීමයි." (තිර්මිදි) නැමදුම් කළ යුත්තේ අල්ලාහ්ට පමණි. එම නිසා අල්ලාහ්ගෙන් පමණක් ප්‍රාර්ථනා කරමු.

"අල්ලාහ් සමඟ අන් කිසිම දෙයක් සම කර ප්‍රාර්ථනා නොකරන්න. එසේ ප්‍රාර්ථනා කළේ නම් ඔබ දුක් වේදනාවලට ලක් වන්නන්ගෙන් කෙනකු වන්නේ ය. එම නිසා (නබි මුහම්මද්) නුඹ අල්ලාහ් සමඟ වෙනත් දෙවියකු නො කැඳවනු. එසේ කළ හොත් නුඹ දඬුවම් කරනු ලබන්නාගෙන් කෙනකු වනු ඇත."(26:213)

අපගේ ප්‍රාර්ථනා ඉටු වීමට කොන්දේසි කිහිපයක් වේ. ඒවා ගැන දැන ප්‍රාර්ථනා කිරීමේ දී පිළිපැදිය යුතු යි. ඒවා නම්

- අල්ලාහ්ගෙන් පමණක් ප්‍රාර්ථනා කිරීම
- අල්ලාහ් තම ප්‍රාර්ථනාවන්ට පිළිතුරු දෙන්නේ යැයි දැඩි විශ්වාස යෙන් යුක්ත ව ප්‍රාර්ථනා කිරීම
- සියලු කටයුතුවල දී හලාල් අනුගමනය කිරීම
- නෑකම බිඳ දැමීම නො කිරීම
- යහපත් ක්‍රියා සඳහා ප්‍රාර්ථනා කිරීම
- පිළිතුරු සඳහා හදිස්සි නො වීම

ඉස්ලාම් සියලු කටයුතු සඳහා පිළිවෙලක් හා විධිමත් ක්‍රම සකසා දී ඇත. ඒ අනුව ප්‍රාර්ථනා කරන අයකු පිළිපැදිය යුතු කරුණු කිහිපයක් පහත දැක්වේ.

- ප්‍රාර්ථනාවේ ආරම්භයේ හා අවසානයේ අල්ලාහ් ට ප්‍රශංසා කිරීම. නබි මුහම්මද් සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා කෙරෙහි සලවාත් කීම.
- චිත්තපාරිශුද්ධතාව හා යටහත්පහත් ව යාඥා කර ප්‍රාර්ථනා කිරීම
- ඉඛ්ලාසයෙන් සහ කැමැත්තෙන් ප්‍රාර්ථනා කිරීම
- මිස්වාක් කර වුලූඃ සමඟ පිරිසිදු වී ප්‍රාර්ථනා කිරීම
- හඬ පහත් කොට දෑත් ඔසවා ප්‍රාර්ථනා කිරීම
- ප්‍රාර්ථනා කිරීමට පෙර යහක්‍රියාවක් කිරීම
- තමා කළ යහක්‍රියා ඉදිරිපත් කර ප්‍රාර්ථනා කිරීම
- ප්‍රාර්ථනා අනුමත කරනු ලැබෙන විශේෂ ස්ථාන, කාලය හා අවස්ථා සැලකිල්ලට ගෙන ප්‍රාර්ථනා කිරීම.

මිනිසා ස්වාභාවයෙන් ම පව් කරන සුලු අයෙකි. ඔහු තමන් කළ පාප ක්‍රියා ගැන වටහාගෙන එයින් මිදීමේ අරමුණින් ප්‍රාර්ථනා කරන්නේ නම්, ඔහු

- තමන් කළ පාපයෙන් මිදී පූර්ණ වශයෙන් නිදහස් විය යුතු යි.
- පාප ක්‍රියාව අන් අයකුට කළ එකක් නම් අදාළ පුද්ගලයාගෙන් ප්‍රථමයෙන් සමාව අයැදිය යුතු ය.
- තමන් කළ පව් ගැන සිතා පසුතැවිලි වෙමින් ප්‍රාර්ථනා කළ යුතු ය.

තමාට හැකි ආකාරයට අල්ලාහ් අල් කුර්ආනයේ ප්‍රාර්ථනා කරන ලෙස ඉගැන්වූ වදන් කටපාඩම් කරන්නෙමු. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම්ගේ ප්‍රාර්ථනා ඉගෙන ගමු. ඒවා උපයෝගී කරගෙන ප්‍රාර්ථනා කිරීමට වෑයම් කරමු. නියත වශයෙන් අල්ලාහ් අපගේ ප්‍රාර්ථනාවලට පිළිතුරු දෙන්නේ ය යැයි නැතහොත් කියාමාවේ දී ඒවායේ ප්‍රතිඵල රැස්කර තබන්නේ ය. නැතහොත් එම ප්‍රාර්ථනාවල ප්‍රමාණයට අකුසල් වළක්වන්නේ ය යන හැඟීමෙන් ප්‍රාර්ථනා කරමු. සර්ව බලධාරී හා කරුණාවන්තයා වූ අල්ලාහ් අපගේ අවශ්‍යතා ඉටු කර දීමට සූදානමින් සිටින්නේ ය.

# දික්ර්

දික්ර් යන්න අල්ලාහ් සිහි කිරීමයි. මුඃමින්වරයෙක් මෙලොවෙහි හා පරලොවෙහි විමුක්තිය ලැබීමට දික්ර් අත්‍යවශ්‍ය වේ. එම නිසා අල් කුර්ආනය හා සුන්නාහ් විසින් වැඩි වැඩියෙන් දික්ර් කිරීම පිළිබඳ අවධාරණය කර ඇත.

"විශ්වාසවන්තයිනි, අල්ලාහ් වැඩි වැඩියෙන් සිහිපත් කරමු. තව ද උදේ සහ සවස ඔහු සුපිවිතුරු කරනු." (33:41:42)

මගේ ගැත්තා මා ගැන සිතන විට මම ඔහු සමඟ සිටිමි. ඔහු මා ගැන සිතුවේ නම් මම ඔහු ගැන සිතන්නෙමි. බොහෝ අය අතර සිටින විට ඔහු මා ගැන සිතුවේ නම් ඔවුනට වඩා හොඳ අය අතර මම ඔහු මතක් කරන්නෙමි යනුවෙන් අල්ලාහ් පවසන බව හදීස් කුද්සි හි සඳහන් වන්නේ ය.

"ඔබගේ දිව දිගින් දිගට ම අල්ලාහ් මතක් කිරීමෙහි තෙත් ව පවතීවා. අල් කුර්ආනය හා හදීසය දික්ර් නොකරන්නන්ට අනතුරු හඟවන්නේය. අල්ලාහ් මෙනෙහි කිරීමෙන් වැළකී තම සිත් රළු කර ගත් අයට විනාශයයි. ඔවුහු ප්‍රකට නොමගෙහිය."(39:22)

නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා දික්ර් නොකරන්නා මළමිනියකට සමාන කළහ.

තම රබ්බු මෙනෙහි කරන්නන් හා මෙනෙහි නොකරන්නන් පණ ඇති අයකුට හා පණ නැති අයකුට සමාන ය. (බුහාරි)

දික්ර් ආකාර දෙකකි.

1. දික්ර් කල්බි
2. දික්ර් ලිසානි

දික්ර් කල්බි යනු සිතෙන් අල්ලාහ් මතක් කිරීමයි. දික්ර් ලිසානි මුවින් ප්‍රකාශ කොට අල්ලාහ් සිහි කිරීමයි.

දික්ර් යන්න ජීවිතයේ සෑම අවස්ථාවක ම තිබිය යුත්තකි.

"දැනුම තේරුම ඇති ඔවුහු හිටගන්නා අවස්ථාවේත් වාඩි වී සිටින විටත්, තම ඉල ඇට මත ඇලවී සිටිමිනුත් අල්ලාහ් මතක් කරති." (3:191) යැයි අල් කුර්ආනය විස්තර කරයි.

මුඃමින්වරයකු ජීවත් විය යුත්තේ අල්ලාහ් මෙනෙහි කරමින් ය. ඒ සඳහා ඉස්ලාම් විවිධ ක්‍රමවේද ඇති කර ඇත. ඒවායින් සමහරක්

### 1. සලාතය, සව්මය, සකාතය, හජ් වැනි ඉබාදත්

"මා සිහිපත් කිරීමට සලාත් ඉටු කරනු." *(20:14)*

### 2. තිලාවතුල් කුර්ආන්

"කවරකුගේ සිතෙහි අල් කුර්ආනයේ යම් කොටසක් හෝ නැතිනම් ඔහුගේ සිත පාලු නිවසකට සමාන ය." (තිර්මිදි)

### 3. අවස්ථානුකූල (දුආ)

කෑම, නිදා ගැනීම, ඇඳුම් ඇඳීම, ඇඳුම් මාරු කිරීම, ගෙට ඇතුළු වීම, ගෙයින් පිටවීම, ගමන් යෑම , උදේ සවස දික්රය යනාදි විවිධ අවස්ථාවල පාරායනය කළ යුතු දුආ නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා පාරායනය කර පෙන්වා දී ඇත.

### 4. පොදු දික්ර්

දිවට පහසු වැකි දෙකක් ඇත. එහෙත් ඒවා කුසල් /අකුසල් මැන බලන තරාදිය මත අධික බර ඇති ඒවා ය. ප්‍රිය ජනක එම වැකි මහා දයාවන්තයානන්ට ඉතාමත් කැමති ඒවා ය.



سُبْحَانَ اللهِ وَبِحَمْدِهِ        سُبْحَانَ اللهِ العَظِيْمِ

තේරුම - (අල්ලාහ් ඉතාමත් පාරිශුද්ධය. ඔහුට ප්‍රශංසා කර ස්තුති කරමි. පරාක්‍රමශීලී වූ අල්ලාහ් පාරිශුද්ධය) (බුහාරි) වැකි හතරක් අල්ලාහ්ට ඉතාමත් කැමැති ඒවා ය. ඒවා

سُبْحَانَ اللهِ والحَمْدُ لِله ولآ اِلهَ الاَّ اللهُ واللهُ أَكْبَرَ

තේරුම - අල්ලාහ් ඉතා පාරිශුද්ධය. සියලු ම ප්‍රශංසා අල්ලාහ්ට ය. ඔහු හැර වෙනත් දෙවියකු නැත. අල්ලාහ් අති ශ්‍රේෂ්ඨ ය.

### 5. තව්බා

"අල්ලාහ් මත සහතික වෙමි. සැබැවින් ම දිනකට හැත්තෑ වාරයකට වැඩියෙන් අල්ලාහ්ගෙන් සමාව අයැදිමි. ඔහුගෙන් තව්බා කර විමුක්තිය ලබමි." (බුහාරි)

### 6. සලවාත් කීම

නියත වශයෙන් ම අල්ලාහ් ද ඔහුගේ මලක්වරුන් ද නබිවරයාට ආශිර්වාද කරති. විශ්වාසවන්තයිනි, නුඹලා ද ඔහුට ආශිර්වාද කරනු. තවද බෙහෙවින් සාමය පතනු. " (33:56)

### 7. දුආ

විවිධ අවස්ථාවල අල්ලාහ්ගෙන් ප්‍රාර්ථනා කිරීමෙන් අල්ලාහ් පිළිබඳ මෙනෙහි කරමින් ජීවත්විය හැකි ය.

අයකුට තනිව හෝ සමූහ වශයෙන් හෝ දික්ර් කළ හැකි ය. දික්ර් කරන අවස්ථාවේ දී සිරුර ඇඳුම් හා ස්ථානය, ආදිය පිරිසිදුව තිබිය යුතු ය. එසේ ම දේව භක්තියෙන් හා කීකරු ව සිත එක්තැන් ව සන්සුන්ව දික්ර් කළ යුතු ය.

දික්ර් කිරීමෙන් සිතේ සැනසිල්ලක් ඇති වන අතර මෙලොව හා පරලොව ජය අත්පත් වන බව අල් කුර්ආනය සඳහන් කරයි.

"දැන ගනු. අල්ලාහ් දික්ර් කිරීමෙන් ය සිත පිනායන්නේ." (13:28)

"අල්ලාහ් අධිකව සිහිපත් කරනු. නුඹලා ජයග්‍රාහකයන් වනු පිණිස." (62 : 10)

එම නිසා නබි මුහම්මද් සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා දේශනා කළ දික්ර් ඉගෙන ඒවා වනපොත් කර සියලු ම අවස්ථාවල පාරායනය කර ජීවිතයේ ජය ලබමු.

## අභ්‍යාසය

■ **පහත ප්‍රකාශ හරි නම් (හ) යැයි ද වැරදි නම් (වැ) යැයි ද සලකුණු කරන්න.**

1. ප්‍රාර්ථනා කිරීම නැමදුමකි. ( )
2. නෑදෑයින්ගේ සම්බන්ධය කඩ කළ අයගේ ප්‍රාර්ථනාවන්ට අල්ලාහ් පිළිතුරු දෙන්නේ නැත. ( )
3. ප්‍රාර්ථනාවල ආරම්භයේ හා අවසානයේ අල්ලාහ්ට ප්‍රශංසා කළ යුතු ය. ( )
4. ප්‍රාර්ථනා කරන අය අල්ලාහ්ගේ පිළිතුර සඳහා ඉක්මන් විය යුතු ය. ( )

■ **පහත ප්‍රශ්නවලට කෙටි පිළිතුරු සපයන්න.**

1. දික්ර් යනු කුමක් ද?
2. දික්ර් හි ආකාර දෙක සඳහන් කරන්න.
3. දික්ර් කරන්නා සහ දික්ර් නොකරන්නා කුමකට සමාන කර නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා විසින් පෙන්වා දෙනු ලැබුවේ ද?
4. දික්ර් මගින් ලැබෙන ප්‍රයෝජන පහක් ලියන්න.
5. ඔබ පාරායනය කරන අවස්ථානුකූල දුආවක් අරාබියෙන් ලියන්න.

# 11

# යහපත් මිතුරුකම

اَلْاَخِلَّآءُ يَوْمَ ئِذٍ بَعْضُهُمْ لِبَعْضٍ عَدُوٌّ اِلَّا الْمُتَّقِيْنَ

**හිතවත් මිතුරන් වූ අයගෙන් (දෙවියන්ට) බිය වී ජීවත් වූ අය හැර (අනෙක් අය) එම දිනයේ දී එකිනෙකාට සතුරන් වනු ඇත. (43 .67)**

මිනිසකුගේ ජීවිතය කෙරෙහි බලපෑම් කරන සාධක ලෙස මිතුරුකම දැක්විය හැකි ය. ඉස්ලාම්, මිතුරුකමට විශාල වැදගත්කමක් ලබා දී ඇත්තේ ය. එය ගැන වැඩිපුර කතා කර ඇත. ඉස්ලාම් දක්වා ඇති ආකාරයට මිත්‍රත්වය ඇතිවන විට එය අල්ලාහ්ගේ ආදරය ද කරුණාව ද ලබා දෙන්නේ ය. එයට වෙනස් වූ මිත්‍රත්වයක් පවතින විට ලොව විවිධ ආකාරයේ ප්‍රශ්න, දුක් වේදනා ඇති කරන්නේ ය. එසේ ම කියාමාවේ දී අල්ලාහ්ගේ කෝපය ද දඬුවම ද ගෙන දෙන්නේ ය.



## ඉස්ලාමයට අනුකූල ව මිතුදම පහත දක්වා ඇති අන්දමට තිබිය යුතුයි

■ **දේව විශ්වාසය**

දේව විශ්වාසය ඇති අයකු ඔබගේ මිත්‍රයකු කර ගන්න (අබූදාවූද්)

■ **අල්ලාහ් වෙනුවෙන් මිතුදම**

ඊමාන් හි මිහිරියාව විඳීමට භාග්‍යලත් හොඳ මුස්ලිම්වරයකුගේ ලක්ෂණවලින් එකක්, ''ඔහු යමකට සෙනෙහස දක්වනුයේත් සෙනෙහස නොදක්වනුයේත් අල්ලාහ් වෙනුවෙනි'' (මුස්ලිම්)

■ **දේව බිය**

''හිතවත් මිතුරන් වූ අයගෙන් (දෙවියන්ට) බිය වී ජීවත් වූ අය හැර අනික් අය එම දිනයේ දී කෙනෙකුට අනික් කෙනා සතුරන් වනු ඇත.'' (43:67)



■ **පිවිතුරු බව**

තම මිතුරන් අතරෙන් ඉතා හොඳ කෙනා අල්ලාහ්ට ඉතා හොඳ කෙනෙක් වන්නේ ය. (තිර්මිදි)

**යහපත පනවා අයහපත වැළැක්වීම**

සහබාවරුන්ගේ අයෙක් අන් අයකු හමු වූ විට, ''අපි අපගේ ඊමානය අලුත් කර ගනිමු.'' ''අන් අය නොසැලකිල්ලෙන් සිටින මේ දිනවල අපි දෙවියන්ගෙන් පව් සමාව ඉල්ලමු.'' වැනි වචන පවසා යහපත කෙරෙහි උනන්දු කරවන්නන් ලෙස සිටියහ.

මිත්‍රත්වය හොඳින් පවත්වා ගත හැකි ක්‍රමවේද කිහිපයක් ඉස්ලාම් පෙන්වා දී ඇත.

1. **මිතුරන් මුළුමනින් ම වටහා ගැනීම**

''මිනිසකු තවත් මිනිසකු සමඟ මිතුරු වූ වා නම් ඔහුගේ නම්, පියාගේ නම්, පරම්පරාව වැනි දේ අසා දැන ගත්තාවේ. එය ඔවුනතර මිත්‍රත්වය දැඩි ව පැවැතීමට හේතුවක් වන්නේ'' ය. (තිර්මිදි)

2. මිත්‍රත්වය පවත්වා ගැනීම

"ඔබගේ අයෙක් තම සහෝදරයා, මිතුරා සමඟ මිතුරු වූයේ නම් තමන් ඔහු කෙරෙහි මිතුරු වූ බව දැක්වූවාවේ." (අහ්මද්)

3. තෑගි භෝග හුවමාරු කර ගැනීම

"තෑගි භෝග හුවමාරු කරගන්න; එය සෙනෙහස වැඩි කරයි" (බුහාරි)

4. සුබ පැතීම්, මුසාබහාව අතට අතදීම හා මුආනාකා (වැලඳගැනීම) කිරීම.

මුඃමින්වරයකුගේ උතුම් අරමුණ අල්ලාහ්ගේ තෘප්තිය ලබා ගත යුතු ය යන්නයි. හොඳ මිතුරුකම මෙයට සුදුසු අවස්ථාවක් වන්නේ ය.

යහපත් මිතුරුකමේ ප්‍රයෝජන

- කියාමාවේ සෙවණක් නොමැති මහ්ෂරයේ මෙම මිතුරුකම අපට සෙවණක් ලබා දෙන්නේ ය.

  "මාගේ මහෝන්නතාවය මත සෙනෙහස දක්වන්නන් කොහි ද? වෙනත් සෙවණක් නැති එම දිනයේ දී; මම ඔවුනට සෙවණ ලබා දෙන්නෙමි." (අහ්මද්)

- අල්ලාහ් වෙනුවෙන් සෙනෙහස දැක්වූ අය කියාමාවේ දී උසස් තත්ත්වයක් ලබති.

"සමහරු අල්ලාහ්ගේ ගැත්තෝ වෙති. ඔවුහු වක්තෘහු හෝ ෂුහදාවරු හෝ නොවෙති. එහෙත් ඔවුන්ට අල්ලාහ් වෙතින් හිමි වන්නාවූ උතුම් තත්ත්වය දැක ෂුහදාවරු සහ වක්තෘවරු පවා ඊර්ෂ්‍යා වෙති. ඔවුහු අල්ලාහ් වෙනුවෙන් ඔවුනොවුන්ට සෙනෙහස දැක් වූ අය වෙති." (අහ්මද්)

- මිතුදම අපගේ පෞරුෂය කෙරෙහි බලපායි.

"යහපත් මිතුරන් සමඟ ඇති අපගේ මිතුරුකම අපට යහපත ගෙනෙන්නාක් මෙන් නරක මිතුරන් සමඟ ඇති මිතුරුකම අයහපත ම ගෙනෙන්නේ ය.

"හොඳ මිතුරා හා නරක මිතුරාට උදාහරණ කස්තුරි වෙළෙන්දා සහ කම්මල්කරුවාට සමාන ය. කස්තුරි වෙළෙන්දා ඔබ සිරුරෙහි කස්තුරි තැවරිය හැකි ය. නැතහොත් එයින් කොටසක් ඔබට ලබා ගත හැකි ය. නැතහොත් එහි සුවඳ ඔබට විඳිය හැකි ය. කම්මල්කරුවාගේ ළිපෙන් ලැබෙන ගිනිදැල් ඔබගේ ඇඳුම් දවා ලිය හැකි ය. නැතහොත් එහි දුම ඔබගේ නාසය දවාලිය හැකි ය. (බුහාරි)

### නරක මිතුදම අපහාසයක් ලබා දෙන්නේ ය

ඉස්ලාමීය ක්‍රමවල වෙනස් වූ මිතුරුකම ලොවේ විවිධ අකාරයේ අපහාස ඇති කරන්නාක් මෙන් ම කියාමාවේ දී පහත් තත්ත්වයක් හා දුකක් ගෙන දෙන්නේ ය.

"අහෝ! මට ඇති වූ විනාශය (මා නොමඟ යැවූ අය මිතුරකු කර ගෙන නොතිබුණා නොවේ ද? සැබවින් ම මිනිසාහට හිතෝපදේශයන් ලැබුණු පසුත් එයින් ඔහු මා නොමඟ යැවුවේ ය." (25:28:29)

මුස්ලිම්වරයකු තම කියාමා ජීවිතය අරමුණු කරගෙන හොඳ මිතුරුකමක් ගොඩ නැඟිය යුතු ය. ගුරුවරුන්, ආලිම්වරුන්, උගතුන් වැනි අය සමඟ මිතුදම ගොඩ නගා ඔවුනොවුන්ගෙන් හොඳ පූර්වාදර්ශ ඉගෙන අනුගමනය කළ යුතු ය. එසේ ම අල් කුර්ආනය පාරායනය කිරීම, ඉගෙනීම, සුන්නත් සලාතයන් හා සෞමය ඉටු කිරීම, දික්ර්, අව්රාදයන්, ආදි සාලිහ් වූ අමල් තම මිතුරු හිත්ගත් ක්‍රියාවන් කර ගත යුතු ය. තව ද හොඳ පොත්පත් සඟරා ආදිය කියවීම, ප්‍රයෝජනවත් විනෝද ක්‍රියාවල යෙදීම, දේහ ශක්තිය වඩවන අභ්‍යාසවල යෙදීම, වැනි ක්‍රියාකාරකම් තම මිතුරු හිත්ගත් ක්‍රියා කර ගත යුතු ය

#### අභ්‍යාසය

වරහන් තුළ දී ඇති ඒවා භාවිත කර පහත වාක්‍ය සම්පූර්ණ කරන්න.

1 හොඳ මිත්‍රයාට උදාහරණයකි.................................................................
..........................................

2 අල්ලාහ් වෙනුවෙන් සෙනෙහස දක්වන්නෙ.........................................
..........................................................

3 තැගි බෝග හුවමාරු කර ගැනීම..........................................................
...................................................

4 පිරිසිදු මිතුරුකම හේතුවෙන් සාමාන්‍ය මිනිසුන් අල්ලාහ්ගෙන් ලබන තත්ත්වය බලා.......................................................................

5 අපගේ හොඳ අමල් අපට කියාමාවේ දී නිර්දේශ ඉදිරිපත් කරයි
...........................................................................................

(මිතුරුකම වැඩි කරයි. නිර්දේශ ඉදිරිපත් කරයි, කස්තුරි වෙළඳා, නබිවරු ද ඊර්ශ්‍යා කරති, කියාමාවේ සෙවණ ලබති).

# 12

# අන් අයට උදවු කරමු

وَتَعَاوَنُوْا عَلَى الْبِرِّ وَالتَّقْوٰى وَلَا تَعَاوَنُوْا عَلَى الْاِثْمِ وَالْعُدْوَانِ

**"...තව ද යහපත් පුණ්‍ය කටයුතුවලදී ද, බිය බැතිමත්භාවයේ දී ද, එකිනෙකාට සහාය වනු. පාපකාරී (කටයුතු) හා සීමාව ඉක්මවා යාම (කටයුතුවල) ට නුඹලා එකිනෙකාට සහාය නොවනු..."(5:2)**

අල්ලාහ් තආලා මෙලොව ද, එහි ඇති සියල්ල සමහර නිර්ණායක, පදනමින් මවා පරිපාලනය කරයි. සියලු ජීවීන් එකිනෙකා මත යැපෙමින් ජීවත් වීමේ ක්‍රමයට ඔහු මවා ඇත්තේ ය. මිනිසා මවා ඇත්තේ ඉතා උතුම් මැවුමක් වශයෙනි. ලොව හොඳ සමාජයක් බිහි කිරීමට අවශ්‍ය මාර්ගෝපදේශ ලබා දී ඇත. මෙම දේව මාර්ගෝපදේශය ඉස්ලාම් ආගම වන්නේ ය.

ඉස්ලාමය පිළිගත් සියල්ලන් ම මිනිස් සමාජයේ ප්‍රවර්ධනය සඳහා මෙන් ම දියුණුව උදෙසා ද කැපවිය යුතු බව ඉස්ලාම් අවධාරණය කරයි. මෙය මෙම පාඩම ආරම්භයේ ඇති කුර්ආන් වැකියෙන් (5:2) පෙන්වා දෙන්නේ ය.



මුඃමින්වරයෙකුගේ සියලු ම ක්‍රියාකාරකම් අන් අයට ප්‍රයෝජන ලබා දෙන ඒවා විය යුතු යි. ඔහු තමා වෙනුවෙන් පමණක් නොව අන් අය වෙනුවෙන් ද ජීවත් විය යුතු ය. එවිට ය ඔහුගේ ජීවිතය අර්ථවත් වනුයේ.

''මිනිසුන් අතර සිටින හොඳ පුද්ගලයා මිනිසුන්ට වඩාත් ප්‍රයෝජනවත් වන්නා ය.''(බයිහකී) යන හදීසයට අනුව, මුස්ලිම්වරයකු ජාති, ආගම්, කුල, වර්ණ භේද නොතකා සමාජයට ප්‍රයෝජනවත් මිනිසකු සේ සිටිය යුතු ය යන්න අවබෝධ කරයි.''

අල්ලාහ්තආලාට වඩා ප්‍රියමනාප තැනැත්තා, මිනිසුන්ට ප්‍රයෝජනවත් වන්නා ය. මුස්ලිම්වරයකුගේ සිතෙහි සතුට ඇති කිරීම, ඔහුගෙන් දුක ඉවත් කිරීම, ඔහුගේ ණය බේරීම, ගෞරවය රැකීම, යහපත පනවා අයහපත වැළැක්වීම, මහමාර්ගයේ ඇති ගල්මුල් ඉවත් කිරීම, අන්ධයන්, බිහිරන්, ගොළුවන් වැනි අයට උදවු කිරීම, පිපාසයෙන් සිටින්නන්ට ජලය පෙවීම, කුසගින්නෙන් පෙළෙන්නන්ට කෑම දීම, බෙලහීනයන්ට උරදීම, ආදී සියල්ල අල්ලාහ්ගේ සෙනෙහස ලබා දෙන ක්‍රියාවන් ය.

''තමා කැමති දෙය තම සහෝදරයා වෙනුවෙන් ද කැමති වන තෙක් ඔබගෙන් කිසිවකු සැබෑ විශ්වාසවන්තයා නොවනු ඇත. (බුහාරි, මුස්ලිම්)

සමාජයේ සිටින අනාථයින්, වැන්දඹුවන්, ශාරීරික ඌනතා ඇති අය, දුගීන්, කාන්තාවන්, බාලයින් වැඩිහිටියන් වැනි දුර්වලයින් සුරැකිය යුත්තන් වනවා. ඔවුන් සමඟ ආදර කරුණාවෙන් හැසිරිය යුතු ය. ඔවුන් පහත් කොට හෝ බරක් වශයෙන් හෝ නොසැලකිය යුතු ය. ඔවුහු අල්ලාහ් ආසන්නයේ ගෞරවයට පාත්‍ර වූවෝ ය.

''තව ද, අල්ලාහ්ට අවනත වන්න. ඔහුට කිසිවක් සම නොකරන්න. තව ද,මව්පියන්ටත් කිට්ටු නෑදෑයින්ටත්, අනාථයන්ටත්, දුගීන්ටත්, අසල්වැසි නෑදෑයින්ටත්, ගමනක යෙදෙන්නන්ට හෝ මඟීන්ටත් අසල්වැසි නෑදෑයින් නොවන අයටත්, (ගමන් බිමන් හා රැකියාවල යෙදී සිටින්නන්ටත්) මිතුරන් ව සිටින්නන්ටත්, ඔබ ළඟ සිටින වහලුන්ටත් ආදරයෙන් උදවු උපකාර කරන්න. සැබවින් ම අල්ලාහ් ආඩම්බරකාරයන්ටත්, අනවශ්‍ය උඩඟු අයටත් ළෙංගතු නො වෙයි.” ( 4:36)

ඔබට උදවු කරනු ලබන්නේත් කෑම බීම දෙනු ලබන්නේත්, ඔබ අතර සිටින්නා වූ දුර්වලයින් හේතුවෙනි. (අබූ දාවුද්)

අල් කුර්ආනය විවිධ ස්ථානවල ඉබාදත් කරන ලෙස පවසා යහපත් ක්‍රියාවන් කරන්නැයි පවසයි. ''ඊමාන්ධාරිනි, ඔබ රුකූඃ කරන්න. සුජූද් කරන්න. යහපත් ක්‍රියාවල යෙදෙන්න. ඔබ ජය ලබන්නේ ය.''(අල් කුර්ආන් 22: 77)

''විසඳුම් දිනය අසත්‍ය යැයි සලකන්නා දෙස ඔබ බැලුවා ද? ඔහු අනාථයින් පන්නා දමයි. දුප්පතුන්ට ආහාර දෙන්න යැයි ඔහු පොළඹවනු ලබන්නේ නැත.'' (107: 1 - 3)

නැමදුම් හා වත් පිළිවෙත්වල යෙදීම මෙන් ම සමාජයේ සිටින දුර්වලයන් වෙනුවෙන් වැඩ කිරීම ද වගකීමකි. එකක් හැර අනෙක පමණක් කළේ නම්, කිසි විටෙකත් කියාමාවේ දී ජය අත් නොවන්නේ ය. ඉස්ලාමීය සමාජයේ සිටින කිසිදු සාමාජිකයකු අත් නොහරිනු ලැබිය යුතු ය.

''සියල්ලන්ගේ ම සැප දුක්වලට සහභාගි විය යුතු ය. එමගින් පමණි සමාජයේ සංවිධානාත්මක බව හා ස්ථාවර බව රැකෙන්නේ. ඒ නිසා නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් මුස්ලිම් සමාජය සිරුරකට සමාන කළේ ය.

''එකිනෙකාට සෙනෙහස දැක්වීමේ දී හා කරුණාව දැක්වීමේ දී මුස්ලිම්වරුන් එක් සිරුරකට සමාන ය. එහි එක් කොටසක් රෝගවූවත් අනෙක් අවයව ද ඇහිරී සිටිමින් (උණෙන් පෙළී) එම දුකෙහි කොටස් කරුවකු වන්නේ ය. (බුහාරි මුස්ලිම්)



එක් මුස්ලිම්වරයෙක් අනෙක් මුස්ලිම්වරයාගේ සොයුරා ය. ඔහු අනෙක් මුස්ලිම්වරයාට අසාධාරණයක් නො කරයි; ඔහු අසරණ නො කරයි. (බුහාරි, මුස්ලිම්)

මුස්ලිම් වූ අයකු අනික් සොයුරාට ප්‍රයෝජනවත් අයකු ව ජීවත් වන විට ඔහුගේ සිත පුළුල් වන්නේ ය. කෑදරකම ඉවත් වන්නේ ය. අල්ලාහ්ගේ ආදරය හා කරුණාව හිමි වන්නේ ය. කියාමාවේ දුක් වේදනාව ඉවත් වන්නේ ය.

''කවරකු මුස්ලිම්වරයකුගේ දුක් වේදනා ඉවත් කර ඔහු සතුටට පත් කරන්නේ ද, අල්ලාහ් කියාමා දිනයේ දී ඔහුගෙන් එම දුක් වේදනා ඉවත් කර ඔහු සතුටු කරන්නේ ය. (බුහාරි මුස්ලිම්)

### අභ්‍යාසය

1. මුස්ලිම්වරුන් අතර වෙනසක් නොපවතින අයුරින් අන් අයට උදවු කළ යුතු බව පෙන්වන හදීසය සඳහන් කරන්න.
2. මිනිසුන් ට ප්‍රයෝජනවත් වන අයකු ලෙස ජීවත් වීම පිළිබඳ උදාහරණ පහක් ඉදිරිපත් කරන්න.
3. සමාජය විසින් සුරැකිය යුතු දුබලයන්ගේ ලැයිස්තුවක් ඉදිරිපත් කරන්න.
4. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා මුස්ලිම් සමාජය සිරුරේ අවයවවලට සමාන කර තිබීමේ හේතුව පහදන්න.

13

# අන් අයගේ දෑ ඔවුන්ගේ අවසරය පිට භාවිත කිරීම

يَاَيُّهَا الَّذِيْنَ اٰمَنُوْا لَا تَدْخُلُوْا بُيُوْتًا غَيْرَ بُيُوْتِكُمْ حَتّٰى تَسْتَاْنِسُوْا وَتُسَلِّمُوْا عَلٰٓى اَهْلِهَا ذٰ لِكُمْ خَيْرٌ لَّكُمْ لَعَلَّكُمْ تَذَكَّرُوْنَ

**"විශ්වාසවන්තයිනි! ඔබගේ නිවෙස් හැර (අන්) නිවාසවලට එහි (නිවසෙහි) ඇත්තන්ගේ අවසරය ඇති ව, නිවැසියන්ට සලාම් නොපවසන තෙක් (එතුළට) ඇතුළු නොවන්න. (එසේ හැසිරීම) ඔබලාට යහපතක් ම වේ. ඔබලා යහ උපදේශය ලැබීමට (මෙය ඔබලාට පවසනු ලබයි)"** (24:27)

සයියාබ් ආමීර් යන දෙදෙනා අඹ යහළුවෝ ය. ඔවුහු දෙදෙනා ම නොවරදවා ම පාසල් යති. පන්ති කාමර කටයුතුවල දී මොවුහු දෙදෙනා ම ඉදිරියෙන් සිටිති. සයියාබ් තම පියාගේ අසනීපය නිසා උපකාර කිරීම පිණිස එදින පාසලට නො ගොස් සිටියේ ය. තම මිතුරා පාසලට නොපැමිණීම ආමීර්ට ගැටලුවක් වූයේ ය. මවට කරුණු කී ආමීර් සයියාබ්ගේ ගෙදරට ගියේ ය. නිවසේ දොර තරමක් ඇර තිබුණි. ආමීර් නිවසට එක් වර ම ඇතුළු නොවී පැත්තකට වී සිට ඇතුළට ඇහෙන සේ සලාම් තුන් වරක් ම කීවේ ය. පිළිතුරක් නොලැබුණු අතර කිසිවෙකු පිටතට නොපැමිණි බැවින් ඔහු ආපසු යන්නට සූදානම් වූයේ ය. එවිට නිවස තුළින් හඬක් ඇසුණි.

**සයියාබ්:** අස්සලාමු අලයිකුම්. ආමීර් ඇයි ගේ ළඟට ඇවිල්ලත් ඇතුළට නැවිත් ආපහු යන්නේ ?

**ආමීර්:** ව අලයිකුම් සලාම්, ඔබට සලාම් කිව්වා. පිළිතුරක් නැති නිසා ආපහු යන්න හැරුණා.

**සයියාබ්:** මේ අලුත් කතාවක්නේ ? වෙන දා අපේ ගෙදර ආවා ම සලාම් කියාගෙන ගෙට ඇතුළු වෙනවා නේද? එසේ ම එන්න තිබුණා නේ ?

ආමීර්: සයියාබ්! අද ඉස්ලාම් පාඩමේ දී මම මේ පිළිවෙත ඉගෙන ගත්තා. අන් අයගේ නිවසකට ගියා ම අප අනිවාර්යයෙන් ම තෙවරක් සලාම් කියා ඇතුළුවීමට අවසර පැතිය යුතු යි. අවසර නොලැබුණා ම ආපහු යා යුතු යි. යැයි ගුරුතුමා කියා දුන්නා. ඒ පිළිවෙත තමා මම දැන් ක්‍රියාත්මක කළේ. අපි යමක් ඉගෙන ගත්තා නම් එය ක්‍රියාත්මක කළ යුතු යි. එසේ නොකිරීම පාපයක් නේද?

සයියාබ්: ඔව්! ඔබ හොඳ දෙයක් මටත් කියා දුන්නා.

ආමීර්: ඔබ ඇයි අද පාසලට නාවේ? ඒක දැන ගන්න ආවේ.

සයියාබ්: අද උදේ හදිස්සියේ ම තාත්තාට අසනීප වුණා. තාත්තා එක්ක රෝහලට ගියා දැන් ටිකක් හොඳයි. අල්හම්දුලිල්ලාහ්!

ආමීර්: ඔබගේ පියාට අල්ලාහ් හොඳ ශරීර සෞඛ්‍ය ලබා දෙත්වා!

සයියාබ්: ඔබ ආපු එක මට සතුටක්. අද ඉස්ලාම් පාඩමේ දී තව මොනවා ද ඉගෙන ගත්තේ?

ආමීර්: අනික් අයගේ බඩු බාහිරාදිය ඒ අයගේ අවසරයක් නැති ව භාවිත නොකළ යුතු යි කියා ඉගෙන ගත්තා. අන් අයගේ නිවසට ඇතුළුවන විට ඔවුන්ගේ අවසරය ලබා ඇතුළුවීම, ආදිය පිළිබඳ ව ඉගෙන ගත්තා. අපේ එදිනෙදා ජීවිතයේ අප නොදැනුවත් ව සිදුවන මේ වගේ වැරදි අඩුපාඩුකම් ගැන කියලා දුන්නා.

සයියාබ්: අනික් අයගේ බඩු බාහිරාදිය පාවිච්චි කරන්න ඒ අයගේ අවසරය හැම විට ම ලබා ගන්න ඕනෑ ද?

ආමීර්: අපේ ගෙදර, පාසල, පන්ති කාමරය වගේ කොහේ සිටියත් අපි අනික් අයගේ බඩු බාහිරාදිය ඒ අයගේ අවසරය ඇතිවයි පාවිච්චි කරන්න ඕනෑ. එහෙම අවසර නැති ව භාවිත කිරීම හරාම්. අපි අනවසරයෙන් අන් අයගේ ද්‍රව්‍ය භාවිත කරන කොට විවිධ අයහපත් ප්‍රතිඵල ඇතිවෙන්නට පුළුවනි. සමහර අවස්ථාවල මිතුරන් හා නෑදෑයින් අතර විරෝධය ද ඇති



වෙන්න පුළුවනි. අන් අයගේ ද්‍රව්‍ය භාවිත කරන විට, ඉස්ලාම් ඉතා පරිස්සමින් කටයුතු කළ යුතු බව ද, සඳහන් වන බව ගුරුතුමා සාධක සහිත ව පැහැදිලි කළා.

**සයියාබ්:** ඔව්! පසුගිය සතියේ අපේ හවස පන්තියේ දී ඒ වගේ සිද්ධියක් සිදුවුණා. රලීන්ගේ පෑන ඔහුගේ අවසරය නැති ව ගත් වසීම් ඒක අල්ලපු පන්තියේ රිෆාන්ට දුන්නා. ඒත් ඒකට ඔහු අවසර ගත්තෙත් නෑ. රිෆාන්ට ඒ ගැන කිසිවක් කිවුවෙත් නැහැ. ඒ හින්දා රලීන් තරහ වී ගුරුතුමාට පැමිණිලි කළා. ගුරුතුමා ඒ ගැන විමසා ප්‍රසිද්ධියේ ප්‍රශ්න කරන විට, පන්තියේ ඉගැන්වීම් කටයුතු වලට බාධා වුණා. ඒ අතර ගජ මිතුරන් වූ රලීන් හා වසීම් කතා බහ කිරීම ද නතර කළා

**ආමීර්:** ඉස්ලාම් ගුරුතුමා ද පන්ති පරිසරය හා නිවෙස් පරිසරය ආදියේ සිදුවන මෙවැනි සිද්ධීන් රැසක් පෙන්වා දුන්නා. අවසරය නොමැති ව අයකුගේ ද්‍රව්‍ය ගැනීම නිසා ක්‍රෝධය වැඩිවෙනවා. අයකු අන් අය කෙරෙහි සැක කරයි නම් ඔවුන් අතර බැඳීම දුරස් වෙනවා. නොසන්සුන් තත්ත්වයක් හා කලබලකාරී පරිසරයක් බිහි වෙනවා. එම නිසා ඉතා කුඩා දෙයක් වුවත් අදාළ අයගේ අවසරය ඇතුව ලබා ගත යුතුයි. හදිසි අවස්ථාවක

දී අවසරයක් ලබා ගැනීමට නොහැකි වූ විටක, පසුව ඔහුට දැනුම් දීමට ඉදිරිපත් විය යුතුයි. එහෙම කරන්නේ නැත්නම් එය හොරකම් කිරීමකට සමාන වෙනවා කියා ගුරුතුමා කියා දුන්නා.

**සයියාබ්:** අපගේ කිට්ටු නෑයන් හා මිතුරන්ගේ නිවෙස්වලට යන විටත් ඇතුළුවීමට අවසර ගන්න ඕනෑ ද?

**ආමීර්:** අපි කාගේ නිවසට ගියත් සලාම් කියා අවසරය ලබා ගන්න ඕනෑ. තුන් වරක් අවසර ඉල්ලූ විට දී ත් අවසරය ලැබුණේ නැතිනම් ආපසු හැරිය යුතු බවයි ඉස්ලාම් අපට කියා දී තිබෙන්නේ.

**සයියාබ්:** ගුරුතුමා මෙයට කිසි යම් ඓතිහාසික සාධක ඉදිරිපත් කළා ද?

**ආමීර්:** ඔව්, අල් කුර්ආනයෙන් හා නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ ජීවිතයෙනුත් ලස්සන උදාහරණ ඉදිරිපත් කළා.

''විශ්වාසවන්තයිනි! ඔබට ඔබගේ නොවන වෙනත් නිවෙස්වලට ඇතුළුවීමට අවශ්‍යතාවක් ඇති වූවා නම්, එම ගෙවල්වල සිටින අයගෙන් ඔබ තුන්වතාවක් අවසර ඉල්ලා එම නිවෙස්වල සිටින අයට, සලාම් පවසන තෙක් (ඒවාට) ඇතුළු නොවන්න (24:27)

''අල්ලාහ්ගේ දූතයාණන්, සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ඔබගෙන් අයකු තෙවරක් අවසර ඉල්ලා ඔහුට අවසර නොලැබුණු විට ඔහු ආපහු හැරුණදෙන්'' යැයි පවසා ඇත. (බුහාරි)

**සයියාබ්:** අප යම් දෙයක් පාරේ හෝ පොදු ස්ථානයකින් අහුලා ගත් විට එය අනවසරයෙන් භාවිත කළ හැකි ද? මෙයට ගුරුතුමා පැහැදිලි කිරීමක් කළා ද?

**ආමීර්:** මේ පිළිබඳ ව හොඳ පහදා දීමක් ගුරුතුමා ලබා දුන්නා අප පොදු ස්ථානයකින් හෝ මහපාරේ තිබී යමක් ඇහින්ද නම් එය එතැන ම අතහැර එන්න ඕනෑ. නැතහොත් අයිතිකරු සොයා බාර දෙන්න ඕනෑ.

**සයියාබ්:** ජසාකල්ලාහු හයිරන්! ආමීර් ආ හින්දා මම ගොඩක් කරුණු දැන ගත්තා. අපි ඉගෙන ගත්ත කරුණු අපගේ ජීවිතයේ දී අනුගමනය කර ආනිශංස ලබමු. ඉන්ෂා අල්ලාහ්!

## අභ්‍යාස

1. අපට අයත් නොවන යමක් භාවිත කිරීමට සිදු වූවා නම් අප කුමන ක්‍රම අනුගමනය කළ යුතු ද යන්න කෙටියෙන් පවසන්න.
2. අන් අයගේ බඩු බාහිරාදිය අවසර නොමැති ව භාවිත කිරීම නිසා ඇතිවන විපාක ලැයිස්තු ගත කරන්න.
3. පොදු ස්ථානවලින් සොයා ගන්නා දේවලට කුමක් කළ යුතුදැයි කෙටියෙන් ලියන්න.
4. අන් අයගේ නිවෙස්වලට ඇතුළු වීමට පෙර අප අනුගමනය කළ යුතු පිළිවෙත් පිළිවෙළින් ලියන්න.

14

# අල්ලාහ්ගේ ආගම්

وَالَّذِيْنَ يُؤْمِنُوْنَ بِمَا اُنْزِلَ اِلَيْكَ وَمَا اُنْزِلَ مِنْ قَبْلِكَ وَبِالْاٰخِرَةِ هُمْ يُوْقِنُوْنَ

**"තව ද නුඹ වෙත පහළ කළ දෑ (අල්කුර්ආනය) ගැන ද, නුඹට පෙර (පැමිණියාවු වක්තෘවරුන්ට) පහළ කළ දෑ ගැන විශ්වාස කරන්නා වූ ද, තව ද පරමාන්ත දිනය ගැන තරයේ ම විශ්වාස කරන්නා වූ ද, (බිය හා බැතිමත් අය වෙති....."** (2 : 4)

මිනිසුන්ට යහමඟ පෙන්වීම සඳහා අල්ලාහ් විසින් පහළ කරනු ලැබූ ඒවා ආගම් නම් වේ. මුස්ලිම් වූ අයකු මේවා ගැන විශ්වාස කිරීම තුළින් ඔහුගේ ඊමානය සම්පූර්ණ වන්නේ ය. ආගම් සහ සුහුෆ් පිළිබඳ විශ්වාස කිරීම මුස්ලිම්වරුන්ගේ ලක්ෂණවලින් එකක් බව අල් කුර්ආනය පෙන්වා දෙන්නේ ය.

"(මුහම්මද් සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමණි) ඔබට පහළ කළ මේ ආගම හා ඔබට කලින් සිටි අයට පහළ කළ ඒවා ද ඔවුහු විශ්වාස කරති. කියාමාව ද දැඩි ව විශ්වාස කරති." (2:4)

අල්ලාහ් පහළ කළ ආගම් වශයෙන් අල් කුර්ආනයේ දක්වා ඇති ආගම් ගණන හතරකි. ඒවා විවිධ කාලවකවානු අනුව විවිධ නබිවරුන්ට විවිධ භාෂාවලින් පහළ කර ඇත.

මෙම ආගම්, ඒවා පහළ කරනු ලැබූ නබිවරුන් හා ඒවා පහළ කරනු ලැබූ භාෂා ආදිය ගැන පහත පද්‍යයෙන් අපි දැන ගනිමු.

| | | |
|---|---|---|
| තව්රාත් | මූසා | අබ්රානි |
| සබූර් | දාවුද් | යුනානි |
| ඉන්ජීල් | ඊසා | සුර්යානි |
| ෆුර්කාන් | මුහම්මද් | අරබානි |

ඒ අතර සුහුෆ් ද මිනිස් ජීවිතයට මඟ පෙන්වන ඒවා වූයේ ය. සුහුෆ් යනු ආගම (දේව අණ) වන්නේ ය. සුහුෆ් ලබාදුන් නබිවරුන් සහ ඔවුන්ට පිරිනමන ලද ප්‍රමාණ පහත දැක්වේ.




නබි මූසා අලයිහිස්සලාම් තුමාණන් ට ආගම් හා සුහුෆ් ලබා දෙන ලදී. සියලු ආගම් සහ සුහුෆ් මගින් දේශනා කළේ ඒක දේව ප්‍රතිපත්තිය ය. ඒවා මිනිස් ජීවිතයට මඟ පෙන්වන ඒවා වූයේ ය. අවසාන ආගම වන අල් කුර්ආනය, ජීවිතයට අවශ්‍ය සියලු ම කරුණු හා නීති රීති ඇතුළත් කර ඉස්ලාමය සම්පූර්ණ කළේ ය.

අල් කුර්ආනය හැර අනෙක් කිසි ම ආගමක් එහි අල්ලාහ් විසින් පහළ කළ නියම අයුරින් හෝ එහි මුල් ආකාරයෙන් හෝ නොමැත. ඒවා මිනිසුන් විසින් විකෘති කරනු ලැබ ඇත. එහෙත් අවසන් ආගම වන ඉස්ලාමය කිසිදු වෙනස්කමකට හෝ විකෘති කිරීමකට හෝ භාජනය නොවී පවතී. අවසන් දිනය තෙක් එය ආරක්ෂා කිරීමේ වගකීම අල්ලාහ් බාරගෙන ඇත.

"සැබවින් ම අල් කුර්ආනය පහළ කළේ අප ය. එය ආරක්ෂා කරනුයේ ද අප ය."(15:9)

පෙර ආගම් පහළ කළ භාෂා අද භාවිතයේ නැත. එහෙත් අවසාන ආගම වන ඉස්ලාම් පහළ කළ භාෂාව අද ද එලෙසින් ම පවතී. කෝටි ගණන් ජනයා එම භාෂාව අද භාවිත කරති.

අල් කුර්ආනය අල්ලාහ් ක්‍රමක්‍රමයෙන් පහළ කරනු ලැබූ ආගම වන්නේ ය. එහි කිසිදු පෙර හෝ පසු මතභේද හෝ නොගැළපෙන කරුණු හෝ නොමැත. ළයාන්විත වූ හඬකින් හා නූගතුන්ට පවා වටහා ගත හැකි භාෂා ශෛලියකින් එය පහළ කරනු ලැබ ඇත. අල් කුර්ආනය ලොව සඳහා පහළ කරන ලද පොදු ග්‍රන්ථයකි. එය ප්‍රායෝගික ය. අවසන් ආගම වන අල් කුර්ආනය විශ්වාස කිරීමත් එය අනුගමනය කර ජීවත් වීමත් අපගේ යුතුකම වන්නේ ය.

## අභ්‍යාසය

පහත ප්‍රකාශ හරි වැරදි ලකුණු කරන්න.

1. අල් කුර්ආනය අල්ලාහ්ගේ කලාමය වේ. ( )
2. ඉන්ජීල් ආගම එහි පාරිශුද්ධ ආකාරයෙන් ආරක්ෂා කරනු ලැබ ඇත. ( )
3. සබූර් ආගම නබි මූසා අලයිහිස්සලාම් තුමාට පහළ කරන ලදි. ( )
4. අල් කුර්ආනය මගපෙන්වනුයේ ජීවිතයේ සමහර කරුණු සඳහා පමණි. ( )
5. ආගම පහළ කරනු ලැබූ භාෂාවලින් සූර්යානි භාෂාව භාවිතයේ පවතී. ( )
6. ආගම් සහ සුහුෆ් පහළ කරන ලද්දේ මූසා අලයිහිස්සලාම් තුමාට පමණි. ( )

15

# සූරා අල් කද්ර්

سورة القدر مكية وهي خمس آيات

بسم الله الرحمن الرحيم

إنا أنزلناه في ليلة القدر ﴿١﴾ وما أدراك ما ليلة القدر ﴿٢﴾ ليلة
القدر خير من ألف شهر ﴿٣﴾ تنزل الملائكة والروح فيها
بإذن ربهم من كل أمر ﴿٤﴾ سلام هي حتى مطلع الفجر ﴿٥﴾

සූරා අල් කද්ර් අල් කුර්ආනයේ 97වන පරිච්ඡේදයයි. මෙය පහළ කරනු ලැබුවේ නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ මක්කා ජීවිත කාල වකවානුව තුළ නිසා මෙය මක්කී සූරාවකි. ආයත් පහකින් යුක්ත මෙම සූරාව කිසි යම් කරුණක් පිළිබඳ අදහස ඉදිරිපත් කරන කුඩා සූරාවකි.

මේ සූරාවේ අදහස පහත දැක්වේ.

1. සැබවින්ම අපි මෙම අල් කුර්ආනය (ඉතාමත් උතුම් වූ) ලයිලතුල් කද්ර් යන රාත්‍රියක දී පහළ කළෙමු.

2. නබිතුමනි, මෙම උතුම් වූ රාත්‍රියේ වැදගත්කම ඔබ දන්නවා ද?

3. උතුම් වූ මෙම රාත්‍රිය දහසක් රාත්‍රීන්ට වඩා උසස් ය.

4. එහි මලාඉකාවරු (ජිබ්රීල් ආදීය) රූහ් ද තම දෙවියන්ගේ අණ පරිදි (සිදුවිය යුතු ) සියලු ම කටයුතු සමඟ පහළ වෙති.

5. විමුක්තිය ඇති වේවා. (මෙම රාත්‍රියේ සුවිශේෂත්වය) උදෑසන තෙක්. (පවතින්නේය.)

මෙහි දී කරුණු දෙකක් ඉදිරිපත් කරන්නේ ය.

(i) අල් කුර්ආනය ලයිලතුල් කද්ර් යන රාත්‍රියේ පහළ කරනු ලැබීම
(ii) ලයිලතුල් කද්ර් යන රාත්‍රියේ වැදගත්කම

ප්‍රථම අදහස සූරා බකරාවේ පහත වැකියෙන් පැහැදිලි කෙරෙන්නේ ය.

"රමළාන් මාසය කොතරම් පාරිශුද්ධ ද යත් ඍජු මාර්ගය පෙන්වන අල්කුර්ආනය (ආගම) පහළ කරනු ලැබූයේ එම මාසයේ දී ය. එය (යහපත හා අයහපත වෙන්කොට දක්වා ඍජු මාර්ගය පැහැදිලි කළ හැකි වැකි ඇතුළත් එකක් ද වන්නේ ය." (2: 185) දෙවන අදහස පළමු අදහස හා එක්කොට සූරා අද් දුහාන් සමඟ පහත සූරාව පෙන්වා දෙයි.

"හාමීම්, පැහැදිලි මෙම ආගම මත දිවුරා සැබවින් ම මෙය ඉතාමත් භාග්‍යවන්ත වූ (ලයිලතුල් කද්ර් යන) එක් රාත්‍රියක් (ප්‍රථම වතාවට) පහළ කරනු ලැබ සැබවින් ම අප (මේ මගින් බිය ගන්වා අවවාද කරන්නෙමු. සැබවින් ම සියලු කටයුතු අපගේ අණ පරිදි (තීරණය කර) බෙදා දක්වනු ලබන්නේ එහි දී ය."(44 : 1-4)

"ලයිලතුල් කද්ර්" යන රාත්‍රිය කවර රාත්‍රියක් පෙන්වා දෙන්නේ දැයි ස්ථිර වශයෙන් කිව නොහැකි ය. එය දැන්වීම සඳහා නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා පැමිණි විට, පුද්ගලයෝ දෙදෙනෙක් අඬදබර කර ගනිමින් සිටියහ. එහෙයින් එය නබි තුමාට අමතක කරවන ලදී. ඒ නිසා, මෙය ඔබට යහපතක් ම වනු ඇත. එම නිසා රාමළාන් මාසයේ 29, 27,25,23,21 යන ඔත්තේ රාත්‍රියක දී සොයන්න (බුහාරි) යැයි නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා පවසා ඇත. රාමළාන් මාසයේ අවසාන රාත්‍රි 10යේ එනම් ඔත්තේ දිනවල (21, 23,25,27,29) රාත්‍රි හෝ රාමළාන් මාසයේ කිසි යම් රාත්‍රියක් යන විවිධ අදහස් ද ඇත. එම නිසා රාමළාන් මාසය පුරා ම එය බලාපොරොත්තුවෙන් ක්‍රියා කිරීම ඥානාන්විතය.

"කවරකු උතුම් වූ එම රාත්‍රිය - විශ්වාසයෙන් හා බලාපොරොත්තුවෙන් නැමදුම් හා වත්පිළිවෙත් කරමින් ගත කළේ ද ඔහුගේ පෙර හා පසු පව් යන සියල්ල කමාකෙරෙන්නේ ය." (බුහාරි) යැයි නබිතුමා පැවසීය. "අල්ලාහ්ගේ දූතයාණෙනි, මම ලයිලතුල් කද්ර් රාත්‍රිය ලැබුවේ නම් කුමක් කළ යුතු දැයි අයකු ඇසූ විට. اللّٰهُمَّ إِنَّكَ عَفُوٌّ تُحِبُّ الْعَفْوَ فَاعْفُ عَنِّي "දෙවියනි, ඔබ සමාව දෙන්නා ය. සමාව යදින්නන්ට කැමැත්තේ ය. එම නිසා මගේ පව්වලට සමාවන්න."(තිර්මිදි - අහමද්) යැයි පවසන ලෙස පිළිතුරු දුන්හ.

එපමණක් නොව රාමළානයේ අවසාන දින දහය ළඟා වූ විට නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා ලෞකික කටයුතුවලින් බැහැර ව රාත්‍රි කාලය සලාතය වැනි යහ නැමදුම මගින් ගෙවයි. තම පවුලේ අය ද ඒවා කෙරෙහි පොළඹවති.

'ලයිල්' යනු රාත්‍රිය යන අර්ථය ද 'කද්ර්' යන්න තීරණ කිරීම සැලසුම් කිරීම, මහන්තත්වය, ඉවසීම යන අදහස ද ගෙන දෙන්නේ ය. එම නිසා මෙම රාත්‍රියේ දී ජිබ්රීල් අලයිහි ස්සලාම් තුමා ද, අනෙකුත් මලක්වරු ද, අල්ලාහ්ගේ සැලැස්ම හා තීරණයට ද අනුකූල ව පොළොවට බසිති. "මින්කුල්ලි අම්රින්" යන සම්බන්ධය මෙය විදහා දක්වන්නේ ය. දෙව්ලොව හා මනුලොව අතර මලක්වරුන්ගේ සම්බන්ධය එම රාත්‍රිය පුරා උදෑසන වන තෙක් පවතින්නේ ය.

මෙම රාත්‍රිය මාස දහසකට වඩා උතුම් ය යන්නෙහි අදහස මෙම රාත්‍රියේ කරන යහක්‍රියා මාස 1000ක් මුළුල්ලේ කළ යහ ක්‍රියාවනට සමාන වන බවය. සමහර මුෆස්සිරීන්වරුන්ගේ අදහස අනුව මාස 1000ක් යනු සංඛ්‍යාවක් නොව අතිවිශාල යන අදහස ප්‍රකාශ කරන්නකි.

එහෙයින් මෙම සූරාව නිසි පරිදි පාරායනය කර එයින් අවධාරණය කරන අදහස විශ්වාස කර ක්‍රියා කරමු.

## අභ්‍යාසය

1. කෙටි පිළිතුරු සපයන්න

අ. අල්කුර්ආනය පහළ කළ රාත්‍රිය හඳුන්වන්නේ කෙසේ ද?

ආ. එම රාත්‍රිය කොපමණ කාලයකට සමාන වේද?

ඇ. ලයිලතුල් කද්ර් යන රාත්‍රිය බලාපොරොත්තු වන්නේ කවර දිනවල ද?

ඉ. ලයිලතුල් කද්ර් හි පාරායනයට නිර්දේශ කළ දුආව ලියන්න.

ඊ. එම රාත්‍රියේ දී අපට කළ හැකි යහක්‍රියා කිහිපයක් සඳහන් කරන්න.

2. පහත අරාබි වැකිවල තේරුම ලියන්න.

لَيْلَةِ الْقَدْرِ

اَلْفِ شَهْرٍ

حَتّٰى مَطْلَعِ الْفَجْرِ

## ක්‍රියාකාරකම්

සූරතුල් කද්රය නියමාකාරයෙන් පරායනා කර පෙන්වන්න.

# 16

# සූරා අල් අලක්

## පළමු වැකි පහ

ජාහිලියියා සමාජය අනාචාරයන් හි ගිලී පැවැතුණි. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ එය පිළිකුල් කළහ. මෙය වෙනස් විය යුතු ය, යන සිතුවිල්ල සහිත ව තනි ව කල්පනා කරමින් හිරා ගුහාවෙහි නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ කල් ගත කළේ ය. මේ අතර දිනක් ජිබ්රීල් අලයිහිස්සලාම් තුමාණෝ එක්වරම එහි පෙනී සිට "පාරායනය කරනු මැන!" යැයි පැවසූහ. එවිට නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා මම පාරායනයට නොදත්තෙමි යි කීහ එවිට ජිබ්රීල් අලයිහිස්සලාම් තුමා නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා තදින් වැළඳගෙන "පාරායනය කරනු මැන!" යැයි පැවසී ය. එවර ද නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා තමා පාරායනය කරන්නට නොදන්නා බව පැවසී ය. මෙසේ තෙවරක් ම සිදු විය. ඉන් පසු ජිබ්රීල් අලයිහිස්සලාම් තුමාණෝ සූරා අලක් හි පළමු වැකි පහ පාරායනය කර පෙන්වූහ. වහීවල ආරම්භය මෙය වන්නේ ය.

اِقْرَاْ بِاسْمِ رَبِّكَ الَّذِىْ خَلَقَ ۚ﴿۱﴾ خَلَقَ الْاِنْسَانَ مِنْ عَلَقٍ ۚ﴿۲﴾
اِقْرَاْ وَرَبُّكَ الْاَكْرَمُ ۙ﴿۳﴾ الَّذِىْ عَلَّمَ بِالْقَلَمِ ۙ﴿۴﴾ عَلَّمَ الْاِنْسَانَ
مَا لَمْ يَعْلَمْ ؕ﴿۵﴾

1. ( නබිතුමනි ) ඔබගේ රබ්බුගේ ශුද්ධ වූ නාමයෙන් පාරායනය කරනු මැනවි. ඔහු (කුමන ආකාරයේ අයකු ද යත්) සියල්ල මැව්වේ ඔහු වන්නේ ය.

2. ලේකැටියකින් ඔහු මිනිසා මැව්වේ ය.

3. (තව ද ) පාරායනය කරන්න ඔබගේ රබ්බු ඉතා ම අභිමානවත් ය.

4. ඔහු කුමන ආකාරයේ අයකු ද යත් පන්හිඳ භාවිතයෙන් ලිවීමට ඔහු ඉගැන්වූයේ ය.

5. මිනිසාට ඔහු නොදත් (සියල්ල) ඉගැන්වූයේ ය.

| තේරුම | අරාබි පදය |
| --- | --- |
| පාරායනය කරනු මැන, කියවනු මැන, ඉගෙනගනු මැන, විමසා බලනු මැන | اِقْرَاْ |
| ඔබගේ දෙවියන්ගේ නාමයෙන් | بِاسْمِ رَبِّكَ |
| මිනිසා මැව්වේ ය. | خَلَقَ الْاِنْسَانَ |
| ලේ කැටියකින් | عَلَقٍ |
| ඔබගේ දෙවියා අභිමානවත් ය | وَرَبُّكَ الْاَكْرَمُ |
| පන්හිඳ මගින් ඉගැන්වූයේ ය. | عَلَّمَ بِالْقَلَمِ |
| මිනිසාට ඉගැන්වූයේ ය | عَلَّمَ الْاِنْسَانَ |
| නොදන්නා දේ | مَا لَمْ يَعْلَمْ |

අල් කුර්ආනයේ පළමු ව පහළ කරනු ලැබූ වැකියෙන් කියවෙන්නේ රබ්බුගේ නමින් පාරායනය කරන අයුරු ඉගෙන ගන්නා ලෙස අණ කරන්නේ ය. ලෝකයාට මගපෙන්වීම සඳහා අල්ලාහ් තෝරා ගත් දූතයා මුහම්මද් සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන් අල්ලාහ් සමග සම්බන්ධ වන පළමු අවස්ථාවේ ම ඔහුගේ නමින් පාරායනය කරන ලෙස අණ කෙරන්නේ ය.

අල්ලාහ් "මැවුම්කරු ය" යන්න ප්‍රථමයෙන් පොදුවේ පවසා පසු ව මිනිසා මැවූ බව පවසන්නේ ය.

මවගේ ගර්භාෂයේ මිනිසා අලක් යන අවස්ථාවේ ඇලී පැවතියේ ය. පසු ව අල්ලාහ්ගේ අනුග්‍රහයෙන් එම අලක් ක්‍රමයෙන් වැඩි මිනිස් රුවක් ලැබුවේ ය. මෙය අල්ලාහ්ගේ ශක්තිය හා ඔහුගේ දයාව විදහා දක්වන්නේ ය. ඊ ළඟ වැකිය පන්හිඳ ගැන කතා කරන්නේ ය. මිනිස් ජීවිතයේ අධ්‍යාපනය

සඳහා මුල් වන්නා වූ දෙය වශයෙන් ද පුළුල් ව කතා කරනු ලබන්නා වූ දෙය වශයෙන් ද එය හැඳින්විය හැකි ය. එම නිසා පන්හිඳ භාවිතයෙන් ඉගැන්වීම ආරම්භ කළ අල්ලාහ් අභිමානවත් යැයි අල් කුර්ආනය පවසන්නේ ය.

අල්ලාහ් සියල්ල දත් අයෙකි. මිනිසා කිසිවක් නොදැන සිටියේ ය. මිනිසාට අවශ්‍ය සියල්ල උගන්වන්නේ ඔහු ය.

මිනිසා, මිනිස් ජීවිතය සහ විශ්වය යන සියල්ල දන්නේ අල්ලාහ් පමණි. මිනිසා සියල්ල ඉගෙන ගන්නේ ඔහුගෙන් ය, යන සත්‍යය මෙම වැකියෙන් ඉදිරිපත් වේ.

අධ්‍යාපනය, සදාචාරය යනාදියෙහි සැබෑ අගය ගැන නොදැන සිටි ජාහිලිය්‍යා සමාජය අධ්‍යාපනික හා සංස්කෘතික අගය කෙරෙහි උනන්දු කරවා අන්තර් ජාතික මට්ටමින් ප්‍රබල වූ ද වැදගත් වූ ද ප්‍රජාවක් බවට පත්කිරීමට පදනම කෙටියෙන් සහ ස්ථාවර ව ද ඉහත වැකි මගින් ඉදිරිපත් කර තිබෙන බව දැක ගත හැකි ය.

සමාජයක ප්‍රගතියට අධ්‍යාපනය වැදගත් ය. එම නිසා අනුවණකම යන අන්ධකාරයේ ගිලී සිටි ජාහිලියියා සමාජයේ දියුණුවට හේතු වන්නේ ය යන පදනමින් අල්ලාහු තආලා අධ්‍යාපනයේ වැදගත්කම ප්‍රථම වහීය මගින් අවධාරණය කර ඇත. එසේ ම මිනිසාගේ බිහිවීමට පසුපසින් ඇති සැබෑ තත්ත්වය ද කෙටියෙන් පහදා දී ඇත.

## අභ්‍යාසය

පහත ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

1. අල් කුර්ආනයේ ප්‍රථම වැකි පහ පහළ කරනු ලැබූ අවස්ථාව කෙටියෙන් පහදන්න.
2. මෙම වැකිය මගින් ඉදිරිපත් කෙරෙන වැදගත් අදහස් දෙකක් සඳහන් කරන්න.
3. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා හිරා ගුහාවට යෑම පුරුද්දක් කර ගැනීමට හේතු දෙකක් දක්වන්න.
4. අල්ලාහ්ගේ ගුණාංග දෙකක් සඳහන් කරන්න
5. පහත සිංහල පදවලට ගැළපෙන අරාබි වචන ලියන්න.

    1. රක්ෂිතයා
    2. මිනිසා
    3. පන්හිඳ
    4. ඉගැන්වූයේ ය

### ක්‍රියාකාරකම

සූරා අල් අලක් හි පළමු වැකි පහ එහි අර්ථය සමඟ වනපොත් කරන්න

# 17

# සුන්නතයෙහි වැදගත්කම

**වැඩසටහන් සම්පාදක:** ආදරණීය අසන්නෙනි, අස්සලාමු අලයිකුම් වරහ්මතුල්ලාහි වබරකාතුහු නද්වතුත් තුල්ලාබ් සති අන්ත මුස්ලිම් තරුණ වැඩසටහන සඳහා ඔබ සැම සාදරයෙන් පිළිගන්නෙමු. සුපුරුදු ලෙස අදත් මෙම වැඩසහටහන ඔස්සේ ඉස්ලාමයේ මූලිකාංග පිළිබඳ ශිෂ්‍ය සමාජයට පැහැදිලි අවබෝධයක් ලබා දීමටයි අපේ සූදානම. අදත් මෙම වැඩසටහනේ අදහස් හුවමාරුව උදෙසා අමුත්තකු වශයෙන් එක්වන්නේ මෞලවි අබ්දුල්ලාහ් තුමන් ය. මෞලවි තුමනි, අස්සලාමු අලයිකුම් වරහ්මතුල්ලාහි වබරකාතුහු.

**මෞලවි තුමා:** ව අලයිකු මුස්සලාම් වරහ්මතුල්ලාහි වබරකාතුහු

**වැඩසටහන් සම්පාදක:** අසන්නනි, පසුගිය වැඩ සටහනේ දී අපි ඉස්ලාමයේ ප්‍රධාන මූලාශ්‍රයක් වශයෙන් අල් කුර්ආනයේ වැදගත්කම පිළිබඳ සාකච්ඡා කළෙමු. අද අපි සුන්නාහ්වේ වැදගත්කම පිළිබඳ මෙම වැඩසටහන ඔස්සේ සාකච්ඡා කිරීමට බලාපොරොත්තු වෙමු. මෞලවි තුමනි, සුන්නාහ් යනු කුමක් දැයි පැහැදිලි කළ හැකි ද?

**මෞලවි තුමා:** සුන්නාහ් යනුවෙන් හැඳින්වෙන්නේ නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ ජීවිතයයි. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ වචන, ක්‍රියා, අනුමත කිරීම, ගුණාංග සහ වර්ණනා සියල්ල සුන්නාහ් යන පදයෙන් හැඳින්වෙන බව ඉස්ලාමීය විද්වත්හු සඳහන් කරති. හදීස් යන පදයත් බොහෝ විට මෙම අරුතෙන් ම භාවිත කෙරෙයි. අප සමාජයේත් සුන්නාහ් යන පදයට වඩා හදීස් යන පදය ප්‍රසිද්ධ වී ඇත.

මෞලවි තුමනි, අල් කුර්ආන් සහ සුන්නාහ් අතර ඇති

**වැඩසටහන් සම්පාදක:** සම්බන්ධතාව මඳක් විස්තර කළ හැකි ද?

**මෞලවි තුමා:** හොඳ ප්‍රශ්නයක්. මේ දෙක අතර කිට්ටු සබඳතා දක්නට තිබේ. අල් කුර්ආන් හා සුන්නාහ් වහී පදනම් කොට බිහිවූවක් වේ. අල් කුර්ආනය වහී මත්ලූඃ වශයෙනුත් සුන්නාහ් වහී හයිරු මත්ලූඃ වශයෙනුත් පවතී. අල් කුර්ආනය පවසන කරුණු නිවැරදි ව අවබෝධ කර ගැනීමටත්, ඒවා නිසි ලෙස ක්‍රියාවට නැඟීමටත් සුන්නාහ් අත්‍යවශ්‍ය වේ. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ ජීවිතය සම්බන්ධයෙන් විමසූ විට එතුමාගේ ජීවිතය අල් කුර්ආනය සේ ම පැවැති බව ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය පැවසුවා ය.

**වැඩසටහන් සම්පාදක:** අල් කුර්ආනය පිළිපැදීම අපගේ මූලික වගකීමක් බව පසුගිය වැඩසටහනේ දී විස්තර කළා. එසේ ම සුන්නාහ් පිළිපැදීම පිළිබඳවත් අපට විස්තර කරන්න.

**මෞලවි තුමා:** නියත වශයෙන් ම සුන්නාහ් යනු ඉස්ලාමයේ දෙවන නීති මූලාශ්‍රයයි. නීති මූලාශ්‍රය යනු අපගේ දිවි පැවැත්මට අදාළ ආගමික නීති ලබා ගන්නා ප්‍රධාන උල්පතක් ලෙස පැවසිය හැකි ය. එසේ ම සුන්නාහ් පිළිපැදීම සෑම මුස්ලිම්වරයකුගේ ම වැදගත් වගකීමක් වේ. අල්ලාහ්ට කීකරු වන්නා සේ නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාටත් අප කීකරු ව කටයුතු කළ යුතු ය. මේ පිළිබඳ අල් කුර්ආනයේ විවිධ ස්ථානවල අවධාරණය කොට තිබේ.

"ඔබ අල්ලාහ්ටත් ඔහුගේ දූතයාටත් කීකරු ව කටයුතු කරන්න." (අල් කුර්ආන් 03 : 32)

"එමෙන් ම අපගේ දූතයා ඔබට ප්‍රදානය කළ දෑ ඔබ සතුටින් භාර ගන්න. ඔහු ඔබට කුමක් වැළැක්වූයේ ද එයින් ඔබ ඉවත්වන්න" (අල් කුර්ආන් 59 : 07)

**වැඩසටහන් සම්පාදක:** සුන්නාහ් පිළිපැදීමේ වැදගත්කම පිළිබඳ නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ දේශනා පිළිබඳ විස්තර කරන්න.

**මෞලවි තුමා:** ඔව් බොහෝ අවස්ථාවල මේ පිළිබඳ අවධාරණය කොට ඇත. උදාහරණයක් වශයෙන් මේ හදීසය බලන්න."මා ඔබ අතර කරුණු දෙකක් අතහැර යමි. ඒවා දැඩි ව ගෙන ක්‍රියා

කළේ නම් කිසි ද නොමග නොයන්නේ ය. එකක් දේව ආගම, (අල් කුර්ආනය) අනික මගේ මග පෙන්වීම,(සුන්නාහ්) වන්නේ ය. (මුවත්තා) මෙහි ඇති තවත් එක් වැදගත් කරුණක් වනුයේ මෙම හදීසය නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ අවසාන හජ් දේශනයේ අඩංගු වීම ය."

**වැඩසටහන් සම්පාදක:** නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා මිනිසකු වුවත් දේව දූතයකු වශයෙන් එතුමාගේ වදන් කෙතරම් වැදගත් මෙන් ම ශ්‍රේෂ්ඨ ද යන්න පිළිබඳ විස්තර කළ හැකි ද?

**මෞලවි තුමා:** ඔව් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ වදන් වහී වලට අනුකූල ව තිබූ බව බැලුවෙමු. අල්ලාහ්ගේ කැමැත්තට පටහැනි කිසිවක් එතුමා නො පවසයි. පහත අල් කුර්ආන් වැකියෙන් ද මෙය පැහැදිලි වේ.

"ඔහු තම කැමැත්තට කිසිවක් ප්‍රකාශ නො කරයි. ඒ සියල්ල ඔහු වෙත වහී මගින් ප්‍රදානය කළ ඒවා වේ." (53 : 03)

එසේ ම නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ වදන් කෙටි වුව ද පුළුල් අර්ථයක් ඇත. එනම් අඩු වදන්වලින් පුළුල් අවබෝධයක් සහිත කරුණු ප්‍රකාශ කරයි. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ සම්පූර්ණ ජීවිතය ම සාක්ෂි සහිත ව සටහන් කොට තැන්පත් කර තිබීම තවත් සුවිශේෂී කරුණකි. ලොව අන් කිසි ම කෙනකුගේ වදන් හා ඉතිහාසය මෙලෙස සූක්ෂම ලෙස නිරීක්ෂණය කොට පරිපූර්ණ සහ නිවැරදි ව ලේඛන ගත කොට සුරක්ෂිත කර නැත. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන් අල්ලාහ්ගේ උපකාරයෙන් අනාගතයේ සිදුවීමට ඇති කරුණු පිළිබඳ පෙර දැනුම් දීම් කර ඇත . ඒවා එතුමාණන් පැවසූ අයුරින් ම සිදු වී ඇත .

**වැඩසටහන් සම්පාදක:** මෞලවි තුමනි, අල් කුර්ආනයට අර්ථ දැක්වීමක් ලෙස සුන්නාහ් පවතින බව ඔබ පැවැසුවා. එය මඳක් විස්තර කරන්න.

**මෞලවි තුමා:** උදාහරණයක් ලෙස අල් කුර්ආනය සලාතය ඉටු කරන ලෙස අණ කොට ඇත . එය ඉටු කරන්නේ කෙසේ දැයි සුන්නාහ්වේ පැහැදිලි කොට ඇත . එලෙස ම සොරාගේ අත කපා දමන ලෙස කුර්ආනය අණ කොට ඇත .නමුත් එය කුමන අවස්ථාවල ඉටු කරන්නේ දැයි සඳහන් කොට ඇත්තේ සුන්නාහ්වේ ය.

**වැඩසටහන් සම්පාදක:** මෞලවි තුමනි, අවසාන වශයෙන් සුන්නාහ් සම්බන්ධ අපට ඇති වගකීම් පිළිබඳ කෙටියෙන් පැහැදිලි කරන්න.

**මෞලවි තුමා:** සුන්නාහ් ඉගෙනීම, වනපොත් කිරීම, එය ක්‍රියාවට නැගීම, අන් අයටත් පැවසීම යන විවිධ වගකීම් අපහට ඇත . අල් කුර්ආනය වගේ ම සුන්නාහ්වත් මුළුමනින්ම පිළිපැදීමට උත්සාහ කළ යුතු ය. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ සුන්නාහ් වේ ඇතුළත් නොවන දෑ එතුමා පැවසුවේ යැයි අන් අයට ප්‍රකාශ කිරීමෙන් වැළකී සිටිමත් අප සුන්නාහ්වට කරනු ලබන වගකීම වේ.

**වැඩසටහන් සම්පාදක:** අසන්නෙනි, අද දින වැඩසටහනෙන් සුන්නාහ් පිළිබඳ හා එය පිළිපැදීමේ අවශ්‍යතාව පිළිබඳ සරල පැහැදිලි කිරීමක් අපි ලබා ගත්තෙමු. අප උගත් කරුණු අප ජීවිතයේත් පිළිපදින්නට අධිෂ්ඨාන කර ගනිමු. මෙහි අපගේ ආරාධිතයකු ලෙස පැමිණ ආකර්ෂණීය විස්තරයක් ඉදිරිපත් කළ මෞලවි අබ්දුල්ලාහ් තුමන්ට අපගේ ස්තූතිය, ජසාකල්ලාහු හයිරන්.

**මෞලවි තුමා:** බාරකල්ලාහු ලක.

## අභ්‍යාසය

1. සුන්නාහ් යනු කුමක් ද?
2. සුන්නාහ් යන අදහස දෙන වෙනත් පදයක් ලියන්න.
3. අල් කුර්ආනය හා සුන්නාහ් අතර ඇති සබඳතා තුනක් සඳහන් කරන්න.
4. සුන්නාහ් පිළිපැදීමට බල කරන කුර්ආන් වැකියක් සහ හදීස් සාධකයක් දක්වන්න.
5. අපට සුන්නාහ් සම්බන්ධව ඇති වගකීම් මොනවා ද?

# 18

# ලැජ්ජා ශීලී බව

ඉස්ලාම් යහගුණාංගවලින් සමන්විත ආගමකි. එය සෑම මුස්ලිම්වරයකු ම යහගුණාංගයෙන් යුතු අයකු විය යුතු යැයි බලාපොරොත්තු වෙයි. මුස්ලිම්වරයකු ළඟ තිබිය යුතු අලංකාර යහගුණාංග ගැන අල්- කුර්ආනය සේ ම සුන්නාහිත් බොහෝ ස්ථානවල අවධාරණය කෙරේ.

මෙසේ මුස්ලිම්වරයකු ලබා තිබිය යුතු යහගුණාංගවලින් ලැජ්ජාව ඉතා වැදගත් එකකි. ලැජ්ජාව යනු පහත් ක්‍රියා කිරීම වළක්වා ගන්නා ගුණාංගයකි. අල්ලාහ් හා නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන් විසින් පහත් ක්‍රියා පිළිබඳ පැහැදිලි කර ඇත. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන් ලැජ්ජාශීලී අයකු ලෙස ජීවත් වී ඇත. ලැජ්ජාශීලී ක්‍රියා ගැන නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන් පැවසූ සමහර හදීස් වදන් සලකා බලමු.

## ලැජ්ජාශීලී බව ඊමානයේ ශාඛාවලින් එකකි.

قَالَ النَّبِيُّ صَلَّى اللَّهُ عَلَيهِ وَسَلَّم:

اَلْإِيْمَانُ بِضْعٌ وَسِتُّوْنَ، أَوْ : بِضْعٌ وَسَبْعُوْنَ ، شُعْبَةً ، أَعْلَاهَا شَهَادَةُ أَنْ لَا إِلَهَ إِلَّا اللَّهُ ، وَأَدْنَاهَا إِمَاطَةُ الْأَذَى عَنِ الطَّرِيقِ ، وَالْحَيَاءُ شُعْبَةٌ مِنَ الْإِيمَانِ (رواه البخاري ومسلم)

නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාණෝ පැවසූහ.

ඊමානයේ 70කටත් අධික නැතහොත් 60කටත් අධික ශාඛා ඇත. එයින් උසස් "ලා ඉලාහ ඉල්ලල්ලාහ්" යන්නයි. එයින් පහළම වනුයේ පාරේ බාධකයක් වී ඇති දේ ඉවත් කිරීමයි. ලැජ්ජාශීලී බව ඊමානයේ ශාඛාවලින් එකකි. (මූලාශ්‍රය : බුහාරි මුස්ලිම්)

### ලැජ්ජාශීලී බව හා ඊමානය එකිනෙක හා බැඳුණු ඒවා ය.

قَالَ النَّبِيُّ صَلَّى اللَّهُ عَلَيهِ وَسَلَّم:

«الحَيَاءُ وَالإِيمَانُ قُرِنَا جَمِيعًا، فَإِذَا رُفِعَ أَحَدُهُمَا رُفِعَ الآخَرُ» (رواه الحاكم)

නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ පැවසූහ. ලැජ්ජාශීලී බවත්, විශ්වාසයත් එකට බැඳුණු ඒවා ය. එක් ගුණාංගයක් ගිලිහී ගිය විට අනෙක් ගුණාංගය ද ගිලිහී යයි. (මූලාශ්‍රය : හාකිම්)

### ලැජ්ජාශීලී බව සෑම විට ම යහපතක් ම උදාකර දෙයි.

قَالَ النَّبِيُّ صَلَّى اللَّهُ عَلَيهِ وَسَلَّم:

الحَيَاءُ لَا يَأْتِي إِلَّا بِخَيْرٍ (رواه البخاري ومسلم)

නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ පැවසූහ. ලැජ්ජාශීලී හැඟීම සැමවිටම යහපත උදා කරයි. (මූලාශ්‍රය : බුහාරි මුස්ලිම්)

### ලැජ්ජාශීලී බව අලංකාරය උදාකරයි (කරවයි)

قَالَ النَّبِيُّ صَلَّى اللَّهُ عَلَيهِ وَسَلَّم:

«مَا كَانَ الحَيَاءُ فِي شَيءٍ إِلَّا زَانَهُ، وَلَا كَانَ الفُحْشُ فِي شَيءٍ إِلَّا شَانَهُ» (رواه الترمذى)

නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ පැවසූහ. යම් කාර්යයක් තුළ ලැජ්ජාශීලී බව තිබේ ද? එම ක්‍රියාව අලංකාරය උදා කරයි. තව ද මොන යම් ක්‍රියාවක් තුළ ලැජ්ජාශීලී බව නොමැති ද එම ක්‍රියාව අවමන් ළඟා කර දෙයි. (මූලාශ්‍රය : තිර්මිදි)

### ලැජ්ජාශීලී බව නොමැති නම් එය නිරයට ඇද දමයි

قَالَ النَّبِيُّ صَلَّى اللَّهُ عَلَيهِ وَسَلَّم:

الْحَيَاءُ مِنَ الْإِيمَانِ وَالْإِيْمَانُ فِي الْجَنَّةِ , وَالْبَذَاءُ مِنَ الْجَفَاءِ وَالْجَفَاءُ فِي النَّارِ (رواه الترمذى)

නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (ලැජ්ජාව ඊමානයේ දෙයකි). ඊමාන් ස්වර්ගයට රැගෙන යයි. ලැජ්ජා නොමැති ව අසභ්‍ය වචන කථා කරන මිනිස්සු ජනයාගේ ප්‍රතික්ෂේප කිරීමට ලක්වෙති. ජනයා ප්‍රතික්ෂේප කළ අය නිරයට යති. (මූලාශ්‍රය : තිර්මිදි)

මේ හදීස් ලැජ්ජා සහගත හැඟීම් මුස්ලිම්වරයකුගේ ජීවිතයෙහි කොතරම් වැදගත් ද යනුවෙන් අපට හඟවයි. ලැජ්ජා සහිත හැඟීම් නැති වූ විට කෙනෙක් කෙබඳු පවක් වුව ද කිරීමට පෙළඹේ.

එම නිසා, අපගේ ජීවිතයේ සෑම මොහොතක ම ලැජ්ජා සහිත හැඟීම් රැක ගනිමු. තමන්ගේ කථාවේ, බැල්මේ, ප්‍රශ්න කිරීමේ දී, ඇවිදීමේ, ඇඳුමේ, භාවිතයේ, සෑම දෙයකින් ම ලැජ්ජා සහිත හැඟීම් සමඟ ක්‍රියා කළ යුතු ය. අල්ලාහ් මෙන් ම සෙසු මිනිසුන් ද කැමති වන පරිදි හොඳ මිනිසුන් ලෙස ජීවත් වී අපි ද දෙලොවේ ම ජය ලබමු.

## අභ්‍යාසය

**හරි නම් ☑ ලකුණ ද වැරදි නම් ☒ ලකුණ ද යොදන්න.**

1. ලැජ්ජාශීලී බව ඊමානයේ ශාඛාවකි. ( )
2. ඊමානයට පියවර කිහිපයක් නොමැත. ( )
3. ලැජ්ජාශීලී හැඟීම් නොමැති පුද්ගලයාගේ ඊමානය සම්පූර්ණ නොවේ. ( )
4. ලැජ්ජාව නොමැතිකම මුස්ලිම්වරයෙකු නිරයට ඇද දැමීමට හේතුවේ. ( )
5. අසභ්‍ය වචන ප්‍රකාශ කිරීම ලැජ්ජාශීලී බවේ ගුණාංගය කි. ( )

## ක්‍රියාකාරකම්

ලැජ්ජාශීලී බව ගැන හඳුන්වන ඉහත සඳහන් හදීස් ලියා ඒවායේ තේරුම් සමඟ කට පාඩම් කරන්න.

19

# සීරතුන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්- I

## නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන්ගේ මදීනා ජීවිතය

මක්කා මුස්ලිම්වරුන් හට තම සතුරන්ගෙන් කරදර හා වද හිංසා වැඩිවන්නට පටන්ගත්තේ ය. මේ අවස්ථාවේ ඉස්ලාම් ආගම නිදහස් ව පිළිපැදීමට ආරක්ෂිත ස්ථානයක් වෙත යාමට අවශ්‍යතාවක් ඇති විය. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ මෙයට සුදුසු ම ස්ථානය ලෙස මදීනාව තෝරා ගත්හ. එම නිසා මක්කාවේ සිටි මුස්ලිම්වරු තනි තනි ව ද කණ්ඩායම් වශයෙන් ද මදීනාව වෙත පිටත් කරවන ලදී. අන්තිමට නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා හා අබූබක්කර් රළියල්ලාහු අන්හු තුමාත්, කුරෛෂිවරුන්ගේ විරෝධතාව මැද මක්කාවට දකුණින් පිහිටි "සෞර්" නම් ගුහාව කරා ළඟා වූහ. එහි දින 3ක් නතර වීමෙන් පසු කුෆාවටත් එහි සිට මදීනාවටත් ආරක්ෂිත ව පැමිණියෝ ය.

නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ මදීනා ජීවිතය හිජ්රත් සිදුවීම් සමඟ ම ආරම්භ විය. හිජ්රතය යනු මක්කාවේ සිටි මුස්ලිම්වරු තම නෑදෑයන් ,ගෙවල් දොරවල් ,ඉඩකඩම් හා තම ධනය, උපන් භූමිය අත්හැර මදීනාවේ පදිංචි වූහ. මෙම හිජ්රතයෙන් පසු ව මදීනාවේ ඉස්ලාමීය රාජ්‍යයක් බිහිවුණි. හිජ්රතය ඉස්ලාමීය ඉතිහාසයේ වැදගත් සිද්ධියක් ලෙස සඳහන් වේ. ඉස්ලාමීය වර්ෂයත් හිජ්රතය මුල්කොට ගණන් ගනු ලබයි.

## මස්ජිදුන් නබවියෙහි නිර්මාණය

මදීනාවට ගිය නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා ඉටුකළ මුල් ම කාර්යය වූයේ මස්ජිදුන් නබවිය නිර්මාණය කිරීමයි. තමන්ගේ ඔටුවා ගොස් වාඩි වූ ස්ථානයේ මස්ජිදය තැනීමට සුදුසු ස්ථානය යැයි නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා නිගමනය කළේ ය. නබි තුමා එම ස්ථානය මිල දී ගෙන ඉතාමත් චාම් ලෙස තමාගේ මිතුරන් සමඟ එකතු වී මස්ජිදය නිර්මාණය කළේ ය.

මදීනාවට ගිය පසු පස්වේල් ජමාඅත් සලාතය (එක්රැස් වී ඉටුකරන) මුස්ලිම්වරුන් හට අනිවාර්ය කරන ලදි. බිලාල් රළියල්ලාහු අන්හු තුමා අදාන් පවසා ජනතාව පස්වේල් සලාතය සඳහා කැඳෙව්වේ ය. මස්ජිදුන් නබවිය මුස්ලිම්වරුන්ගේ කේන්ද්‍රස්ථානය ලෙස තිබුණි. ජමාඅත් සලාතය එහි දී ඉටුකෙරුණි. එම නිසා සැමට ම එක් ස්ථානයක විටින් විට හමු වී සැපදුක් විමසීමට ද මඟක් පෑදුණේ ය.සමාජයේ ඇතිවන ප්‍රශ්න නිරාකරණය කිරීමේ ස්ථානයක් ලෙස මස්ජිදුන් නබවිය ක්‍රියා කරන ලදි.

පිටරටවලින් පණිවිඩ රැගෙන එන අය පිළිගෙන භෝජන සංග්‍රහ ද පැවැත්වුණි. දුප්පත් අයට ද හදිසි අවශ්‍යතා තිබෙන අයට ද පිහිටවීමේ ස්ථානයක් ලෙසත් සමාජයේ වැසියන්ට දැනුම ව්‍යාප්ත කරන ස්ථානයක් ලෙසත් මස්ජිදුන් නබවිය නම් කෙරේ. මෙසේ බොහෝ සේවා ඉටු කරන මධ්‍යස්ථානයක් ලෙස මස්ජිදුන් නබවිය භාවිත කෙරුණි. තව ද බොහෝ ක්‍රියා ඉටුකර දෙන සංස්කෘතික මධ්‍යස්ථානයක් ලෙස ද නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා නිර්මාණය කළ මස්ජිදුන් නබවිය හැඳින්විය හැකි ය.

## මුහාජිර්වරුන් හා අන්සාරිවරුන් අතර සහෝදරත්වය ඇති කිරීම

මක්කාවේ සිට මදීනාවට හිජ්රත් ගිය අය මුහාජිර්වරු යනුවෙන් ද ඔවුන් පිළිගෙන සෙනෙහස දැක්වූ මදීනා වැසියන් අන්සාරිවරු යනුවෙන් ද අමතන ලදී. මුහාජිර්වරුන්ට උදවු උපකාර කිරීමට මදීනා මුස්ලිම් වැසියෝ තම තමන් අතර තරඟ කර ගත්හ. මොවුන් ගැන අල්කුර්ආනයේ ද ප්‍රශංසා කර ඇත.

නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ මදීනාවට ගිය පසු මුහාජිර්වරුන් හා අන්සාරිවරුන් අතර සහෝදර බැඳීමක් ඇති කළහ. මෙම සහෝදරත්ව බැඳීම ඉස්ලාමය වර්ධනය වීමට අවශ්‍ය වන බව නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා ස්ථිර ව ම විශ්වාස කළේ ය. මේ නිසා පෙර තිබුණාක් මෙන් සෙනෙහස හා වටහාගැනීමේ හැකියාව තව දුරටත් වර්ධනය විය. සියලු මුහාජිර්වරු අන්සාරිවරුන් සමඟ සම්බන්ධකම් පවත්වා ගත්හ. මේ නිසා අන්සාරිවරු තමන් සතු ව තිබූ ඉඩකඩම් වෙළෙඳාම් හා අනෙකුත් දෑ තම අලුත් සහෝදරයින්ට බෙදා දුන්හ. මෙවන් සහෝදර බැඳීමක් ලොව ඉතිහාසයේ මෙතෙක් දැකගත නොහැකි විය.

අන්සාරිවරුන් තමන් සතු ව තිබූ දෑ බෙදා දීමට ඉදිරිපත් වූවත් මුහාජිර්වරු ඒ සියල්ල ලබා ගැනීමට පසුබැස්සෝ ය. තම සහෝදරයන්ට එය කරදරයක් වේ යැයි සිතා මෙසේ කිරීමට ඔවුහු පෙළඹුණෝ ය.

සඃද් බින්ද් රබිඋ රළියල්ලාහු අන්හු යන අන්සාරිවරයා තම මුළු දේපළෙන් බාගයක් මුහාජිර් සහෝදර අබ්දුර් රහ්මාන් බින් අවුෆ් රළියල්ලාහු අන්හු තුමාට මුළු හදවතින් ම දීමට ඉදිරිපත් වූවේ ය. එම අවස්ථාවේ අබ්දුර් රහ්මාන් බින් අවුෆ් රළියල්ලාහු අන්හු තුමාණෝ "මිත්‍රයාණෙනි! ඔබේ පවුලටත් ධන සම්පතටත් අල්ලාහ් සැමදා අභිවෘද්ධිය ලබාදෙත්වා ! මට නුඹේ වෙළඳාමෙන් බාගයක් නොදෙන්න. වෙළඳාම් කරන ස්ථානය පෙන්වා දෙන්න. මම වෙළඳාම් කර ජීවත් වෙන්නම්," යැයි මුළු හදවතින් ම කීහ. මොවුහු පසුකාලයේ මදීනාවේ පොහොසතුන් බවට පත්වූහ.

## අභ්‍යාස

1) ඉස්ලාමීය වර්ෂය ගණනය කරනු ලබන්නේ කුමන සිදුවීමෙන් ද?

2) මුහාජිර් හා අන්සාරි යන අය කවුරු ද?

3) මුස්ලිම්වරුන් මක්කාවේ සිට මදීනාවට හිජ්රත් යාමට හේතු වූ කරුණු දෙකක් සඳහන් කරන්න.

4) මස්ජිදයකින් සමාජයට කොපමණ සේවයක් කළ හැකි දැයි පහදන්න?

5) මක්කා වැසියන් සමඟ මදීනා වැසියන් හැසිරුණු ආකාරය විස්තර කරන්න.

6) මදීනාවේ පැරණි නම කුමක් ද? එක් මස්ජිදයකින් සමාජයට කොපමණ සේවයක් කළ හැකි ද?

# 20

# සීරතුන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්- II



## මදීනාවෙන් ආදර්ශවත් සමාජයක්

ශ්‍රේෂ්ඨ සහෝදර හැඟීම තුළින් වැඩුණු අනන්‍ය වූ ජන සමාජයක් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා මදීනාව කේන්ද්‍ර කොට ගෙන බිහි කළේ ය. පරම්පරා ගණනාවක් මුළුල්ලේ සටන් වැද සිටි ඖස්, කස්රජ් ගෝත්‍රිකයන් අතර සමගිය ඇති කරන්නට එතුමාණෝ පුරෝගාමීව කටයුතු කළහ. මුස්ලිම්වරුන් විසින් ඉටු කළ ජමාඅත් සලාතය, ජුම්මා සලාතය, සව්මය, සකාත් වැනි වගකීම් ගණනාවක් මදීනාවේ දී අනිවාර්ය කරනු ලැබිණි. අංග සම්පූර්ණ ජීවන ක්‍රමයකට අවශ්‍ය නීති සම්පාදනය කරනු ලැබිණි. වැරදි කරන්නවුන්ට අදාළ දඬුවම් ද නියම කරනු ලැබිණි. නීතිය, අවංක භාවය, සමානත්වය, අන්‍යෝන්‍ය අවබෝධය, එකිනෙකාට උපකාර කිරීම යනාදී මෙකී නොකී යහ ගුණාංග රාශියකින් සමන්විත වූ නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ මෙම රාජ්‍ය පාලනය කාටත් පූර්වාදර්ශයක් වූ රාජ්‍ය පාලනයක් විය.

## යුදෙව්වරුන් සමඟ ගිවිසුම්වලට එළඹීම

මදීනාවේ වාසය කළේ මුස්ලිම්වරුන් පමණක් නොවේ. තවත් ජන වර්ග ගණනාවක් මදීනාව වාසස්ථාන කොට ගෙන ජීවත් වූහ. එයිනුත් වැඩි ප්‍රතිශතයක් ලෙස තිබූ යුදෙව් සමාජ සමඟ මුහම්මද් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා ගිවිසුමක් ඇති කර ගත්තේ ය. මෙම ගිවිසුම "සහීෆතුල් මදීනා" යන නමින් හැඳින්වේ. මෙම ගිවිසුම මගින් ඉස්ලාමීය නොවන අන්‍ය සමාජවලට ආගම ඇදහීමේ හා විශ්වාස කිරීමේ අයිතිවාසිකම් හිමි කර දී තිබුණි.

මදීනා රාජ්‍යය සියලු දෙනා එකාවන් ව ආරක්ෂා කළ යුතු බව මෙහි දී අවධාරණය කරන ලදි. මෙම ගිවිසුම මගින් මදීනාව තුළ සන්සුන් සහ සාමකාමී වාතාවරණයක් ඇති වූ අතර ම මක්කාවෙන් එල්ල විය හැකි ඕනෑ ම හදිසි ප්‍රහාරයක් වැළැක්වීමේ හැකියාව ද මදීනා රාජ්‍යය සතු ව පැවතියේ ය.

## ගසවාත්

නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන්ට යුධ සටන් ගණනාවකට මුහුණ දීමට සිදු වූ අතර ඒවාට නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් සෘජු ව ම සම්බන්ධ විය. ඒවා "ගසාවත්" ලෙස හැඳින්වේ. මේ සෑම යුද ප්‍රහාරයක දී ම අල්ලාහ්තආලා මුස්ලිම්වරුන්ට උපකාර කොට තම උතුම් ආගම වන ඉස්ලාම් ආගම ආරක්ෂා කළේ ය.

මුහම්මද් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන්ට බද්ර්, උහද්, අහ්සාබ්, කෛබර්, හුනයින් වැනි ඉස්ලාම් විරෝධී යුද්ධවලට මුහුණ දීමට සිදු විය. යුද පිටියේ දී අනුගමනය කළ යුතු යැයි ඉස්ලාමය අණ කළ නීති අනිවාර්යයෙන්ම පිළිපැදිය යුතු යැයි නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන් විසින් තම අනුගාමිකයන්ට අවධාරණය කරන ලදි. මෙසේ යුද පිටියක දී පිළිපැදිය යුතු යැයි නියම කරන ලද නීති අදටත් සියලු දෙනාට ම මහත් පූර්වාදර්ශයක් සපයා ඇති බව සිහි තබා ගත යුතුයි.

- සටන් කළ හැක්කේ, සීමාව ඉක්මවා අසාධාරණකම් කරන්නන් සමඟ පමණි. කිසි විටෙකත් පොදු ජනයාට පහර නොදිය යුතුයි.
- යුද පිටියේදී කාන්තාවන්ට, කුඩා ළමයින්ට, වයෝවෘද්ධයින්ට පහරදීමෙන් වැළකිය යුතු ය.

- ගස්කොළ, එල දරන ගස්, වගා බිම් විනාශ කිරීමෙන් වැළකිය යුතු ය.
- සතුරන් අමානුෂික වද හිංසාවට ලක් කිරීම හෝ අංග විකල කිරීම හෝ පිලිස්සීම හෝ නොකළ යුතු ය.
- ආගමික සිද්ධස්ථාන හෝ ආගමික නායකයන් ඉලක්ක කර ගනිමින් ප්‍රහාර එල්ල කිරීමෙන් වැළකිය යුතු ය.

මෙසේ නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන් විසින් දේශනා කරන ලද යුද නීති ඕනෑ ම කාලයකට අදාළ කර ගත හැකි ඒවා විය. කෙටි කලක දී ඉතා හොඳ සමාජයක් අල්ලාහුතආලාගේ සහායෙන් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා ගොඩනැගීම ඓතිහාසික වාර්තාවකි. මයිකල් එච්. හාර්ට් යන පුද්ගලයා THE HUNDRED යන ග්‍රන්ථයේ ලෝකයේ බලපෑම් කළ අය අතරින් පළමු වැන්නා නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් බව පවසා ඇත.

මුහම්මද් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන් විසින් ජීවිතයේ සෑම අවස්ථාවක දී ම අපට පෙන්වා දෙන ලද පූර්වාදර්ශ ඉගෙන ඒවා අප ජීවිතයේ මාර්ගෝපදේශ බවට පත් කර ගැනීම සෑම මුස්ලිම්වරයෙකුගේ ම වගකීමකි. එවිට අප දෙලොව ම ජය ලබන බව නියත ය.

## අභ්‍යාස

**පහත ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

1. මුහම්මද් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන් යුදෙව්වන් සමග මදීනාවේ දී ඇති කරගත් ගිවිසුම හඳුන්වන්නේ කුමන නමකින් ද?
2. මුහම්මද් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන් සහභාගි වූ යුද්ධ හඳුන්වන පොදු නාමය කුමක් ද? එයින් යුද්ධ තුනක් නම් කරන්න.
3. ඉස්ලාමය විසින් හඳුන්වා දෙන ලද යුද නීති හතරක් දක්වන්න.
4. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන්ගේ මදීනා ජීවිතයෙන් ඔබට ලබා ගත හැකි ආදර්ශ පහක් සඳහන් කරන්න.
5. මදීනා සමාජයේ උදාර ගතිගුණ පහක් ලැයිස්තු ගත කරන්න.

21

# උම්මහාතුල් මුඃමිනීන්

නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ ඉස්ලාමයේ දියුණුව, ඒකදේවවාදය ආරක්‍ෂා කරගැනීම, අසරණයින්ට පිහිටවීම යනාදී කරුණු සඳහා බහු විවාහ සිදුකළහ. මෙසේ නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා විසින් විවාහ කර ගනු ලැබූ එතුමාගේ බිරින්දෑවරු "උම්මහාතුල් මුඃමිනීන්" ලෙස හැඳින්වෙති.

ඉස්ලාමය පිළිගැනීම යන එක ම හේතුව මත සහාබාවරු ඉතා දරුණු හිංසාවලට ලක්වූහ. මෙසේ හිංසාවට ලක්වූවෝ තමන්ගේ ප්‍රාණය, ශරීරය, ගෞරවය, දේපළ, සම්බන්ධකම් අහිමි ව අසරණ තත්ත්වයට පත්වූහ. ඉස්ලාමය ආරක්‍ෂා කර ගැනීමට බද්ර්, උහ්ද් වැනි යුද්ධවලට සහභාගි වූ සහාබාවරුන්ගෙන් ඇතැම් අය ෂහීද් වූහ. මේ නිසා ඔවුන්ගේ බිරින්දෑවරු වැන්දඹු භාවයට පත් වූහ. මේ අයුරින් වැන්දඹු කාන්තාවන්හට නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ නව ජීවිතයක් ලබා දුන්හ. එතුමාණෝ ඔවුනතරින් කිහිප දෙනකු විවාහ කර ගත්හ. මෙසේ එතුමාගේ පිහිට ලැබූ උතුම් මව්වරුන් අතරින් හෆ්සා රළියල්ලාහු අන්හා, උම්මු සල්මා රළියල්ලාහු අන්හා ආදී උම්මහාතුල් මූඃමිනීන්වරුන් ගැන දැන ගනිමු.

## හෆ්සා රළියල්ලාහු අන්හා තුමිය

හෆ්සා රළියල්ලාහු අන්හා තුමියගේ පියා උමර් රළියල්ලාහු අන්හු තුමා වේ. ඇය නුබුව්වතයට වසර 5කට පෙර උපත ලැබුවා ය. ඇයගේ ප්‍රථම සැමියා හානිස් බින් හතබා රළියල්ලාහු අන්හු තුමා වේ. උමර් රළියල්ලාහු අන්හු තුමාණන් ඉස්ලාමය වැළඳගත් විට ඇයගේ පවුලේ සියලු දෙනා ම ඉස්ලාමය වැළඳ ගත්හ. එවිට කුරෛෂිවරුන් එල්ල කළ පීඩිත ක්‍රියා වැළක්වීම සඳහා දෙදෙනා ම අබිසීනියාවට හිජ්රත් කළහ. මදීනා හිජ්රතයට ද මොවුහු දෙදෙනා සහභාගි වූහ.

බද්ර් යුද්ධයට ද සහභාගි වූ හෆ්සා රළියල්ලාහු අන්හා තුමියගේ සැමියා හානිස් තුවාළ ලබා කෙටි කලකට පසු මදීනාවේ දී වෆාත් විය. එවිට හෆ්සා තුමියගේ වසය අවුරුදු 20කි. උමර් රළියල්ලාහු අන්හු තුමා ප්‍රථමයෙන් ම අබූබක්කර් රළියල්ලාහු අන්හු තුමාගෙනුත්, පසු ව උස්මාන් රළියල්ලාහු අන්හු තුමාගෙනුත් තම දියණිය වූ හෆ්සා විවාහ කරගන්නා ලෙස ඉල්ලා සිටියේ ය. දෙදෙනා ම එය පිළිගත්තේ නැත. පසු ව නබි තුමාගෙන් කරන ලද ඉල්ලීම පරිදි හිජ්රි 2වන වර්ෂයේ විවාහය සිදුකෙරුණි.

ආයිෂා රළියල්ලාහු අන්හා තුමියට පසු ව හෆ්සා තුමිය උසස් අධ්‍යාපනයක් හා ආගමික දැනුමක් ඇති තැනැත්තියක් වූවා ය. ලිවීමට, කියවීමට දන්නා මෙතුමියගෙන් කාන්තාවෝ පැමිණ ඉගෙන ගත්හ. 60කට අධික හදීස් ප්‍රමාණයක් හෆ්සා රළියල්ලාහු අන්හා තුමිය විසින් දන්වන ලද ඒවා වේ. ඇය දවල් කාලයේ උපවාසය රැකීමටත්, රාත්‍රියේ දෙවියන් අසලත් කාලය ගත කළා ය. ජනතාව අතර කුල භේද ඇතිවීමට ඇය තදින් විරුද්ධ වූවා ය. අබූබක්කර් රළියල්ලාහු අන්හු තුමාගේ කාලයේ එක්රැස් කළ අල්- කුර්ආනය පසු ව උමර් රළියල්ලාහු අන්හු තුමාගෙන් පසු ව හෆ්සා රළියල්ලාහු අන්හා තුමියගේ භාරයේ තිබුණි. මෙතුමිය තම 63 වැනි වියේ දී මදීනාවේ දී වෆාත් වූවා ය.

## උම්මු සල්මා රළියල්ලාහු අන්හා තුමිය

උම්මු සල්මා මෙතුමිය ගේ අන්වර්ථ නාමය හින්ද් වේ. මෙතුමිය කුරෛෂි වංශිකයෙකි. මෙතුමියගේ පියා අබූ උමෙයා වේ. මෙතුමියගේ පළමු සැමියා අබු සල්මා මක්සූම් රළියල්ලාහු අන්හු ලෙස අමතනු ලැබුණු අබ්දුල්ලා බින් අබ්දුල් අසද් වේ. නබිත්වයේ අරම්භයේ ඇය තම සැමියා සමඟ ඉස්ලාමය පිළිගත්තා ය. ඇබිසීනියා, මදීනා හිජ්රත් සඳහා තම සැමියා සමඟ සහභාගි වූවා ය. මදීනාවට හිජ්රත් කළ කාන්තාවන්ගෙන් ප්‍රථමයා මෙතුමියයි. උහද් යුද්ධයේ ඇති වූ තුවාල හේතුවෙන් සැමියා වන අබු සල්මා රළියල්ලාහු අන්හු අභාවප්‍රාප්ත වූවේ ය.

උම්මු සල්මා රළියල්ලාහු අන්හා තුමිය ඉතා ඉවසිලිවන්තියකි. කන්දක් යුද්ධයේ දීත්, කෛබර් යුද්ධයේ දීත්, ඇගේ සහභාගිත්වය ලැබිණි. හුදෛබියා සටනේ දී කුර්බානයට අදහස් දැක්වූයේ ද මෙතුමියයි. ඇය සතු ව පරිත්‍යාගශීලීබව, දැනුම හා ඥානය පිරිපුන් ව තිබුණි. තාබිඊන්වරුන්ට

ගුරුවරිය ලෙස සිටි මෙතුමිය හදීස් 378ක් දැනුම් දී ඇත. උම්මහාතුල් මුඃමිනීන්වරුන්ගෙන් අවසානයට වෆාත් වූයේ උම්මු සල්මා තුමියයි. මෙතුමිය තම 84 වැනි වියේ දී එනම් හිජ්රි වර්ෂ 63දී වෆාත් වූවා ය.

## අභ්‍යාසය

1. හෆ්සා මව්තුමියගේ පියා --------------------------------වේ.
2. හෆ්සා මව්තුමියගේ සැමියා ---------------- යුද්ධයේ දී තුවාල ලබා ෂහීද් වූයේ ය.
3. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ හෆ්සා මව්තුමිය හිජ්රි----------------------- වර්ෂයේ විවාහ කර ගත්හ.
4. උම්මු සල්මා රළියල්ලාහු අන්හා තුමියගේ පළමු සැමියා ---------- ---------- යුද්ධයේ ෂහීද් වූයේ ය.
5. උම්මු සල්මා රළියල්ලාහු අන්හා තුමිය හුදෛබියා ගිවිසුමේ ---- ---------------- දීමට අදහස් දැක්වූ කෙනෙකි.

# 22

# හසන්, හුසෙන්
## රළියල්ලාහු අන්හුමා

නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන්ගේ දියණිය වන ෆාතිමා රළියල්ලාහු අන්හා තුමියගේ හා බෑනා වන අලි රළියල්ලාහු අන්හු තුමාගේ පූර්ව පුත්‍රයෝ මොවුහු දෙදෙනා ය. මොවුන් ඉපදුණු වහාම එළුවන් දෙදනකු අකීකා දී නබිතුමාණෝ හසන්, හුසෙන් යන නම් තැබූහ. මේ දෙදෙනා කෙරෙහි ම නබිතුමාණෝ දයාවත්, සෙනෙහසත් දැක්වූහ.

නබිතුමාණන් සලාතයේ යෙදී සිටින විට පවා කුඩා වියේ සිටි මොවුහු දෙදෙනා නබිතුමන්ගේ පිටේ නැඟ සෙල්ලම් කළහ. නබිතුමා ද මොවුන් දෙදෙනාට බොහෝ සේ ආදරය කළේ ය. මොවුන්ට දැනුම හා යහගුණාංග නබිතුමන් විසින් ම ලබා දෙන ලදි. මේ දෙදෙනා පිළිබඳ එක් අවස්ථාවක නබිතුමාණෝ, "මේ දෙදෙනා මේ ලොවේ ඇති "රෛයාන් මල් දෙකකි" යනුවෙන් පැවසූහ. තවත් අවස්ථාවක "ස්වර්ගයේ යෞවනයන්ගේ නායකයා" යනුවෙන් ද වර්ණනා කරනු ලැබූහ. "මම මේ දෙදෙනාට ම ප්‍රිය කරමි. නුඹ සැමත් මොවුන් දෙදෙනාට ප්‍රිය කරන්න" යනුවෙන් පවසා ඇත.



# හසන් රළියල්ලාහු අන්හු තුමා

අලි රළියල්ලාහු අන්හු තුමාට හා ෆාතිමා රළියල්ලාහු අන්හා තුමියට දාව උපන් පළමු පුතණුවන් වන්නේ මොහු ය. හිජ්රි 3වන වර්ෂයේ රමලාන් මස මෙතුමා උපත ලැබුවේ ය.

මෙතුමා බොහෝ ඉවසිලිමත් අයකු හා දානපතියෙකු ලෙස ඉස්ලාමීය යහගුණාංගවලින් පරිපූර්ණ ව ජීවත් වූවේ ය. තම පියාණන් වූ අලි රළියල්ලාහු අන්හු තුමාණන් ගෙන් පසු කලීෆා ධූරයට පත්වූයේ මෙතුමා ය. එතුමා මාස 6ක් පමණ කෙටි කාලයක් පාලනයේ නිරත විය. එවිට මුආවියා රළියල්ලාහු අන්හු තුමාණන් පාලනය අත්පත් කර ගැනීමට සේනාවන් සමඟ පැමිණි විට යුද්ධයකට නොගොස් සමාදාන ගිවිසුමක් ඇති කර ගෙන මුආවියා රළියල්ලාහු අන්හු තුමාට පාලනය ලබා දුන්නේ ය. මෙයින් මුස්ලිම්වරු එකමුතු වූහ. හිජ්රි 41 දී සිදු වූ මේ සිදුවීම ඔස්සේ තමන්ගේ මේ පුතාගෙන් මුස්ලිම්වරුන්ගේ දෙකොටසක් අතර එකමුතුකමක් ඇති වේ. යනුවෙන් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන් පැවසූ වදන ස්ථිර ව සිදුවූයේ ය.

එක් අවස්ථාවක පුද්ගලයෙකු තමන්ට දිර්හම් 10,000 රිදී කාසි ලබා දෙන මෙන් අල්ලාහ්ගෙන් ප්‍රාර්ථනා කරමින් සිටින විට එය සවනට වැටුණු හසන් රළියල්ලාහු අන්හු තුමා වහා නිවසට ගොස් දිර්හම් 10,000 රැගෙන විත් ත්‍යාග කළේ ය. එතුමා උදවු පැතූ කෙනෙකුට කිසි විටකත් නැහැ,බැහැ යනුවෙන් පවසා නැත. කෙනකුගේ වත්තක් මිල දී ගත් පසු විකිණූ තැනැත්තාට යළිත් පහසුකම් ලැබී යළිත් එම වත්ත ඉල්ලුවිට එවෙලේ ම ඔහුට එය ලබා දීමේ උතුම් සිතක් තිබෙන කෙනෙකු ලෙස ජීවත්වූවේ ය. මදීනාවේ සිට මක්කාවට සැතපුම් 300ක් පමණ දුරින් ඇවිදිමින් කඃබාව තවාෆ් කරන කෙනෙකු ලෙස ජීවත් වූවේ ය.

මෙතුමා එක් ද්‍රෝහියකු විසින් වස පොවා මරණයට පත් කරනු ලැබිණි. වස පොවන විට ඇති වූ වේදනාව ගැන හසන් රළියල්ලාහු අන්හු තුමන්ගෙන් ඇසූ හුසේන් රළියල්ලාහු අන්හු තුමාණන් තමන්ගේ සහෝදරයාගේ දෑස බලා "ඔබ කාව ද අවිශ්වාස කරන්නේ" යනුවෙන් විමසී ය. එවිට "ඔහු ඇයි අහන්නෙ?" යනුවෙන් විමසී ය. "ඔහු මැරීමට" යනුවෙන් හුසේන් රළියල්ලාහු අන්හු තුමා පැවසී ය. එවිට හසන් රළියල්ලාහු අන්හු තුමා "මා

සිතන අන්දමින් වස පොවපු කෙනා ඔහු නම් අල්ලාහ් ඔහු බලාගනියි.” මම සිතන කෙනා ඔහු නොවේ නම් නිරපරාදේ මා නිසා යමෙකු මරණයට පත්වනු දැකීමට මම අකමැතියි.’ යනුවෙන් පැවසී ය. මෙතුමාණන් හිජ්රි 49 වර්ෂයේ තම 46 වැනි වියේ මදීනාවේ වෆාත් විය.

## හුසෛන් රළියල්ලාහු අන්හු තුමා

අලි රළියල්ලාහු අන්හු තුමාගේ ද, ෆාතිමා රළියල්ලාහු අන්හා තුමියගේ ද පුතණුවන් වන හසන් රළියල්ලාහු අන්හු තුමාගේ සහෝදරයෙකු වන හුසෛන් රළියල්ලාහු අන්හු තුමා හිජ්රි 4 වන වර්ෂයේ ෂහ්බාන් මාසයේ මදීනාවේ උපත ලැබී ය.

හුසෙන් රළියල්ලාහු අන්හු තුමා තම පියාණන් කුබාවට යන තෙක් ම ඔහු සමඟ මදීනාවේ ම සිටියේ ය. ජමල් යුද්ධය, සිෆ්ෆීන් යුද්ධය, නහර්වාන් යුද්ධය යනාදී යුද්ධවලට සහභාගි වූයේ ය.

පියාණන් වූ අලි රළියල්ලාහු අන්හු තුමාණන් ඝාතනය වූ පසු හසන් රළියල්ලාහු අන්හු තුමා සමඟ ම සිටියේ ය. හසන් රළියල්ලාහු අන්හු තුමාණන් කිලාෆතය අත්හැරීමෙන් පසු ඔහු සමඟ මදීනාවට හැරි ගියේ ය. ඉන්පසු ඔහු මක්කාවට ගියේ ය.

එවිට මුආවියා රළියල්ලාහු අන්හු තුමා මරණයට පත් වී තම පුතණුවන් වූ යසීද් රළියල්ලාහු අන්හු කලීෆා ධුරයට පත් වී සිටියේය. ඉරාකය, කූෆා වාසීහූ යසීද්ගේ පාලනයට විරුද්ධ වූහ. මොවුහු හුසෛන් රළියල්ලාහු අන්හු තුමාණන් කලීෆා ධුරයට පත්කිරීමට ගිවිසුමක් ඇතිකර ගන්නා බව පවසා ඉරාකයට පැමිණ පාලනයෙහි නිරත වන ලෙස ඉල්ලා සිටියහ.

මෙම ඉල්ලීම පිළිගත් හුසෛන් රළියල්ලාහු අන්හු තුමා තත්ත්වය පිළිබඳ දැනගැනීමට තමන්ගේ බාප්පාගේ පුතා වන මුස්ලිම් ඉබ්නු අකීල් ඉරාකයට යැව්වේ ය. එහි දී දහස්ගණන් ජනයෝ හුසෛන් රළියල්ලාහු අන්හු තුමා වෙනුවෙන් මුස්ලිම් ඉබ්නු අකීල් වෙත ගිවිසුමක් ඇති කර ගත්හ. යහපත් තත්ත්වයක් කුබා හි පැවැති හෙයින් හුසෛන් රළියල්ලාහු අන්හු තුමාණෝ කුබා දෙසට පැමිණියහ.



මේ අතර කලීෆා යසීද් ගේ ආණ්ඩුකාරයා වන අබ්දුල්ලා ඉබ්නු සියාද් මුස්ලිම් ඉබ්නු අකීල් ඝාතනය කළේ ය. කූෆා දෙසට පැමිණෙමින් සිටින හුසෙයින් රළියල්ලාහු අන්හු තුමාට මේ ප්‍රවෘත්තිය දැනගන්නට ලැබුණි. ඔහු ආපසු හැරීයාමට සූදානම් විය. එවිට මුස්ලිම් ඉබ්නු අකීල්ගේ සහෝදරයන්ගේ බලකිරීම මත නැවත කූෆා දෙසට පැමිණියේ ය.

අබ්දුල්ලාහ් ඉබ්නු සියාද් ආරෝහක සෙබළුන් අශ්වයන් 45 දෙනකු සමග තවත් සෙබළුන් 150 දෙනෙකු උමර් ඉබ්නු සඃද් ගේ නායකත්වයෙන් හුසේන් රළියල්ලාහු අන්හු තුමාට විරුද්ධ ව යුද්ධ කිරීමට පිටත් කළේ ය. මේ කණ්ඩායමට කර්බලා යන ස්ථානයේ දී හුසෙයින් රළියල්ලාහු අන්හු තුමාගේ කණ්ඩායමක් හමු විය.

කර්බලාවෙහි හමුවූ විගස හුසෙයින් රළියල්ලාහු අන්හු තුමාණෝ පහත පරිදි පැවසූහ. උමර් මම නුඹ සමග යුද්ධ කිරිමට නො පැමිණියෙමි. කූෆා වාසීන් දැඩි ලෙස ඉල්ලීම් කර පැමිණියෙමි. මුආවියාට පසු මට ගිවිසුමක් ඇති කළ බව දැන්වූවේ ය. මේ මොහොතේ මුස්ලිම් ඉබ්නු අකිල් ඝාතනය කළ බවත් තත්ත්වය වෙනස් විදියට තිබුණු බවත් දැනගත්තෙමි. එබැවින් මම මදීනාවට ආපසු හැරී යන්නෙමි. නැත්නම් යසීද් සමග බෛඅත් ඇති කර ගන්නෙමි. නැත්නම් ගමේ කොහේ හෝ රැදෙන්නම්.

ඔහු පැවසූ දේ උමර් පිළිගෙන ඉබ්නු සියාද්ට දැන්වූයේ ය. ඉබ්නු සියාද් මේ කිසි දේකට එකග වූයේ නැත. තනි වූ හුසෙයින් රළියල්ලාහු අන්හු තුමාණන් සමග තවත් තරුණයෝ 17 දෙනෙක් කර්බලා යුද්ධ පිටියේ ඝාතනයට ලක්වූහ. හිජ්රි 61 වැනි වර්ෂයේ මුහර්රම් මාසයේ තමන්ගේ 56වැනි වියෙහි හුසෙයින් රළියල්ලාහු අන්හු තුමා ෂහීද් විය. කලීෆා යසීද් හුසෙයින් රළියල්ලාහු අන්හු තුමා ඝාතනය කළ ඉබ්නු සියාද් පිළිබඳ කළකිරීමට

පත්වූ අතර ඉතා වේදනාවෙන් ඔහුට ශාප කළේ ය. පසු ව ඉතිරිව සිටි හුසෙන් රළියල්ලාහු අන්හු තුමාගේ පවුලේ අය තමන්ගේ මාලිගාවේ රඳවා ගෙන ආහාර පාන ලබා දෙමින් උදවු උපකාර කරමින් මදීනාවට යැව්වේ ය.

ඉමාම් හුසෙන් රළියල්ලාහු අන්හු තුමාණන් තමන්ගේ සහෝදර හසන් රළියල්ලාහු අන්හු තුමාණන් සේ ම නොයෙකුත් විට මක්කාවට පයින් ගොස් කඃබාව තවාෆ් කළේ ය . නිශ්ශබ්දතාව, චාම් බව, දුගී බව, එඩිතර බව, සත්‍යවාදී යහගුණාංගවලින් යුත් හුසෙන් රළියල්ලාහු අන්හු තුමාණන්ගේ ජීවිතය තුළ බොහෝ ඉගැන්වීම් තිබේ. ඒවා ඉගෙනීමෙන් නොනැවතී එතුමාගේ යහපත් ගුණාංග පිළිපදිමින් ජීවත් වෙමු.

**අභ්‍යාස**

කෙටි පිළිතුරු ලියන්න.

1. හසන් රළියල්ලාහු තුමාණන්ගේ උපන් දිනය සඳහන් කරන්න.
2. හුසයින් රළියල්ලාහු තුමාණන් ෂහීද් වන විට වයස කීය ද ?
3. හසන්, හුසයින් රළියල්ලාහු අන්හුමා යන දෙදෙනා අතර තිබූ හොඳ ගුණාංග 5ක් ලියන්න.
4. මෙම දෙදෙනා පිළිබඳ නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන් කියූ හදීස් 2ක් සඳහන් කරන්න.

# 23

# සහාබාවරු

අරාබි භාෂාවෙන් සහාබා යනු මිත්‍රයන්, සගයින් යන අරුත් ගෙන දෙයි. මෙය බහු වචන ස්වරූපය වේ. මෙහි ඒක වචන ස්වරූපය සහාබි (මිත්‍රයා, සගයා) යනුවෙන් වේ. ඉස්ලාම් දහම තුළ සහාබාවරු යනු නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ සගයින් යන අරුත ලබා දේ. එමෙන් සහාබාවරයකු ලෙස හැඳින්වීමට පහත සුදුසුකම් තිබිය යුතු යි.

නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ කාලයේ ජීවත් වී, එතුමා සජීවී ව සියැසින් දැක එතුමා විශ්වාස කර අවසානය තෙක් මුස්ලිම්වරයකු ලෙස ජීවත් ව මිය ගිය පුද්ගලයින් සහාබා යනුවෙන් පවසනු ලැබේ. එවැනි පුද්ගලයින් දෙදෙනකු පිළිබඳ පහත සඳහන් වේ.

## බිලාල් ඉබ්නු රබාහ් රළියල්ලාහු අන්හු තුමා

එය වහලුන් සතුන් මෙන් නඩත්තු කළ කාලයකි. එම කාලයේ කඩමණ්ඩිවල වෙළෙඳ භාණ්ඩයක් මෙන් වහලුන් ද විකුණන ලදි. ඔවුහු තම ශ්‍රමයට නිසි පඩියක් හෝ මිනිසුන් ලෙස ගරුත්වයක් හෝ නොලැබූහ. සමාජයේ ද පහත් මිනිසුන් ලෙස සැලකුම් ලැබූහ. ඉස්ලාමයේ ප්‍රවේශයත් සමඟ ඔවුහු ඉස්ලාමය පිළිගත් අතර සමාජයෙහි ද ගරුත්වයක් ලැබූහ. ඉස්ලාමය වර්ධනය කිරීමට නොයෙකුත් ගැටලු හා වේදනා ඉවසීමෙන් දරා ගත් නිසා ඉතිහාසයේ ශ්‍රේෂ්ඨ මිනිසුන් බවට පත් වූහ. බිලාල් ඉබ්නු රබාහ් රළියල්ලාහු අන්හු තුමාත් මෙවැනි ඉතිහාසගත චුවන්ගෙන් කෙනෙකි.

රබාහ් යන වහලාටත්, හමාමා යන අබිසිනියා වහලියටත් ඉපදුණ පුත්‍රයකු වන බිලාල් රළියල්ලාහු අන්හු තුමණෝ වහලකු ලෙස ජීවත් විය. කළු පැහැති කෙට්ටු වකුටු හිස කෙස්, අතිමහත් වූ තොලක් ඇති බිලාල් රළියල්ලාහු අන්හු තුමාණෝ රට ඉඳි කිහිපයක් වෙනුවෙන් මක්කාවෙහි ජුමහ් ගෝත්‍රිකයන්ගේ

ඔටුවන් හා එළුවන් බලා ගත්හ. මෙතුමාගේ හාම්පුතා උමෙයියා ඉබ්නු කලෆ් ය.

නබි මුහම්මද් සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ එකල අරාබි දේශයේ දී විරුද්ධ වූ ප්‍රතිපත්ති බිඳ දමා එයට විරුද්ධ ව ප්‍රචාරක කටයුතු කරගෙන ගියහ. තමාගේ හාම්පුතා හා සේවකයන් නබි තුමාගේ ප්‍රචාරය ගැන කථා කිරීමත් එයට කේන්ති ගැනීමත් බිලාල් රළියල්ලාහු අන්හු තුමාගේ අවධානයට ලක් විය. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ යහ ගුණාංග ගැන බිලාල් රළියල්ලාහු අන්හු තුමා දන සිටියේ ය. ජුමහ් වංශයේ පුද්ගලයන්ගේ නැමදුම් හා විශ්වාස ඔවුන්ගේ ජීවිතවල කිසිදු වෙනසක් කිරීමට සමත් නොවීම හොඳින් තේරුම් ගෙන සිටි බිලාල් රළියල්ලාහු අන්හු තුමාණෝ එම නැමදුම් හා විශ්වාස ප්‍රතික්ෂේප කර නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන්ගේ ඒකදේව වාදය වෙත ආකර්ෂණය වූහ. එක් දවසක් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා වෙත පැමිණි බිලාල් රළියල්ලාහු අන්හු තුමාණෝ කලිමා පවසා ඉස්ලාමය වැලඳ ගත්හ. ඉස්ලාමය වැලඳ ගත් අයගෙන් මෙතුමා 7 වැනි හෝ 8 වැනි ස්ථානය ලබයි.

බිලාල් රළියල්ලාහු අන්හු තුමා ඉස්ලාමය වැලඳ ගත් බව එතුමාගේ හාම්පුතාට ආරංචි විය. එම නිසා තමාගේ වහලා තම දෙවිවරුන් පහත් තත්ත්වයකට පත් කළා යැයි ඉමහත් කේන්තියට පත්විය. ඉස්ලාමය අත්හරින ලෙස ඔහුට බල කළේ ය. බිලාල් රළියල්ලාහු අන්හු තුමා තමන්ගේ ප්‍රතිපත්තිය මත ස්ථිර ව ම සිටියේ ය. දුක් පීඩා ටිකෙන් ටික වැඩි විය. බිලාල් රළියල්ලාහු අන්හු තුමාණන්ට උමෙයියා හා ඔහුගේ ගෝත්‍රිකයෝ දැඩි ලෙස පහර දුන්හ. එතුමාගේ ශරීරයෙන් ලේ ගලන තෙක් පහර දුන්න ද එතුමාණන් සිත වෙනස් කළේ නැත. මධ්‍යහ්න කාලයේ දැඩි අව්රශ්මියේ කාන්තාරයේ වැලි මත නිරුවත් ව උඩුකුරු අතට පෙරළා සෙලවිය නොහැකි විශාල කළු ගලක් ඔහුගේ පපුව මත තැබූහ. ආහාර හා වතුර නොදී හිංසා කළහ. ඒ සැම විට ම "අහදුන්" "අහදුන්" යැයි (අල්ලාහ් එක්කෙනෙකි, අල්ලාහ් එක්කෙනෙකි) යනුවෙන් පැවසූහ.

බිලාල් රළියල්ලාහු අන්හු තුමාගේ ගෙලේ ලණුවක් බැඳ පොඩි ළමයින් ලවා වීදියේ හැම තැන ම ඇදගෙන ගියෝ ය. එතුමාගේ ශරීරයෙන් ලේ වහනය විය. නමුත් ඔහුගේ සිත පර්වතයක් මෙන් දැඩි ව තිබුණි. විවිධාකාර පීඩා සිදුකළත් ප්‍රතික්ෂේපවාදීහු මෙතුමාගේ දැඩි බව දක විස්මයට පත්වූහ.

අවසානයේ දී අබූබක්කර් රළියල්ලාහු අන්හු තුමා දිර්හම් 10ක් දී බිලාල් රළියල්ලාහු අන්හු තුමා නිදහස් කර ගත්තේ ය.

පසු ව බිලාල් රළියල්ලාහු අන්හු තුමාණෝ නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන් සමඟ මදීනාවට හිජ්රත් කර එහි පදිංචි වූහ. සෑම විට ම නබිතුමා සමඟ සිටීම ඔහු ප්‍රිය කළේ ය. සලාතය සඳහා අදාන් කිව යුතු යැයි නීති ගත වූ පසු එම වගකීම බිලාල් රළියල්ලාහු අන්හු තුමාණන් හට බාරදුන්නේ ය. එතුමාගේ මිහිරි කටහඬින් අදාන් පවසා ජනයා නැමදීමට ආරාධනා කළේ ය. ඉස්ලාම් ඉතිහාසයේ මුල් ම මුඅද්දීන් යන ගරු නාමය ඔහුට හිමි වේ.

මක්කා ජයග්‍රහණයෙන් පසු නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා සමඟ මුල් වරට කඃබා තුළට ගිය තුන් දෙනා අතරින් මෙතුමා එක් අයෙකි. බිලාල් රළියල්ලාහු අන්හු තුමාට එහි දී මුල් වතාවට අදාන් කීමේ භාග්‍යය ලැබුණි. අදාන් කියන සෑම අවස්ථාවක ම නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමන් සිහිවන නිසා එතුමාගේ වෆාතයෙන් පසු අදාන් කීම නතර කළේ ය.

තම අවසාන කාලයේ සිරියාවට ගොස් ඉස්ලාමීය ප්‍රචාරක කටයුතුවලට සහභාගි වූ ඔහු සුහ්රා වංශයට අයත් කාන්තාවක වන හින්දුල් කුලානියා යන කාන්තාව විවාහ කර ගත්තේ ය. තම 70 වන වියේ දි හිජ්රි 20 හි ඩමස්කස්හි වෆාත් වී එහිදී ම මිහිදන් කරන ලදි.

## අම්මාර් ඉබ්නු යාසිර් රළියල්ලාහු අන්හු

"යාසිර්ගේ පවුලේ උදවියනි, ඉවසීමෙන් සිටින්න. නිත්‍ය වශයෙන්ම ඔබට දිවුරු ස්ථානය ස්වර්ගය වේ." යැයි නබි තුමාණන් සැනසුම් වදන් හා ශුභාරංචි පැවසූ පවුලේ ඉපදී හැදුණු වැඩුණු කෙනෙකි අම්මාර් ඉබ්නු යාසීර් තුමා.

අම්මාර් තුමාගේ පියා වන යාසීර් රළියල්ලාහු අන්හු තුමන් යෙමන් රාජ්‍යයේ කෙනෙකි. ඔහු කුරෛෂි ගෝත්‍රයට අයත් අබූ හුදෛබා අල් මක්සූම් සමඟ ගිවිසුමක් ඇති කරගෙන මක්කාවෙහි පදිංචි වූවේ ය. මව සුමෛයා රළියල්ලාහු අන්හා තුමිය අබූ හුදෛබාගේ වහල්භාවයේ සිටි තැනැත්තියකි. වහලියක් වූ මවකට ඉපදුණු අම්මාර් රළියල්ලාහු අන්හු තුමා වහලෙකු සේ ජීවත්වූවේ ය. වහලුන් මුහුණ දුන් දුෂ්කරතා සියල්ලට ම මෙතුමා ද මුහුණ දුන්නේ ය.

ඉස්ලාම් මක්කාවේ හඳුන්වාදුන් මුල් අවධියේ ම යාසීර් රළියල්ලාහු අන්හු තුමාගේ පවුලේ අය ඉස්ලාමය වැලඳ ගත්හ. සුමෙයා රළියල්ලාහු අන්හා තුමිය ඉස්ලාමය වැලඳ ගත් අය අතරින් 6 වැනියා වේ. ඉස්ලාමය පිළිගැනීම හේතුවෙන් මුළු පවුලේ ම අය කුරෙෂිවරුන්ගේ හිංසාවට ලක් වූහ. අබූ ජහ්ල්, අම්මාර් රළියල්ලාහු අන්හු තුමාගේ මව සුමෙයා රළියල්ලාහු අන්හා තුමියව ඝාතනය කළේ ය. මෙතුමිය ඉස්ලාමීය ඉතිහාසයේ ෂහීද් වූ පළමු කාන්තාව වේ. මෙතුමාගේ පියා ද කුරෙෂිවරුන් විසින් ම ඝාතනය කරන ලදි.

තම දෙමව්පියන් දෙදෙනා ම කුරෙෂිවරුන් විසින් ෂහීද් කළ අවස්ථාවේ දී පවා අම්මාර් රළියල්ලාහු අන්හු තුමාණෝ ප්‍රතිපත්තියෙහි ස්ථිර ව ම සිටියහ. මේ නිසා මෙතුමාණෝ ඇතැම් දුෂ්කරතාවලට මුහුණ දුන්හ. සමහර විට යකඩ ඇඳුම් අන්දවා රත් වූ අඟුරු මත හිඳුවන ලදි. තවත් විටෙක රත් වූ වැලි පොළොවෙහි නිරුවත් ව හිඳුවන ලදි. එසේ ම ගිනි දමා පුලුස්සන ලදි. රත්කළ යකඩයෙන් පිට පුච්චන ලදි. හුස්ම ගැනිමට අපහසු වන අයුරින් හිස වතුර ඇතුළේ ඔබ්බවා තබන ලදි.

අම්මාර් රළියල්ලාහු අන්හු තුමාගේ මුළු ශරීරයේ ම තුවාල වූ කැලැල් දක්නට ලැබුණි. කුරෙෂිවරු ඒකදේවවාදය අත්හරින ලෙසත් නබි තුමාණන් අපහාසට ලක්කරන ලෙසත් බලකරමින් හිංසා කළහ. වරක් වේදනාව දරා ගත නොහැකි ව කලීමාව ප්‍රතික්ෂේප කරන වචන පැවසූහ. පසු ව තමා විශාල වැරැද්දක් කළ බව වටහාගෙන නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා ළඟට පැමිණ සිදු වූ දෙය පවසා දුක් වූහ. එවිට අම්මාර් රළියල්ලාහු අන්හු තුමා සනසමින් අල්ලාහ් අල්- කුර්ආන් වැකියක් පහළ කළේ ය.

"කවරෙකුගේ සිත ඊමානය තබා නිශ්ශබ්දතාව තබමින් සිටින තත්ත්වයේ බලකිරීමක් කරන්නේ ද ඔහු හැර කවරෙක් ඊමාන් කළ පසු අල්ලාහ්ව ප්‍රතික්ෂේප කරන්නේ ද කවුරුන්ගේ සිත කුෆ්රය කරා විහිදුවා සිටින්නේ ද එවැනි අය මත අල්ලාහ්ගේ කෝපය උදා වේ. තව ද ඔවුන්ට වේදනා ද ඇත." (16:106)

නබි තුමාණන් හිජ්රත් ගිය විට අම්මාර් රළියල්ලාහු අන්හු තුමා ද මදීනාවට පැමිණ පදිංචි වූවේ ය. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ නොයෙක් අවස්ථාවල අම්මාර් රළියල්ලාහු අන්හු තුමාට ප්‍රශංසා කළහ.

"අම්මාර්ගේ දේව විශ්වාසය ඔහුගේ අස්ථිය තුළත් ඇතුළත් වී තිබේ."

තවත් අවස්ථාවක "කවරෙක් අම්මාර්ව කෝප කරන්නේ ද ඔහු අල්ලාහ් ව කෝප කර ගනී" යනුවෙන් පැවසූහ.

කලීෆා අබූබක්කර් රළියල්ලාහු අන්හු තුමාගේ කාලයේ සිදු වූ යමාමා යුද්ධයට ඔහු සහභාගි වූවේ ය. උමර් රළියල්ලාහු අන්හු තුමාගේ කාලයේ කූබාවේ ආණ්ඩුකාරයකු ලෙස පත් වූවේ ය.

උස්මාන් රළියල්ලාහු අන්හු තුමාණන් කැරලිකරුවන් අතින් ඝාතනය වූ අවස්ථාවේ දී මුස්ලිම් සමාජයේ මතභේද දක්නට ලැබුණි. මේ හේතුවෙන් ජමල්, සිෆ්ෆීන් නම් යුද්ධ ඇතිවුණි. අලි රළියල්ලාහු අන්හු තුමා හා, මුආවියා රළියල්ලාහු අන්හු තුමා අතර හිජ්රි 37 දී සිදු වූ සිෆ්ෆීන් යුද්ධයේ දී අම්මාර් රළියල්ලාහු අන්හු තුමාණෝ අලි රළියල්ලාහු අන්හු තුමා වෙනුවෙන් සටන් කර තමන්ගේ 93 වැනි වියේ දී ෂහීද් වූවේ ය. අලි රළියල්ලාහු අන්හු තුමාණන් ජනාසා සලාතය ඉටු කර භූමදානය කරන ලදි.

## අභ්‍යාස

පහත සඳහන් ප්‍රශ්නවවලට පිළිතුරු සපයන්න.

01. සහාබාවරු යනු කවරහු ද ?

02. බිලාල් රළියල්ලාහු අන්හු තුමාගේ දෙමාපියන්ගේ නම් ලියන්න.

03. 'අහදුන් අහදුන් ' යන්නෙහි අරුත ලියන්න.

04. අම්මාර් රළියල්ලාහු අන්හු තුමාණන් කවරකුගේ පාලන කාලයේ දී ආණ්ඩුකාරවරයකු වශයෙන් පත්වී ද ?

05. අම්මාර් රළියල්ලාහු අන්හු තුමාණන් කුමන යුද්ධයේ දී කුමන වයසෙහි ෂහීද් වූයේ ද ?

# 24

# නබි නූහ් අලයිහිස්සලාම් තුමා

ආදම් අලයිහිස්සලාම් තුමාගෙන් පසු ෂීද් අලයිහිස්සලාම් තුමාණෝ නබිවරයෙකු ලෙස පහළ වූහ. එකල ජනයා මේ දෙදෙනා ඉගැන්වූ පරිදි අල්ලාහ් විශ්වාස කළහ. ඔහුගේ අණට කීකරු වී මුස්ලිම්වරු ලෙස ජීවත් වූහ. මෙසේ ජන සමාජයේ ආරම්භයේ සිට ඉස්ලාම් ලොවේ පූර්ණ කාලීන ආගමක් ලෙස පැවතෙයි.

ඔවුන්ට පසු දේව ධර්මය ජනයාට ඉගැන්වීමේ කාර්යය වියතුන් 5 දෙනෙකු විසින් කෙරුණි. අල්- කුර්ආනය තුළ වද්දු, සුවාඋ, යකූසු, යඌකු හා නස්රු යන ආදී නම්වලින් ඔවුහු ආමන්ත්‍රණය කෙරෙති. කාලය ගත වූ පසු ඔවුහු ජනයා ඉදිරියේ ප්‍රසිද්ධියට පත්වූහ. ඔවුහු ගෞරවයට පාත්‍ර වූහ. මේ පඬිවරුන්ගේ මාර්ග උපදේශන පරිදි ජනයා ඉස්ලාමය ස්ථිර ව පිළිපදිමින් ආහ. මේ නිසා ෂෙයිතාන්ට ජනයා නොමඟ යැවීමට නොහැකි විය.

මෙම පඬිවරුන් පස් දෙනා ම මරණයට පත් වූ පසු ගරු කිරීමට පිළිම සකස් කර එයට නැමදුම් කරන ලෙසත් ෂෙයිතාන් එම ජනයන් උසි ගැන්වූවේ ය. එදා සිට ලොව තුළ ෂිර්ක් බිහි විය.

මේ මොහොතේ ජනයා යහමඟ යැවීම සඳහා අල්ලාහ් විසින් නබි නූහ් අලයිහිස්සලාම්තුමා යවන ලදි. මොහු එක දිගට ම අවුරුදු 950ක් ෂිර්ක් වලින් මිදී අල්ලාහ්ට පමණක් නැමදුම් කරන ලෙස එම ජනයාට ආරාධනා කළේ ය. මේ කාර්යය ඔහු රෑ, දවල් නොතකා කළේ ය. තනි පුද්ගලයන් හට රහසිගත ව ඒ ප්‍රවෘත්තිය දන්වන ලදි. ජනයා රැස්වෙන තැන්වල ප්‍රසිද්ධියේ ආරාධනය කළේ ය. නමුත් ඔවුහු ඒ ප්‍රවෘත්තිය තමන්ගේ කනට නො ඇසෙන ලෙස කන් දෙක තම ඇඟිලිවලින් තදින් වසා ගත්හ. නබි නූහ් අලයිහිස්සලාම් තුමා දකින විට තමන්ගේ රෙදිවලින් මුහුණු වසාගත්හ. ඔහුගේ සමාජයේ සුළු ප්‍රමාණයක් විශ්වාස කළේ ය. බිරිඳ මෙන් ම තම පුත්‍රයා ද ඔහු ප්‍රතික්ෂේප කළෝ ය.

නබි නූහ් අලයිහිස්සලාම් දෙවියන් එක්කෙනකු බව පවසමින් සොබාදහමේ ඇති සලකුණු බොහෝ පෙන්වා තමන්ගේ සමහරු සමග තර්ක කළේ ය. ඔවුහු ඔහුට දැඩි ලෙස හිංසා කළහ. ඔහු කියා නිම කළ නොහැකි පීඩාවලට ගොදුරු විය. සත්‍ය මාර්ගය සඳහා කෙසේ ආරාධනා කළත් ඔවුන් විශ්වාස කරන්නේ නැත යනුවෙන් අල්ලාහ් නබි නූහ් අලයිහිස්සලාම් තුමා වෙත දන්වූවේ ය. එසේනම් ඔවුන්හට දඬුවම් කර විනාශ කර දමන ලෙස ඔහු අල්ලාහ්ගෙන් ප්‍රාර්ථනා කළේ ය.

කාෆිර්වරුන් විනාශ කිරීමට එක්තරා ජලගැල්මක් සිදුවන බව අල්ලාහ් ඔහුට දන්වූවේ ය. ඒ මොහොතේ විශ්වාසවන්තයන්ගේ ආරක්ෂාවට එක් නැවක් නිර්මාණය කරන ලෙස අල්ලාහ් ඔහුට අණ කළේ ය. ඒ සඳහා මඟ පෙන්වීමක් ඔහුට දෙන ලදි. කාන්තාරයේ නැවක් නිර්මාණය කිරීමේ ක්‍රියාව දිගු කලක් තිස්සේ සිදු විය. ඒ පසුකර යන කාෆිර්වරු ඔහු උපහාසයට ලක්කළහ. නබි නූහ් අලයිහිස්සලාම් තුමාණෝ එයට "අපි ඔබ දෙස බලා උපහාස කරන දවසක් පැමිණෙයි." යනුවෙන් පිළිතුරු දුන්හ.

දිනක් ළිපක් කැඩී ඒ තුළින් ජලය උතුරා ගලා යන්නට පටන් ගත්තේ ය. ඒ මොහොතේ ස්ත්‍රී පුරුෂ යුගල වශයෙන් සියලුම සතුන් මෙන්ම මුඃමින්වරු, තව ද ඊමාන් තැබූ නූහ් නබිගේ පවුලේ අය ද නැවට නැග ගන්නා ලෙස අල්ලාහ් අණ කළේ ය. මහා ජල ගැල්මක් ඇති විය. විශ්වාසවන්තයෝ "බිස්මිල්ලාහ්" කියා ගමන් කිරීමට පටන් ගත්තෝ ය. ජල ගැල්මෙන් කන්දක් සේ රැල්ලක් මැද නැව පාවුණේ ය. අයිනක එක් තැනක සිටගෙන සිටි පුතණුවන් දෙස බලා නබි නූහ් අලයිහිස්සලාම් "පුතේ, අප සමඟ නැවේ නැඟ ගන්න. කාෆිර්වරුන් සමඟ නොසිටින්න" යනුවෙන් ශබ්ද නඟා පැවසුවේ ය. එවිට මුරණ්ඩුකාර පුතා "මම කන්දක් මත නැග දිවි බේරා ගන්නම්" යනුවෙන් පිළිතුරු දුන්නේ ය.

ඒ ක්ෂණයෙන් විශාල රැල්ලක් පැමිණ ඔහු හා ඔහු සමඟ සිටි අනෙකුත් කාෆිර්වරු ගසාගෙන ගියෝය. ඔවුහු සියලු දෙනා ම ජලයේ ගිලුණෝ ය. ජල ගැල්ම කෙමෙන් අඩුවන්නට පටන් ගත්තේ ය. අහස ජලය වත් නොකර නවතා ගත්තේ ය. පොළොව ජලය වාෂ්ප ලෙස උරා ඇතුළට ගත්තේ ය. ජූදි නම් කන්දේ නැව රැඳුණේ ය.



**ජූදි කන්ද හා නැව ගොඩ ගැසූ ස්ථානය**

මේ මොහොතේ නබි නූහ් අලයිහිස්සලාම් තුමාණන්ට පුතාගේ මතකය ආවේ ය. තමාගේ පවුලේ අය රැක දෙන බවට අල්ලාහ් දුන් පොරොන්දුව ඉටු නොකළ බවට චෝදනා කළේ ය. එයට අල්ලාහ් "ඉස්ලාමය පිළිනොගත් ඔහු නුඹගේ පවුලට අයත් වන්නෙක් නො වේ." යනුවෙන් පැවසුවේ ය. නූහ් නබි අලයිහිස්සලාම් තම චෝදනාව පිළිබඳ කම්පාවට පත් වී ඉස්තිඃෆාර් කළේ ය.

අවසාන වශයෙන් නබි නූහ් අලයිහිස්සලාම් තුමාණෝ, බේරුණු අය (ගැලවුණු අය) අමතා ප්‍රවේශමෙන් නැවතත් ගොඩ බසින ලෙස ඔවුන්ගෙන් ඉල්ලා සිටියහ. පොළොවේ බරකත් ලැබූ නව ජීවිතයක් පටන් ගන්නා ලෙස ඔහු පැවසුවේ ය. එදා සිට එන මිනිස් පරපුර නූහ් නබි අලයිහිස්සලාම් තුමාගෙන් පැවත එන්නකි. මේ නිසා නබි නූහ් අලයිහිස්සලාම්, 'අබුල් බෂර් අස්සානි' (මිනිස් සංහතියේ දෙවෙනි පියා) යන අන්වර්ථ නාමයෙන් අමතන ලදී.

## අභ්‍යාසය

**හරිනම් (හ) ලකුණ ද වැරදි නම්( වැ) ලකුණ ද යොදන්න**

1. ඉස්ලාම් ලොවේ පූර්ණ කාලීන ආගමකි. ( )
2. ආදම් අලයිහිස්සලාම් තුමාගේ කාලයේ සිටම ෂිර්ක් ක්‍රියාව දක්නට ලැබුණි. ( )
3. නබි නූහ් අලයිහිස්සලාම් තුමාගේ පුතණුවන්ගෙන් කෙනකු කාෆිර් විය. ( )
4. මුහුදු වෙරළේ නැවක් තැනීමේ ක්‍රියාව සිදු කළහ. ( )
5. ජල ගැල්මෙන් නූහ් නබිතුමාගේ බිරිඳ ද ගිලී මිය ගියාය. ( )

**කෙටි පිළිතුරු සපයන්න**

1. නබි නූහ් අලයිහිස්සලාම් තුමාගේ විශේෂිත අන්වර්ථ නාමය කුමක්ද?
2. නබි නූහ් අලයිහිස්සලාම් තුමා වසර කීයක් ප්‍රචාරක ක්‍රියාවෙහි යෙදුනේද?
3. නබි නූහ් අලයිහිස්සලාම් තුමාගේ නැව රැඳුණේ කුමන කන්දෙහිද?
4. නබි ෂීද් අලයිහිස්සලාම් තුමාට පසු මහජනතාවට මඟපෙන්වූ වියතුන් කවරහු ද?
5. නබි නූහ් අලයිහිස්සලාම් තුමාණන් ප්‍රචාරයේ නිරතවුණේ කෙසේ ද?

25

# අව්රතය පිළිපදිමු

يٰبَنِىۡۤ اٰدَمَ قَدۡ اَنۡزَلۡنَا عَلَيۡكُمۡ لِبَاسًا يُّوَارِىۡ سَوۡاٰتِكُمۡ وَرِيۡشًا

**"ආදම්ගේ දරුවනේ! නුඹලාගේ විළිය වසා ගැනීමට සහ සිරුර ආරක්ෂා කර ගැනීමට හා අලංකාරයට වස්ත්‍රය අපි නුඹලාට පහළ කළෙමු..." (7:26)**

අප කෙසේ ජීවත් විය යුතු ද යන්න උගන්වනු ලබන ආගම ඉස්ලාම් වේ. මේ ආගමෙහි උපදේශ මිහිරි ය, සරල ය, දායාදයන්ගෙන් පිරිපුන් ය. එපමණක් නොව එය මුළු මිනිස් ජීවිතයට ම සම්පූර්ණ වූ මග පෙන්වීමක් ලබා දෙන්නකි. මුස්ලිම්වරුන් වන අප ඒවා හැකි පමණින් ක්‍රියාවට නැඟීම අප සතු ආගමික වගකීමකි.

ඇඳුම් පැලඳුම් සම්බන්ධයෙන් ඉස්ලාමීය උපදේශ ශ්‍රේෂ්ඨ ය. එය ස්ත්‍රී පුරුෂ දෙපාර්ශ්වයට ම වෙන් වෙන් වශයෙන් ඇඳුම් ඇඳීමේ පිළිවෙත වගකීමක් කොට ඇත . මෙය අව්රත් යනුවෙන් හැඳින්වේ. අනිවාර්යයෙන් වැසිය යුතු කොටස් අව්රත් යන පදයෙන් ගම්‍ය වේ.

මුස්ලිම්වරුන් වන අප ඇඳුම් අඳින විට කරුණු 02ක් පිළිබඳ අවධානය යොමු කළ යුතු ය. පළමු ව අව්රත් පිළිපැදීම හා දෙවැන්න අලංකාර බව ලෙසිනි. අල්ලාහ් අලංකාර ය. අප ද අලංකාර ව සිටීම ඔහු ප්‍රිය කරයි.

"මිනිසුනි, ඔබගේ සිරුර වැසිය හැකි ඇඳුම් හා අලංකාරය නියත වශයෙන් අපි ඔබහට පහළ කරනු ලැබුවෙමු." (7 : 26)

මෙම අල් කුර්ආන් වැකියෙන් ඇඳුම් යනු අව්රතය වසනු ලබන්නක් ලෙසත්, අලංකාර ලෙසත් විය යුතු ය යන කරුණ ඇතුළත් කොට ඇති බව දැකිය හැක.

අව්රතය ස්ත්‍රී පුරුෂ වෙනස අනුව අල්ලාහ් සීමා කරනු ලැබ ඇත. ස්ත්‍රී පුරුෂ ලෙස වෙන් කොට මිනිසා යුගල වශයෙන් අල්ලාහ් මවා ඇත. ඔවුන් දෙපළගේ වෙන් වෙන් වූ අවශ්‍යතා හා හැඟීම් ඔහු වඩා හොඳින් දනී. එම නිසා එම වෙනසට අනුකූල ව එම දෙපළට වෙන් වූ අව්රතය අල්ලාහ් නිර්ණය කර ඇත. අපට අපගේ සිතැඟිවලට අනුකූල වන පරිදි එය නිර්ණය කළ නොහැක.

පිරිමින්ගේ අව්රතය පෙකණියට පහළත්, දණහිසට ඉහළත් අතර පිහිටා ඇත. මෙම කොටස සෑම අවස්ථාවක දී ම ආවරණය කිරීම වාජිබ් වේ. මෙම කොටස් වසනු ලබන ඇඳුම් සිනිඳු වීමෙන් හෝ ශරීරයට ඇලී පවතින්නක් වීමෙන් හෝ අනිවාර්යයෙන් ම වැළකිය යුතු ය. සලාත් කරන විට පෙකණියට කෙළින් ඉණෙහි කොටස් පෙනුණහොත් සලාතය කඩ වෙන බව සැලකිය යුතු ය.

ස්ත්‍රීන්ට අනුව ඔවුන්ගේ මුහුණ, මැණික් කටුව දක්වා දෙඅත් හැර අනෙක් කොටස් අනිවාර්යයෙන් ම වැසිය යුතු ය. මෙම කොටස් වසනු ලබන ඇඳුම් විනිවිද නොපෙනෙන තරමට ඝනකමින් යුත් රෙදි විය යුතු ය. විශාල බවින් හෝ නාස්තියකින් යුක්ත ව හෝ නො විය යුතු ය. ඉහත සඳහන් (7 : 26) අල්කුර්ආන් වැකිය ස්ත්‍රී පුරුෂ දෙපාර්ශ්වයට ම ගැළපෙන මග පෙන්වීමකින් යුක්ත ය. එම වැකියෙහි සඳහන් අංග ස්ත්‍රීන්ගේ ඇඳුම්වල දී ද සැලකිල්ලට ගත යුතු ය.

පිරිමින් ස්ත්‍රී ඇඳුම් ඇඳීමත්, ස්ත්‍රීන් පිරිමි ඇඳුම් ඇඳීමත් ඉස්ලාම් හරාම් කොට ඇත.

සලාත් ඉටු කරන විට පාද වැසීම සම්බන්ධයෙන් ස්ත්‍රීන් සැලකිලිමත් විය යුතු ය. ස්ත්‍රීන් තමන්ගේ සැමියාට අලංකාර ව සිටීම පිණිස අජ්නබිවරුන් නොමැති පරිසරයේ පුරුදු පරිදි සාමාන්‍ය ඇඳුමින් නිවසෙහි විසිය හැක. සැමියාට ආකර්ෂණීය වන පරිදි ස්ත්‍රීන් මරතෝන්ඩි දැමීමත්, ඇස් අලංකාර ව තබා ගැනීමත් නිවෙස් පරිසරයෙහි අනුමත කළ කරුණකි. ස්ත්‍රීන් නිවසින් පිටතට යන විට ශබ්ද ඇසෙන පා සලඹ පැලඳීමෙනුත් තොල් ආලේප කිරීමෙනුත් වැළකිය යුතු ය. "ස්ත්‍රීන්ගේ හඬ උස් නොවූ නිවහන ප්‍රීතිමත් මාළිගයකි." යනුවෙන් සඳහන් කර ඇත.

ස්ත්‍රීන්ට රත්තරන් හා රිදී ආභරණ පැලඳිය හැක. පිරිමින්ට රත්තරන් හා පටරෙදි පැලඳීම තහනම් කොට ඇත. රිදී මුද්දක් පැලඳීමට පිරිමින්ට අවසර ඇත.

අජ්නබි, මහ්රම් මිශ්‍ර නිවෙස් පරිසරයෙහි ඉස්ලාමීය ෂරීඅතයේ විනය සීමා පිළිපදිමින් කටයුතු කළ යුතු අතර සාමාන්‍ය ආකාරයට හැසිරීමෙන් වැළකිය යුතු ය.

කාමරවලට තිර රෙදි දැමීම පිළිගත් කරුණකි. පොදු කටයුතුවල දී පිරිමි වෙන්වත් ස්ත්‍රීන් වෙන්වත් ගැවසීමට හැකි නිවෙස් පරිසරයක් සකසා තිබිය යුතු ය. එය ඉස්ලාමීය මගපෙන්වීමය ය. එමගින් අජ්නබි, මහ්රම් එකිනෙකා හමු වීම වළක්වා ගත හැක.

ස්ත්‍රීන් සාමාන්‍ය ඇඳුමෙන් යුතු ව නිදහසේ සැරිසරන ස්ථානය නිවස වේ. වෙනත් නිවෙස්වලට ඇතුළුවීමේ ක්‍රමවේද ඉස්ලාම් පෙන්වා දී ඇත්තේ එබැවිනි. හිතුමතේ නිවෙස්වලට ඇතුළු විය නොහැක. තෙවරක් දොරට ගසා හෝ සීනුව නාද කොට හෝ මුවින් අමතා අනුමැතිය ලබා ගත යුතු ය. අනුමැතිය නොලැබුණහොත් හෝ නිවසෙහි කවරෙකුවත් නොමැති බව දැන ගත් විට හෝ එම නිවසට අප ඇතුළු නො වී හැරී යාම ගෞරවයක් බව සූරා නූර්හි 28 වැකියෙන් අල්ලාහ්තාආලා දන්වා ඇත . නිවෙස් කරා පැමිණෙන්නන් පිළිගැනීමට හෝ ප්‍රතික්ෂේප කිරීමට නිවැසියන්ට අයිතියක් ඇත .

අනුමැතිය ලැබෙන තෙක් රැඳී සිටින විට නිවසෙහි ඉදිරි සාලයෙහි කෙළින් නො සිට මඳක් ඈත් ව සිටීම ගෞරවයකි. ජනේලයක් තුළින් එබී බැලීම ඉස්ලාම් තදින් ම හෙළා දකී. එසේ එබී බලන්නන්ගේ ඇස්වලට අනින තත්ත්වය ඇති විය හැකි බව හදීස් මඟින් අවධාරණය කරයි. මෙවැනි වාතාවරණයක් ඇති නො වීම පිණිස ජනේලය සඳහා තිර රෙදි දැමීම වැදගත් අංගයකි.

වෙනත් අයෙකුගේ නිවෙස්වලට යා යුත්තේ ගැළපෙන අවස්ථාවල දී ය. ආහාර ගන්නා වේලාවන්හි, නිදා ගන්නා වේලාවන්හි, අමුත්තන් සිටින අවස්ථාවල දී වෙනත් නිවෙස්වලට යෑම වැළැක්වීම ඉස්ලාම් පෙන්වා දෙන යහපත් මග පෙන්වීමකි.

තමන්ගේ නිවෙස තුළ ද පිළිපැදිය යුතු විනයක් ඇත. වැඩිවියට නොපැමිණි දරුවන් දෙමව්පියන්ගේ කාමරයට ඇතුළු වීමට අවස්ථා තුනක දී අනුමැතිය ලබා ගත යුතු බවට සූරා නූර්හි 58 වන වැකියෙහි දක්වා ඇත . සුබ්හ් සලාතයට පෙරත්, දහවල් කාලයේ වැඩිපුර ඇඳුම් ඉවත් කර ඇති වේලාවේත්, ඉෂා සලාතයට පසුවත් මෙම කාල සීමා තුළ දී අනුමැතිය ලබා නිවසෙහි සිටින දෙමව්පියන්ගේ කාමරයට ඇතුළු විය යුතු යයි අල් කුර්ආනය පවසන්නේ ය.

මෙලෙස ඉස්ලාම් පෙන්වනු ලබන යහපත් අනුශාසනා හා (අදබ්) විනය අප නිවසේත් පිළිපදිමු. නිවසෙහි පිළිපැදිය යුතු අචාරතය ද අනුගමනය කරමු. එමගින් අප මනස හා නිවෙස් අධ්‍යාත්මයෙන් බැබළේ. අල්ලාහ්ගේ රහ්මත් හා බරකත් නිවැසියන්ට ද හිමි වේ. නිවැසියන් අතර ආදරය සැනසීම හා සතුට ඇති වේ. මෙමඟින් යහපත් ඉස්ලාමීය පවුලක් බිහි වේ. යහපත් ඉස්ලාමීය පවුල් තුළ රටට අවශ්‍ය යහපත් ප්‍රජාවක් හා ලෝකයා සොයන සත් පුරුෂයන් බිහි වන බව නිසැක ය.

## අභ්‍යාසය

ගැළපෙන වචන යොදා හිස්තැන් පුරවන්න.

1. අව්රත් යනු ශරීරයෙහි ............................ වැසිය යුතු කොටස් වේ.
2. ඇඳුම් අඳින විට අව්රතයක් ............................ සැලකිය යුතු ය.
3. අව්රත් පුරුෂයන්ට ද............................ද වෙන් වෙන් වශයෙන් සීමා නිර්ණය කොට ඇත.
4. පිරිමින්ගේ අව්රතය ............................ සිට දණහිස අතර ප්‍රදේශයයි.
5. ස්ත්‍රීන්ගේ අව්රතය ............................ අත් හැර අනෙකුත් ප්‍රදේශ වැසිය යුතු ය.
6. පිරිමින් ස්ත්‍රීන්ගේ ඇඳුම් හා ස්ත්‍රීන් පිරිමින්ගේ ඇඳුම් ඇඳීම ............................ වේ.
7. මුස්ලිම්වරුන්ගේ ඇඳුම් ඝනකම් රෙදිවලින් ............................ බවින් යුක්ත ව පැවතිය යුතු ය.
8. නිවසින් බැහැර ව යන විට ස්ත්‍රීන් ............................ නගන, ශබ්ද නගන දේවලින් වැළකිය යුතු ය.
9. ............................ අවස්ථාවේ වෙනත් අයගේ නිවෙස්වලට යෑමෙන් වැළකිය යුතු ය.
10. දෙමව්පියන්ගේ කාමරයට ඇතුළු වන විට ............................ ලබා ගත යුතු ය.

26

# ඉස්ලාමීය නිවස

මෙලොව මවා ඇති සෑම ජීවරාශියකටම අල්ලාහ් වෙතින් ලබා දුන් දායාදවලින් ලස්සන නිවස ද එකකි. ආහාර ඇඳුම් සේ ම එකිනෙක ජීවීන් තමන්ගේ වාසස්ථාන ද සොයා ගැනීමේ උත්සාහයේ නිරත වන අයුරු අපි දකින්නෙමු. එසේ ම මනුෂ්‍යයාට අල්ලාහ් වෙතින් ලබා දී ඇති නොයෙකුත් භාග්‍යයන්ගෙන් එකක් සේ සාමකාමී නිවහන ද ඉස්ලාම් දක්වා ඇත.

## ඉස්ලාමීය නිවස සන්සුන් ස්ථානයකි.

ඉස්ලාම්, පවුල් ජීවිතයට ප්‍රමුඛත්වයක් ලබා දේ. එම පවුල නැමැති ඒකකය අලංකාර නිවසක් මගින් සෞඛ්‍ය සම්පන්න ව බිහිවන බව ඉස්ලාමීය මතය වේ. මෙය අල්ලාහ් තමන්ගේ ශුද්ධ වූ ග්‍රන්ථයෙන් අපට පෙන්වා දී ඇත.

අල්ලාහ් ඔබට ඔබගේ නිවහන සංසුන් ස්ථානයක් ලෙස පත්කර ඇත. (16:80)



## අල්ලාහ් ගේ සිතුවිල්ලෙන් ප්‍රබෝධවත් නිවහනක්

මුඃමින්වරයෙකුගේ නිවස දෙවියන් සිහි කිරීමේ නිවහනක් ලෙස තිබිය යුතු ය. එහි අල්- කුර්ආන් (දේව වැකි) පාරායනා කළ යුතුයි. ආගම ඉගැන්විය යුතු ය. "ඔබගේ නිවෙස්වල පාරායනා කරනු ලබන අල්ලාහ්ගේ වදන් ද, සැනසුම ද,මෙනෙහි කරන්න. ඥානවන්ත වදන් ද මතකයේ තබා ගනු. නියත වශයෙන් ම අල්ලාහ් තීක්ෂණ බුද්ධියකින් යුත්තෙකු හා සියල්ල හොඳින් දන්නෙකු වශයෙන් සිටින්නේ ය." අල්- කුර්ආන් (33:34) දෙවියන් සිහි කරන්නාවූ නිවසටත්, දෙවියන් සිහි නො කරන්නාවූ නිවසටත් නබිතුමා දක්වන්නාවූ උපමාව සලකා බලන්න. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ මෙසේ පැවසූහ.

අල්ලාහ් සිහි කර ප්‍රශංසා කරන්නාවූ නිවහනේ තත්ත්වය පණ ඇත්තෙකුගේ තත්ත්වයටත් අල්ලාහ් සිහි කර ප්‍රශංසා නොකළ කෙනෙකුගේ නිවහනේ තත්ත්වය පණ නැති කෙනෙකුගේ තත්ත්වයටත් සමානයැයි. ඔබගේ සමහර සලාතයන් ඔබගේ නිවහනේ ඉටු කරන්න. ඔබගේ නිවහන(කබ්ර්) මිනී වළක් බවට පත් නො කරන්න. (බුහාරි)

අප ජීවතුන් අතර සිටින විට අපගේ නිවහනේ දෙවියන් සිහි කිරීමක් නොකෙරුවේ නම් එහි ධර්ම දේශනා ඉගැන්වූයේ නැත්නම් අපගේ නිවහනත්



කබ්රයත් අතර වෙනසක් නැත. නමුත් එහි වෙනසකට ඇත්තේ කබ්රයේ මරණයට පත්වූ අය සිටින අතර නිවසේ මැරුණු හදවත් ඇති අය සිටීමයි.

"ඔබලගේ නිවසේ සූරා බකරාව පාරායනා කරන්න! කාගේ නිවසේ සූරා බකරාව පාරායනා කරනු ලැබුවේ ද එම නිවසට ෂෙයිතාන් ඇතුළු වෙන්නේ නැත." මෙලෙස නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ පැවසූහ (තබරානි)

## නිවහන නිසසල බවේ අඩිතාලමකි.

"ඔබගේ නිවසේ ඔබට අල්ලාහ් සන්සුන් බව ඇති කළේ ය. ඔබලා ගමනක දී සිටිය දී ඔබලාට පහසුවෙන් රැගෙන යා හැකි කූඩාරම් සතුන්ගේ හම් වලින් ඔහුමයි ඔබලාට සකස් කර දී ඇත්තේ."(16:80) බැටළුවාගේ ලෝම, ඔටුවාගේ ලෝම හා සුදු එළුවාගේ ලෝම යනාදියෙන් භාණ්ඩ හා සැප පහසුකම් යම් කාල පරිච්ඡේදයක් තුළ සැප පහසුකම් (ලබා ගැනීමේ) හැකියාවක් ද ලබා දී ඇත. මේ වැකියේ නිවාස යනු මනුෂ්‍යයාට සැනසුම ආරක්ෂාව හා නිදහස ලබා දෙන්නා වූ ස්ථානයක් ලෙස පැහැදිලි ය.

"තම නිවසේ පුද්ගලයෙක් හිඳ එයින් ඔහුගේ ප්‍රශ්නවලින් ජනතාවත් ජනතාවගේ ප්‍රශ්නවලින් ඔහුත් ආරක්ෂාව ලබන්නේ ද, එවැනි මිනිසා අල්ලාහ්ගේ රැකවරණයේ සිටියි.

## ඉස්ලාමීය නිවස ආශ්‍රිත පරිසරයෙහි පිළිපැදිය යුතු දේවල්

නිවහන ආධ්‍යාපනික ස්ථානයක් ලෙස පවත්වා ගෙන යෑම අත්‍යවශ්‍ය වේ. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ තම බිරින්දෑවරුන්ට නිවසේ දී දහම් අධ්‍යාපනය ලබා දුන්හ. දරුවන්ට ඉස්ලාමීය සිරිත් විරිත් ඉගැන්වූහ. එනම් අපගේ නිවෙස්වලත් අධ්‍යාපනයට දිරිගැන්වීමක් කළ යුතු ය. අල්- කුර්ආන් පාරායනා කිරීම ඉස්ලාමිය පොත් කියවීම සංයුක්ත තැටි හා සඟරා යනාදිය තබා පරිහරණය කරීම වඩාත් යෝග්‍ය වේ.

### නිවසේ දී පිළිපැදිය යුතු කරුණු

1. නිවසට ඇතුළුවීමට පෙර සලාම් පවසන්න. පිළිතුර ලෙස සලාම් ලැබුණහොත් පමණක් ඇතුළට යා යුතුයි.

"විශ්වාසවන්තයිනි, නුඹලාගේ නිවස හැර අන් නිවෙස්වලට ඔවුන්ගේ අවසරය නුඹලාට ලැබෙන තුරු ද එහි වැසියන්ට නුඹලා සලාම් (සාමය)

පතන තුරු ද ඇතුළු නොවනු. මෙය නුඹලාට ඉතා හොඳ ය. නුඹලා (මෙය) මෙනෙහි කළ යුතුයි.” (24:27)

එහි නුඹලා කිසිවෙකු නො දුටුවේ නම් නුඹලාට අවසරය ලැබෙන තුරු ඊට ඇතුළු නොවෙනු. තව ද ආපසු යනුයි නුඹලාට කියනු ලැබුවේ නම් ආපසු යනු. එය නුඹලාට වඩාත් පිවිතුරු ය. නුඹලා කරන දෑ ගැන අල්ලාහ් සර්වඥ ය. (24:28)

නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ කෙනෙකු ගේ නිවසට යන විට තුන්වරක් සලාම් පවසා අනුමැතිය ලබා ගනිති. පිළිතුරු ලැබුණහොත් ඇතුළට යති. නැත්නම් හැරී යති.

2. නිවසට ඇතුළුවන විට

بِسْمِ اللهِ وَلَجْنَا, وَبِسْمِ اللهِ خَرَجْنَا, وَعَلَى اللهِ رَبَّنَا تَوَكَّلْنَا

බිස්මිල්ලාහි වලජ්නා වබිස්මිල්ලාහි කරජ්නා වඅලල්ලාහි රබ්බනා තවක්කල්නා යයි පාරායනය කළ යුතු ය.

3. පවුලේ ඥාතීන් සමග සහෝදරත්වයෙන් කටයුතු කිරීම පරිත්‍යාග ශීලී, දනශීලී බව, ආගන්තුක සත්කාර, තැන්පත් ව කතා බහ කිරීම යන ගුණාංග අනුගමනය කිරීම.

4. බොරුව, ඊර්ෂ්‍යාව, කේලම්, යනාදී ඥාති සම්බන්ධතා බිඳවන නරක ගුණාංගවලින් වැළකී සිටිය යුතු ය.

5. සෑම විට ම නිවස හා අවට පරිසරය, පිරිසිදුව හා අලංකාරවත්ව තබා ගත යුතුයි.

6. නිවසේ පරිහරණය කරන ගෘහ භාණ්ඩ ක්‍රමානුකූල ව පිළිවෙළට හා පිරිසිදුව පවත්වා ගෙන යා යුතු යි.

## අභ්‍යාසය

අ) පහත ප්‍රකාශන හරි නම් √ ලකුණ ද වැරදි නම් × ලකුණ ද යොදන්න.

1. අල්ලාහ්ගේ දයාව නිසා පහසුකම් තිබෙන නිවහනක් ලැබිය හැකි ය. ( )

2. අල්ලාහ් සිහිකරන ස්ථානයක් ලෙස නිවසක් නොතිබිය යුතු ය. ( )

3. නිවසක් මිනීවළක් නොකරන්න යනුවෙන් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ පැවසූහ. ( )

4. නිවසකින් පවුල් ඒකකයට ශාන්තිය උදා වේ. ( )

5. සූරා බකරා පාරායනා කරන නිවසේ ෂෛයිතාන් හා සතුන් ඇතුළු වන්නේ නැත. ( )

6. නිවහන සෑම මැවීමකට ම ආරක්ෂාව සපයයි. ( )

7. නිවසට ආ අමුත්තන්ට ආපසු හැරී යන්න යනුවෙන් පැවසීම ද පුරුද්දක් කර ගත යුතුය. ( )

8. නිවස හා අවට පරිසරය පිරිසිදු ව තබා ගැනීම හොඳ පුරුද්දකි. ( )

ආ) නිවසක් අධ්‍යාපනය ලබන ස්ථානයක් ලෙස වෙනස් කර ගන්නේ කෙසේ ද?

ඇ) නිවස තුළ පිළිපැදිය යුතු සාරධර්ම 5ක් සඳහන් කරන්න.

27

# පොදු දේපළ සුරකිමු

හත් වන ශ්‍රේණියේ සිසුහු ඉස්ලාම් කාල පරිච්ඡේදයේ දී විෂය භාර ගුරු නිස්ෆර් මහතා සමග පාසල් පරිශ්‍රයේ ස්ථානීය ගවේෂණයක් සිදු කළහ. ගුරුවරයාගේ මග පෙන්වීම යටතේ ඔවුහු පාසල් පරිශ්‍රයේ දැකිය හැකි පොදු දේපළ, භෞතික සම්පත් යනාදිය පිළිබඳ ව සටහන් පොතෙහි ලියා ගත්තෝ ය. පාසල් පරිසරය තුළ හත ශ්‍රේණිය සිසුන් සැවොම එකතු වී පරිසරය නිරීක්ෂණය කිරීම පිණිස සංවිධානය කරනු ලැබූ මෙම කෙටි කාලීන ගවේෂණාත්මක චාරිකාව ශිෂ්‍යයන් තුළ මහත් ප්‍රබෝධයක් ඇති කළේ ය. ගවේෂණය අවසානයේ පිට්ටනිය සමීපයේ තිබූ අතු පතර විහිදා වැඩුණු මහා නුග රුක සෙවණේ ගුරුතුමා සමඟින් ශිෂ්‍යයන් අසුන් ගත්තේ ගවේෂණය පිළිබඳ සාකච්ඡා වටය ආරම්භ කිරීම සඳහා ය.

ගුරුතුමා: ශිෂ්‍යයනි, මා මුලින් පැවසූ පරිදි ම පාසල් පරිශ්‍රය තුළ බොහෝ සම්පත් හා දේපළ ඇති බව ඔබ දන්නවා ඇති. ඔබ විසින් ඔබේ සටහන් පොතේ ලියන ලද සමහර පොදු දේපළ හා සම්පත් ගැන කියන්න.

සයියාෆ්: පන්ති කාමර, කාර්යාලය, ක්‍රීඩා පිට්ටනිය, පුස්තකාලය, විද්‍යාගාරය, ගෘහ විද්‍යාගාරය, ගස්වැල්, නළ ළිං, නැමදුම් ස්ථානය, වැසිකිළිය, මේස, පුටු, අල්මාරි, පාඩම් පොත්, ළමා උද්‍යානය

ආකිෆ්: අපේ සටහන් පොතේ ලියා ඇති දේවල් දිහා බලන විට පාසල තුළ මෙතරම් පොදු දේපළ හා සම්පත් තිබේ ද යන්න විමතියට කරුණක්.

ගුරුතුමා: ඔව්, අප පාසල් පරිශ්‍රය තුළත් ඉන් පිටතත් බොහෝ දේපළ දක්නට පුළුවන්. පොදුවේ අප දකින දේපළ පෞද්ගලික හා පොදු දේපළ යනුවෙන් කොටස් දෙකකට බෙදිය හැකියි. පෞද්ගලික දේපළ ගැන සලකන විට ඒවා ආරක්ෂා කිරීම අදාළ

පුද්ගලයන් විසින් සිදු කරනු ලබයි. පොදු දේපළ ගැන සලකන විට එය ආරක්ෂා කිරීම සෑම කෙනකුගේ ම වගකීමකි. පොදු දේපළ යනු පොදු ජනයාගේ යහපත වෙනුවෙන් රජය විසින් හෝ සමාජ සංවිධාන විසින් හෝ නිර්මාණය කරන ලද දේපළ වේ. සමහර පුද්ගලයන් විසින් තම පෞද්ගලික ධනයෙන් නිර්මාණය කොට වක්ෆ් කරන ලද දේපළද ඇතුළු ව අල්ලාහ් විසින් ස්වාභාවික ව ම මනුෂ්‍යයාට දායාද කරන ලද ජලය, ගංගා, මුහුදු වෙරළ, වනාන්තර වැනි දේ ද පොදු දේපළ යනුවෙන් හඳුන්වනු ලැබේ.

නවීද් : එසේ නම් රජය විසින් ඉදි කර ඇති පාසල්
වගේ ම රෝහල්, මහා මාර්ග, දුම්රිය ස්ථාන ආදියත්
මෙයට අන්තර්ගත වනවා නේද?

ගුරුතුමා: මාෂා අල්ලාහ් ! නවීද් පැවසූ දේපළ වගේ ම ඊට අමතර ව බස් නැවතුම් පොළවල්, පොදු වැසිකිළි, පොදු ළිං, පොදු ප්‍රවාහන සේවා පහසුකම්, ගංගා, දිය ඇලි, උද්‍යාන, මුහුදු වෙරළවල්, විශ්වවිද්‍යාල, මස්ජිද, මද්රසා, සොහොන් බිම් ආදියත් පොදු දේපළට අයත් වේ.



ආකිෆ්: මේ සියල්ල ම ආරක්ෂා කිරීම රජයේ වගකීමක් නේද?

ගුරුතුමා: ඔව්.... පොදු දේපළ ඉදි කොට ඒවා ආරක්ෂා කිරීම රජයේ පමණක් නොව, මේ රටේ ජීවත් වන සෑම පුරවැසියෙකුගේම වගකීමක්. එසේ පොදු දේපළ සුරකීම සෑම තනි පුද්ගලයෙකුගේ ම මූලික වගකීමක් බව ඉස්ලාම් දේශනා කර ඇත. ඔබ එකිනෙකා වගකිව යුත්තෙක් වේ. "ඔබේ වගකීම් පිළිබඳ ව අවසාන දිනයේ දී ඔබෙන් විමසනු ලැබේ." යන නබි වදනට අනුකූල ව පොදු දේපළ පරිහරණය කිරීමත් වුවමනාවෙන් රැක බලා ගැනීමත් සම්බන්ධයෙන් අපගෙන් ප්‍රශ්න කරනු ලැබේ, යන හැඟීම නිතර ම අප මනසේ තිබිය යුතු ය. පොදු දේපළ සියල්ල අල්ලාහ් තආලා විසින් අප වෙත ලබා දුන් දායාද බව අප අමතක නොකළ යුතු ය. එවිට ම එය අමානතයක් (පවරන ලද වග කීමක්) ලෙස ගෙන ආරක්ෂා කළ යුතු ය, යන හැඟීම ළමා කාලයේ දී ම අප තුළ ඇති වේ. ඉස්ලාමීය ඉතිහාසය තුළ පොදු දේපළ පරිස්සමින් උවමනාවෙන් පරිපාලනය කිරීමත් වග කීමෙන් යුතු ව පරිහරණය කළ ආකාරයත් පිළිබඳ ව බොහෝ උදාහරණ දැක්විය හැකි ය.

නුස්හා: එසේ නම් එවන් ඉතිහාසගත සිද්ධි අපගේ දැනගැනීම සඳහා පවසන්න.

ගුරුතුමා: එක් අවස්ථාවක දෙවන කලීෆා උමර් රළියල්ලාහු අන්හු තුමා රෝගී ව සිටියේ ය. ඔහුට බෙහෙත් පිණිස මී පැණි අවශ්‍ය විය. විවිධ ස්ථානවල සොයනු ලැබුවත් ස්වල්පයක්වත් ලැබුණේ නැත. නගරයෙන් මිල දී ගැනීමටත් අවශ්‍ය තරම් මුදල් තිබුණේ ද නැත. කලීෆාවරයා සලාත් කර අවසන් වූ පසු තමාගේ අවශ්‍යතාව ජනතාවට පවසනු ලැබුවේ ය. බයිතුල් මාල්හි සිට තම රෝග නිවාරණය පිණිස මී පැණි ස්වල්පයක් ලබා ගැනීමට අනුමැතිය ලබා දෙන මෙන් ජනතාවගෙන් ඉල්ලා සිටියේ ය. මෙය ඇසූ ජනතාව විස්මයට පත් වූහ. ඔවුන්ගේ හදවත් උණු විය. දැක්කා නේද එක් රාජ්‍ය පාලකයෙකුගේ අලංකාර ආදර්ශය. තම ආධිපත්‍යයට අනුව තමන්ට අවශ්‍ය දේ ලබා ගත හැකි වූ නමුත් එය වක්ෆ් කරනු ලැබූ පොදු දේපළ බැවින් එය තම ආත්මාර්ථය වෙනුවෙන් දුෂ්ප්‍රයෝජන කිරීමට හෝ අපහරණය

කිරීමට හෝ වංචා සහගත ව ලබා ගැනීමට හෝ උත්සාහ කළේ නැත. මෙය අපේ ඉතිහාසගත නායකයන් ලබා දුන් පූර්වාදර්ශ වේ.

සිහාන්: මාෂා අල්ලාහ් ! නමුත් අප පාසලේ පොදු දේපළ සමහරක් විනාශ වී ඇති ආකාරයත් නිසි පරිදි නඩත්තු නොකරන ආකාරයත් දකින විට අප හිත් තුළ දුකක් ඇති වේ.

සෙමා: ඔව් සිහාන්, සහෝදරයා පැවසූ දේ නිවැරදියි. අප පාසලේ සමහර පන්ති කාමර තුළ මේස පුටු කැඩී තිබෙන ආකාරයත්, මිදුල පිරිසිදු කර නොමැති ආකාරයත්, වැසිකිළි අපිරිසිදු ව ඇති ආකාරයත් ළිං ආශ්‍රිත ප්‍රදේශයේ තණකොළ වැවී ඇති ආකාරයත් මාගේ අවධානයට ලක් විය.

ගුරුතුමා: අපි අපගේ පාසල් පරිසරයේ ඇති බොහෝ දේපළ පිළිබඳව උගත්තෙමු.

මේවා සෑම එකක් ම අපගේ දැනුම වැඩි කරන මාර්ග නොවේ ද? උදාහරණයක් ලෙස අපගේ විෂයයන්ට අදාළ පෙළ පොත් රජයෙන් නොමිලයේ ලබා දී ඇත . එයට රජය බොහෝ මුදල් වැය කරයි. එම නිසා පොත්වලට හානි නො වන පරිදි, අලංකාර ලෙස ඒවා භාවිත කරන විට අපහට ප්‍රයෝජනවත් අධ්‍යාපනයක් ලැබේ. පාසලේ පොදු දේපළ සියල්ලට ම හානි සිදු වන අයුරු ඔබ පැවසුවේ ය. ඒවා සියල්ල ම ආරක්ෂා කිරීම පාසලේ



පරිපාලකයන්ගේ පමණක් නො ව සෑම ශිෂ්‍යයකුගේ ම වගකීමකි. අප පාසලේ ඇති සම්පත් වලට හානි සිදු කරන විට, හා විනාශ කරන විට එමගින් අපගේ අනාගතය පමණක් නොව, අපගේ සහෝදරවරුන්ගේ සහ පාසලේ අනාගතයට ද හානි සිදු වේ. පොදු දේපළ ආරක්ෂා කිරීම, නිසි පරිදි

නඩත්තු කිරීම යනාදියේ වැදගත්කම නොදන්නා නිසා අප පාසලේ පමණක් නොව අප අවට පරිසරයේ දැකිය හැකි පොදු දේපළටත් හානි සිදු වී ඇති ආකාරය අපි අද දකින්නෙමු.

රවාහා: එසේ නම් අප මග දෙපස හා ගෙමිදුලෙහි කුණු කසළ හැලීම, සමහර විට වාහනවල ගමන් කරන අවස්ථාවන්හි දී කුමන හෝ කෑමක්, බීමක් ගෙන ඒවායේ කසළ වාහන තුළ ම හෝ පාර තොටෙහි, වතුර රැඳෙන තැන්වල විසිකර යෑම ආදී කාර්යයන් පාපකාරී ක්‍රියා නේ ද?

ගුරුතුමා: ඔව්, රවාහා වැදගත් කරුණක් පිළිබඳ ව ඔබ මතක් කළා. අපට ලැබුණු පොදු දේපළ අපි නාස්ති කරන විට අප අල්ලාහ්ගෙන් අමානතයක් ලෙස ලැබුණු වරප්‍රසාද නාස්ති කරන බව වටහා ගත යුතු ය. මෙමගින් පරලොව දී දඬුවමට භාජනය වන අතර ම මෙලොව දී ද එහි ඵල විපාකවලට මුහුණ දීමට සිදු වේ. නබි තුමාණන් විසින් ද පොදු දේපළ අවභාවිත කිරීම, නාස්ති කිරීම, විනාශ කිරීම යනාදී කාර්යයන් තදින් හෙළා දක ඇත .

රහ්මත්: එසේ ආදර්ශයක් ගෙන දෙන සිද්ධියක් පවසන්න.

ගුරුතුමා: ඉබ්නු අබ්බාස් රළියල්ලාහු අන්හු, තමාට උමර් රළියල්ලාහු අන්හු තුමාණන් පැවසූ පහත සඳහන් සිද්ධිය දැනුම් දෙනු ලැබී ය. කෛබර් යුද්ධය සිදු වූ පසු නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන්ගේ මිත්‍රයන්ගෙන් සමහරෙක් එහි පැමිණියහ. ඉහත පරිදි යුද්ධයෙහි මරා දැමුවන් පිළිබඳ ව ඔහු ෂහීද්, මොහු ෂහිද් යනාදිය පිළිබඳ ව ඔවුනතර කතා විය. එක් පුද්ගලයෙකුව (ඔහුගේ ජනාසාව) පසුකර ගිය ඔවුන් මොහුත් ෂහීද් යැයි




පැවසුවේය. එය ඇසූ නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ "ඔබ එසේ නො පවසන්න, ඔහු යුද්ධයේ දී ලැබුණු ගනීමත් ද්‍රව්‍යයන්ගෙන් එකක් වන එක් ඇඳුමක් නැතහොත් උඩුකය ඇඳුමක් හොරකම් කර අවභාවිත කළේ ය. එම ඇඳුම සමඟින් මම ඔහු නිරයේ දැක්කෙමි, යනුවෙන් පවසා, උමර් ඉබ්නු කත්තාබ් තුමනි, ඔබ ගොස් "මුඃමින්වරුන් හැර වෙනත් අයෙකු ස්වර්ගයට පිවිසෙන්නේ නැත." යනුවෙන් ජනතාවට පවසන්න යනුවෙන් පැවසූහ. (මූලාශ්‍රය : සහීහුල් මුස්ලිම්, කිතාබුල් ඊමාන්) මෙහි සඳහන් පරිදි පොදු දේපළවලට හානි සිදු කිරීම දැඩි දඬුවම් ලැබිය හැකි වරදක් බව ඔබට වැටහෙනවා නේද?

රිමාස්: පොදු දේපළ ආරක්ෂා කරනු පිණිස පාසල මගින් කුමන ආකාරයේ වැඩපිළිවෙළක් ආරම්භ කළ හැකි ද?

ගුරුතුමා: පාසල් සිසුන් සියලු දෙනාට ම පොදු දේපළවල වටිනාකම වටහා දිය යුතුයි. ඒවායෙහි අවශ්‍යතාව වටිනාකම දැනගත යුතුයි. ආරක්ෂා කිරීම හා නඩත්තු කිරීම සම්බන්ධ ව මග පෙන්වීම් කළ යුතුයි. පොදු දේපළවලට හානි පමුණුවන ශිෂ්‍යයන් දුටු විට ඔවුන්ට ආදරයෙන් කතා කොට එම වැරදි පෙන්වා දිය යුතු ය. පාසලෙහි පවත්වනු ලබන උදෑසන රැස්වීම, ශිෂ්‍ය සමිති, සාහිත්‍ය සමිති, කලා ප්‍රසංග, දෙමාපිය රැස්වීම් ආදි අවස්ථාවන්හි දී ශිෂ්‍යයින්ට හා දෙමාපියන්ට උපදෙස් දිය යුතුයි. එසේ ම පාසලේ සෑම තැන්හි ම පොදු දේපළෙහි වැදගත්කම දන්වන පුවරු ප්‍රදර්ශනය කළ හැක. සෑම වස්තුවක ම වැදගත්කම සඳහන් කරන අල් කුර්ආන්, අල් හදීස්, උගතුන්ගේ ප්‍රකාශ රජයේ ප්‍රවෘත්ති යනාදි සටහන් කළ පුවරු අදාළ ස්ථානවල





ප්‍රදර්ශනය කිරීමෙන් ශිෂ්‍යයන් තුළ ඒ සම්බන්ධ ව උනන්දුවක් ඇති කළ හැකි ය. අපගේ නිවෙස්වල සිටින්නන් දැනුවත් කිරීම, අසල්වැසියන් මිතුරන් සමග සාකච්ඡා කිරීම, මස්ජිදවල කුත්බා අවස්ථාවන්හි දී පොදු දේපළ පරිහරණය පිළිබඳ ව දේශන පැවැත්වීම ආදී ක්‍රියා පොදු දේපළ ආරක්ෂා කිරීමට අදාළ වැදගත් ක්‍රමෝපායන් ලෙස දැක්විය හැක.

අශ්කර්: මෙවැනි කාර්යයන්වලට සහාය දැක්වීම මගින් අපට කුසල් රැස් කර ගැනීමට හැකි වනවා නොවේ ද?

ගුරුතුමා: ඔව්, ඔබ පැවසූ පරිදි අල්ලාහ්ගේ ආදරය අත්වේ. මුළු සමාජයට ම පිං ලැබේ. පොදු දේපළ ආරක්ෂා කිරීම මහා පුණ්‍ය කර්මයක් වේ. එසේ ම සහෝදර ජනයා අතර යහපත් හැඟීම් සහ සහෝදර බැඳීම් ඇති වීමට ඉඩ ප්‍රස්ථා සැලසේ.

නිහ්මත්: ඔව්, පළමු ව පොදු දේපළ ආරක්ෂා කිරීමේ හා පරිහරණය කටයුතු අපි පන්ති කාමරය තුළින් හා අප පාසලෙන් ආරම්භ කරමු.

ගුරුතුමා: මාෂා අල්ලාහ් ! එය යහපත් ආරම්භයක් වේවා! නියත වශයෙන් ම අල්ලාහ් අපගේ සේවය පිළිගනු ඇත.

## අභ්‍යාසය

1. පොදු දේපළවලින් සමහරක් නම් කරන්න.
2. පොදු දේපළවලට හානි විය හැකි අවස්ථා 4ක් ලියන්න.
3. පොදු දේපළ භාවිතය සම්බන්ධ ව සිදු වූ ඉතිහාසගත සිද්ධියක් ලියන්න.

## ක්‍රියාකාරකම්

1. 'පොදු දේපළ සුරකිමු' යන මාතෘකාව යටතේ රචනයක් ලියන්න.
2. පොදු දේපළ සුරැකීම හා සම්බන්ධ චිත්‍ර, පත්‍රිකා වැනි දෑ නිර්මාණය කර පන්ති කාමරයේ එල්ලා තබන්න.

28

# දේශ හිතෛෂී මුස්ලිම්වරු

ආදරණීය ශිෂ්‍ය ශිෂ්‍යාවනි, දරුවෙකු තමා බිහි කළ මවට අසීමිත ආදරයක්, සෙනෙහසක් දක්වීම ස්වාභාවික ය. ඔහු සැම විට ම තම මව සමග ගෞරවාන්විත ව, හා කීකරු ව හැසිරෙයි. එසේ ම මිනිසා තමා ඉපදුණු රටට ඇලුම් කළ යුතුවේ. මව්බිම යනුවෙන් අමතනු ලබන්නේ ඒ නිසයි. මවට මෙන් ම මව් රට කෙරෙහි ද ඇල්මක් බැඳීමක් දක්විය යුතු ය යන්න මෙහි බලාපොරොත්තුවයි. තම රට වෙනුවෙන් තම ජීවිතය කැපකළ පරිත්‍යාගශීලී කාන්තාවකගේ කතාවක් පහතින් දැක්වේ.

අවුරුදු 300කට පමණ පෙර මහනුවර රාජධානියේ දෙවන රාජසිංහ නැමැති රජතුමෙක් රට පාලනය කළේ ය. ඔහුගේ කාලයේ ලංකාවේ වෙරළබඩ ප්‍රදේශ පෘතුගීසීහු පාලනය කළෝ ය. ඔවුහු යුරෝපයේ සිට පැමිණියහ. ඔවුන් හා රාජසිංහ රජු අතර සටන් ඇවිලිණි. එම සටනෙන් පරාජය වූ රජතුමා පළා ගොස් සැඟවුණේ ය. එය දැනගත් පෘතුගීසි සේනාව ඔහු සොයා ගියෝ ය. රජතුමා ඌව පළාතේ ඇති පංගරගම්මන නැමැති



ගම්මානයට පැමිණියේ ය. එහි තිබුණු විශාල කොස් ගසක් දැක්කේ ය. එහි එක් මිනිසකුට ඇතුළුවිය හැකි පරිදි තිබූ විශාල බෙනයක් තිබුණි. එහි රිංගා ගත් රජු සැඟැවුණේ ය. එම කොස් ගස ආසන්නයේ එක් ගව ගාලක් තිබුණි. මුස්ලිම් කාන්තාවක් එළදෙනෙකුගෙන් කිරි දොවමින් සිටියා ය. ඇය රජතුමා ගස් බෙනයේ සැඟවෙනු දුටුවා ය.

ටික වේලාවක දී රජු පසුපස පන්නාගෙන ආ පෘතුගීසි භටයෝ එතැනට පැමිණියෝ ය. රජු සැණෙකින් අතුරුදන් වීම පිළිබඳ ව කෝපාවිෂ්ඨ වූහ. ඔබ මොබ සෙවූ ඔවුහු අසල කිරි දොවමින් සිටි මුස්ලිම් කාන්තාව දුටුවෝ ය. ඔවුන් ඇය සමීපයට විත් මෙතැනට පැමිණි රාජසිංහ රජු කොහේ ද යනුවෙන් තර්ජනාත්මක ව විමසුවෝ ය.

ඇය බයෙන් වෙවුලන්නට වූවා ය. පැලඳ සිටි සළුවෙන් සිරුර වසා ගන්නට වූ ඇයගෙන් පෘතුගීසි භටයින් නැවතත් තර්ජනාත්මකව විමසුවෝ ය. දුටු බව පවසා රජු පාවා දීමට හෝ නොදුටු බවට බොරු කීමට හෝ ඇය කැමති නොවූවා ය. ඇය නිහඬ ව සිටියා ය. රජු සැඟවී සිටි ස්ථානය ඔවුන්ට සොයාගත නොහැකි විය. පෘතුගීසි භටයන්ගේ මහත් කෝපය ඉහ වහා ගියේ ය. ඉවසීම ඉක්මවා ගිය ඔවුහු අමානුෂික ලෙස ඇය කපා කොටා මරා දැමූහ.

පෘතුගීසි භටයන් එතැනින් නික්ම ගිය පසු රාජසිංහ රජු එළියට පැමිණියේ ය. ලේ විලක් මධ්‍යයේ සිටි එම මුස්ලිම් කාන්තාව දැක විමතියෙන් ඔහු ගල් ගැසුණේය. මා වෙනුවෙන් මැය තම ප්‍රාණය පිදුවා ය, යනුවෙන් දැඩි ශෝකයට පත්විය. ඇය කළ ජීවිත පරිත්‍යාගය දැක මා රැක්ක ලේ, යනුවෙන් පැවසුවේ ය. එම කාන්තාව කළ පරිත්‍යාගය ඔහුට අමතක කරන්නට නොහැකි විය. ටික කාලයකට පසු රාජසිංහ නැවතත් රජ විය. ඇය අනුස්මරණය කිරීම වෙනුවෙන් පංගරගම්මන යන ගම්මානය ඇයගේ ඥාතීන්ට තෑගි කළේ ය.

ආදරණීය දරුවනේ, මෙම ඉතිහාස කතාව දෙස බලන්න. මෙය අසන විට ඇඟ කිළිපොලා යනවා නේද? තම රටේ පාලකයන් විදේශ ආක්‍රමණිකයින්ගෙන් ආරක්ෂා කිරීම පිණිස මුස්ලිම් කාන්තාවක් කළ පරිත්‍යාගයත් දේශහිතෛෂී බවත් දුටුවා ද? රාජ්‍ය පාලකයන් කෙරෙහි දැක්වූ විශ්වාසය ඇය මෙවැනි පරිත්‍යාගයක් කිරීමට පොළඹවන්නට ඇත.

මිනිසකු තම ජාතිය, භාෂාව, සමාජය, තමා ජීවත් වන භූමිය, රට ආදිය කෙරෙහි ඇලුම් කිරීම ඉස්ලාම් අගය කරන්නේ ය. මනුෂ්‍ය ස්වභාවයට සරිලන පරිදි ඉස්ලාමයේ සෑම වගකීමක් හා කාර්යයක් ම පිළිවෙළකට සකසා ඇත.

නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන් තමා ඉපදුණු මක්කා නගරයටත්, ඉස්ලාමීය සමාජය බිහි කළ මදීනා නගරයටත් සැම විට ම ඇලුම් කරන්නෙකු ව සිටියේ ය. මක්කාව හැර මදීනාවට පිටත් ව යනවිට (හිජ්රත්) මක්කාව දෙස බලා දුකින් මෙසේ පැවසුවේ ය.

"මේ පොළොවෙහි ඇති නගර අතරින් ඔබ මා කැමති ම නගරයයි. සත්‍ය වශයෙන් ම මගේ ජනයා මා පිටත් නො කළේ නම් ඔබ නො වන ගමක මම වාසය නො කරමි" (තිරිමිදි)

මක්කාවේ සිට එය අතහැර මදීනාවට පැමිණි නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ සැම විට ම තමා ඉපදුණු ගම පිළිබඳ ව දුකින් පසුවූහ. නමුත් කාලය ගතවීමත් සමඟ මදීනා පිළිබඳ ආදරය ද එතුමන්ගේ සිතෙහි හටගත්තේ ය. තමාහට මදීනාව පිළිබඳ ඇල්මක් ඇති කරන ලෙස අල්ලාහ්ගෙන් පහත පරිදි ප්‍රාර්ථනා කළෝ ය.

යා අල්ලාහ්, මා හට මක්කාව කෙරෙහි කෙතරම් ආදරයක් ඇත්තේ ද එසේ ම මදීනාව කෙරෙහිත් ඇති කරත්වා.! නැතහොත් එයට වඩා වැඩි ආදරයක් ඇති කරත්වා.! (බුහාරි)

තව ද නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන් බිලාල් අල් හබ්ෂි රළියල්ලාහු අන්හු, සල්මාන් අල් ෆාරිසි රළියල්ලාහු අන්හු, සුහෙයිබ් අර්රූමි රළියල්ලාහු අන්හු, හුදෙයිෆතුල් යමානි රළියල්ලාහු අන්හු වැනි වෙනත් රටවල සිට ඉස්ලාමය වැලඳ ගත් නබි මිත්‍රයන්ට ඔවුන්ගේ රටවල නම් සමඟ ම ඇමතීමෙන් නබි තුමාණන් රට පිළිබඳ ඇල්මෙන් ජීවත් විය යුතු ය යන්න අපට උගන්වනවා නොවේ ද?

ආදරණීය සිසු දරුවනි, සත්‍ය දේශ හිතෛෂි බව යනු රටෙහි සිතියම් හෝ භූගෝලීය සැකැස්මට ආදරය කිරීම පමණක් නො ව එම රටෙහි පුරවැසියන්ට ආදරය කිරීම වන්නේ ය. රටෙහි ජනතාවගේ යහපත පණිස තමාට හැකි පරිදි සේවාවන් ඉටු කිරීම, ඔවුන් හා සහජීවනයෙන් ජීවත් වීම, ඔවුන් වෙනුවෙන් ශ්‍රමය කැප කිරීම ආදිය සත්‍ය වූ දේශ හිතෛෂී බවේ සලකුණු වේ.

රටෙහි නිදහස, ආරක්ෂාව, සංවර්ධනය, අධ්‍යාපනය, නිරෝගිකම, සහජීවනය ආදියෙහි වර්ධනයට ආත්මාර්ථකාමිත්වයෙන් තොර ව වෙහෙසීම

වැදගත් වේ. රට අනතුරකට හෝ දුගී බවට හෝ දරිද්‍රතාවට හෝ නාස්තියට හෝ ලක් වීමේ දී රට මුහුණ දෙන ගැටලු විසඳීමට උත්සාහ කිරීමත් දේශ හිතෛෂී බවේ සලකුණකි.

දේශයේ යහපත වෙනුවෙන් මෙරට මුස්ලිම්වරුන් සේවය කළා ය, යන්න ඉතිහාසය මගින් දැනගත හැකි වේ. රටෙහි නිදහස වෙනුවෙන් මුස්ලිම්වරුන් වෙහෙස වී ඇත. සිංහල රජවරුන් සමඟ එක් වී රටෙහි යහපත වෙනුවෙන් මුස්ලිම් ප්‍රජාව සේවය කර ඇත. මන්ත්‍රීවරුන් ලෙසත්, ප්‍රධානීන් ලෙසත්, විදේශික දූතවරුන් ලෙසත්, වෛද්‍යවරුන් ලෙසත්, රජමාළිගාවල සූපවේදීන් ලෙසත්, කටයුතු කර රජවරුන්ගේ ගරු බුහුමන් ලබාගත් ඉතිහාසගත සිද්ධීන්, ඉතිහාසය හා සාහිත්‍ය මූලාශ්‍රයවල සනිටුහන් වී ඇත.

තව ද අප රටෙහි මුස්ලිම්වරුන් තමන්ට හැකි අයුරින් රටේ යහපත වෙනුවෙන් කටයුතු කරන බව ද සඳහන් කළ යුතුයි.

**අභ්‍යාසය**

1. නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ හිජ්රතය සඳහා පිටත්වන විට මක්කා නගරය දෙස බලා කුමක් පැවසුවෝ ද?
2. රටේ නාමය සමඟ තම නම එක්කර සඳහන් කරන සහබාවරු තිදෙනෙකු නම් කරන්න.

**ක්‍රියාකාරකම්**

1. දේශප්‍රේමය යන මාතෘකාව යටතේ පාසල් සඟරාවට ලිපියක් නිර්මාණය කරන්න.